**දයාවංශ ජයකොඩි සහ සමාගම**
101 සහ 112, පූජ්‍ය ඇස්. මහින්ද හිමි මාවත, මරදාන, කොළඹ 10.
දුරකතනය: 695773 / ෆැක්ස්: 696653



ISBN 955 - 551 - 048 - 2

මුද්‍රණය:
**දයාවංශ ජයකොඩි සහ සමාගම - මුද්‍රණ ශිල්පියෝ**
163/4, සිරිධම්ම මාවත, මරදාන, කොළඹ 10.
කාර්යාලය : 101 සහ 112, පූජ්‍ය ඇස්, මහින්ද හිමි මාවත, මරදාන, කොළඹ 10.

සුසුඛං වත ජීවාම
ආතුරේසු අනාතුරා
ආතුරේසු මනුස්සේසු
විහරාම අනාතුරා
(ධම්ම පදය 198)

කෙලෙසුන්ගෙන් ආතුර වූ
මිනිසුන් අතරෙහි
අපි අනාතුරව ජීවත්වෙමු
අපි ආතුරයින් මැද
අනාතුරව වෙසෙමු

මෙම සිව්වන මුද්‍රණය: ශ්‍රී බුද්ධ වර්ෂ 2545 ක් වූ නිකිණි මස පුර ඒකොළොස්වක ලත් බුද දින හෙවත් ක්‍රිස්තු වර්ෂ 2001 අගෝස්තු මස 29 වන බදාද

තෙවන මුද්‍රණය: ශ්‍රී බුද්ධ වර්ෂ 2542 ක් වූ වෙසක් මස පුර පසළොස්වක ලත් සඳු දින හෙවත් ක්‍රිස්තු වර්ෂ 1998 මැයි මස 1 වන සඳුද

දෙවන මුද්‍රණය: ශ්‍රී බුද්ධ වර්ෂ 2538 ක් වූ පොසොන් මස පුර පසළොස්වක ලත් බුද දින හෙවත් ක්‍රිස්තු වර්ෂ 1994 ජුනි මස 22 වන බදාද

ප්‍රථම මුද්‍රණය: 1985

පිටකවර නිර්මාණය:
සාලිය ජයකොඩි

# 1

බටහිර අහසේ හිඳී පැහැගත් වලාකුළු ද මැකී අඳුර පැතිරෙන මොහොතේ, විහාර ගේ වහලය මත වැසූ පරෙවියෝ මොහොතක් නැටුම් නටා, අනතුරු ව තටු හඬවා බිත්තියේ රවුම් සිදුරෙන් ඇතුළට රිංගා ගියහ. කුඩා සුදු පිහාටුවක් පුළඟේ පාවෙමින් සාංඝිධාර කුළුණේ කාක බෝධියේ දලු කොළයක රැඳිණි. විහාර ගේ පිලිමේ ශබ්දයක් ඇතිවි ය. සිරි වවුලෝ වා කවුළු තුළින් එළියට පියැඹූ හ. අනතුරු ව විහාර භූමිය දැඩි ලෙස නිසල වූ අතර, මහ මාවත පැත්තෙන් බල්ලෙකු ගේ බිරුම් හඬක් ද, ඊට විරුද්ධ නැගෙනහිර පැත්තෙන් කුකුළෙකු ගේ හඬ ලැමක් ද ඇසුනේ ය.

අරලිය ගසේ හුන් වඳුරා විටින්විට පඩි පෙළ දෙසට නෙත් දල්වමින් නොඉවසිල්ලෙන් පසුවි ය. පැතිර යන අඳුර අතරින් කහ සිවුර දුටු සතා මඳක් සසල ව, වෙනත් අත්තකට මාරුවෙමින් අරලිය මල් කිණිත්තක් කඩාගන්නේ ය: තෙරණුවන්

ළංවත් ම එය බිම අත හැරියේ ය. මල් කිණිත්ත අතට ගත් රාහුල තෙරණුවෝ හිස ඔසවා බැලූ හ.

බෝධි සිටියේ අත නොගැටෙන උස අත්තක ය. වතාවත් හා ගුණධර්ම මේ වඳුරාට ක්‍රමයෙන් පුරුදු පුහුණු කිරීම රාහුල තෙරණුවන් ගේ අභිලාෂය යි. වඳුරා දැනටමත් තමන් ගැන සැලකිලිමත් වන බව හා තමන් අනුකරණය කිරීමට උනන්දු වන බව උන්වහන්සේට පැහැදිලි වී තිබේ. අවබෝධය හා විශ්වාසය තුළින් බෝධි නම් වූ වඳුරා තමන්ට අවනත කරගත හැකි වෙතැ යි තෙරණුවෝ සිතති.

අරලිය මල් කිණිත්ත දෝතින් ගත් තෙරණුවෝ සෙමින් බෝධිය වෙත ගොස් එය මල් අසුන මත තබා දණ ගසා දොහොත් මුදුන් දී වැඳගත් හ. වඳුරා ගසෙන් බිමට බැස බිම දිගේ ගොස්, බෝ පවුරට පැන උරහිස කසකසා තෙරණුවන් දෙස බලාගත්වන ම සිටියේ ය.

තෙරණුවන් ගේ වන්දනාවට විනාඩි දෙකක් ගතවි ය. බෝධි, තමන් සමීපයේ ම පසුවන බව දැන සිටියත්, ඔහු නුදුටු බවක් හැඟ වූ තෙරණුවෝ විහාර ගෙට ඇතුල් වී කර පොවා බැලූ හ. වඳුරා බෝ පවුර මත නො සිටියේ ය. මල් කිණිත්ත ද මල් අසුන මත නො විය.

සියුම් කලකිරීමක් හටගත් නිසා මොහොතක් නිසොල්මන් ව සිටි රාහුල තෙරණුවෝ දොර ඇර ගිනිකූරක් ගසා පොල් තෙල් පහන දල්වත් ම කිරි වවුලෝ උන්වහන්සේ ගේ ඇඟේ හැපෙමින් හිසට උඩින් පියාඹා ගියහ. විහාර ගේ කොතරම් අලුත් වුවත්, එය වවුලන්ගේ වාසස්ථානයක් බවට පත් වී ඇත්තේ, මිනිස් සුවඳින් එය ඈත්ව පවතින නිසා යයි තෙරණුවෝ සිතති.



සමාධි පිළිම වහන්සේ ඉදිරියේ මල් අසුනේ ඇත්තේ ගත වූ දා සවස තමන් පිදූ අරලිය මල් අට පමණක් බව රාහුල තෙරණුවන්ට දක්නට ලැබිණි. පරමල් අතට ගෙන ඒවා ඉවත දැමීම සඳහා අරලිය ගස මුලට ගිය උන් වහන්සේට පහත ආවාස ගෙයි මිදුලේ හිටවූ මන්ත්‍රී තුමා ගේ මෝටර් රථය ඒ වන විටත් නවතා තිබෙනු රබර් ගස් අස්සෙන් දකගත හැකි විය. මන්ත්‍රී තුමා ඇමතිවරයකු ද වී සිටියේ ය. පන්සලේ නායක තෙරුන් වහන්සේ මේ දේශපාලනඥයා සමඟ දේශපාලනය කරන්නට පටන්ගත් ද සිට හා පන්සල් වත්ත රබර් වත්තක් වූ ද සිට බුදුරජාණන් වහන්සේ වැඩ වසන බුදු කුටිය මනුෂ්‍ය ආශ්‍රයෙන් බොහෝ ඈත් වූ බව රාහුල තෙරණුවන් ගේ අදහස යි.

ඇසෙන ශබ්ද දකින දර්ශන සිත් පාරන සුළු ය. බුදුරජාණන් වහන්සේ ගේ වත කමල දෙස බලා සිත සංසුන් කරගැනීමට සිතූ තෙරණුවෝ දෝතට කඩාගත් අරලිය මල් අට බුදු පාමුල තබා බුදු වත බලාගෙන සිහින් හඬින් තෙපළූ හ. “බුදුරජාණන් වහන්ස, මගේ සිත පෑරේ. ඔබ වහන්සේට මලක් පුදන්නට මා පමණ ද සිටින්නෙ?”

තමා ගේ වචන තමා ගේ ම සිත වෙනත් අයුරකින් පාරනසුළු යයි තෙරණුවන්ට සිතිනි.

“.......... ස්වාමීනි, මේ සිතිවිල්ලෙනුත් පෑරෙන්නේ මගේ සිත යි. ස්වාමීනි, මට මා ගැන කලකිරීමක් නැත. මගේ කලකිරීම සෙසු සියලු දෙනා ගැන ය. ස්වාමීනි, ඔවුන්ට අවබෝධය නැත. ප්‍රඥාව නැත. ඔබ වහන්සේ දේශනා කළ ශ්‍රී සද්ධර්මය අනුව හැසිරීමක් තබා ඒ පිළිබඳ සිතිවිල්ලකුදු නැත. මා පමණක්

ලොව හුදෙකලා වූ අයුරක් දුණේ. ස්වාමීනි, ඔවුහු මබ වහන්සේට පිටුපා දුවන්නෝ ය''

සිත පාරාගත් භික්ෂුව විහාර ගෙයින් නික්ම අඳුරේ ම සාන්ධ්‍යාර කුළුණට පිවිදි හිඳගත්තේ ය. පිමෙන්තිය උඩ වූයේ සුවදයි උණුසුමකි. අඳුර මුළු ප්‍රදේශය ම වසා ගෙන ය. තරු එළිය වැටෙන වේලාව යි.

වයිමන් මහතා ගේ මෝටර් රථය නවමින් පන්සල මිදුලේ ය. එය ඉවත්වනතෙක් පන්සලට යාමට රාහුල තෙරණුවන් ගේ කැමැත්තක් නැත. තමාට පක්ෂපාතවූවන් ඉත්තන් වශයෙන් ගෙන, සෙස්සවුන් සතුරන් වශයෙන් ගන්නා වයිමන් මහතා ගේ අගතිගාමී දේශපාලනය රාහුල තෙරණුවන්ට පිළිකුලකි. 'ගම භේදවෙලා බොහෝ කල්. මේ අපරාධයට මූලිකයා මේ මනුස්සයා. ඇයි අපේ හාමුදුරුවෝ මේ මනුස්සයා අනුමතකරන්නෙ? වෛරය ආවාස ගෙයි ලැගුම්ගන්නා ම කිරි වවුලො විහාර ගෙයි එල්ලෙනවා. මම පොඩි හාමුදුරු නමක්. ඇයි මට තේරෙන දේ මේ ලොකු ඇත්තන්ට නොතේරෙන්නෙ?''

තමන් ගැන නොසොයා අනුන් ගැන සොයමින් තමන් ගේ සිත තමන් විසින් ම පාරාගන්නේ යයි රාහුල තෙරණුවෝ දෙ වනු සිතූ හ. නායක ස්ථවිර කෙලෙසුන් ප්‍රහීන නොකළ පුහුදුන් මනුෂ්‍යයෙකි. දේශපාලනඥයා ද ඒ සේ ය. අනෙකුත් බොහෝ මනුෂ්‍යයින් ද එසේ ම ය. ඔවුන්ට වෛර නොකළ යුතු ය. ඔවුන් ඉවසිය යුතුය. සෙස්සවුන් ඉවසීම මහාත්ම ගුණයකැ යි රාහුල තෙරණුවෝ වැයමින් සිතූ හ.අන්‍යාගමික ශුද්ධස්ථාන, අන්‍යාගමික පූජකවරුන් දුටු පමණකින් මුල් කාලයේ තමන්ට සහළ වූ අරුචි හැඟීම්, පසු ව ක්‍රමයෙන් ඇත් වූ සැටිත්, සියලු ආගම් දෙස උපේක්ෂාවෙන් බලන්ට පසු ව තමන් පුරුදු වූ සැටිත්



උන්වහන්සේට සිහිපත්වි ය. අන්‍යයන් නිසා තම සිත කිළිටිකරගත යුතු නැත.

අන්‍යයන් නිසා නොසතුටට පත් තම සිත සංසුන් කර ගැනිමේ උපායක් වශයෙන් බුද්ධ චරිතය මෙනෙහි කළ තෙරණුවන්ට චුන්ද සූකර ගේ කතා ප්‍රවෘත්තිය සිහිපත්වි ය. ඌරන් මරා මස්කොට විකිණීමෙන් ජීවත් වූ චුන්ද සූකර ගේ නිවෙස පිහිටා තිබුණේ බුදුරජාණන් වහන්සේ බොහෝ කලක් වැඩ වාසය කළ ජේතවනාරාමය අසල ය. ඌරන් ගේ මර හඬ නිතිපතාම වාගේ ජේතවනාරාමයට ඇසිනි. එහෙත් මේ නිසා බුදුරජාණන් වහන්සේ සිත සසලකරගත්තේ නැත. ඔහු පාපයෙන් මුදගැනීමට සුදුසු අවස්ථාවක් නොඑළැඹි නිසා උන් වහන්සේ චුන්ද සූකර හමුවන්නට කල්පනා නොකළ සේක. චුන්ද සූකර රෝගී ව ඔක්පලවනතෙක් දිගින් දිගට ම සත්ත්ව ඝාතනය කළ අතර, බුදුරජාණන් වහන්සේ ජේතවනාරාමයේ වැඩ වාසය කරමින් සෙසු ලෝකයා දුකින් මුදගත් හ.

තමන් ප්‍රිය නොකරන දේශපාලනඥයා ආපසු ගොස් නොතිබුණත්, රෑ බෝ වූ හෙයින් ආපසු යාම මැනවැ යි රාහුල තෙරණුවෝ කල්පනාකළ හ.

වලාකුළු රහිත අහස් තලයේ ලක්ෂ ගණන් තරු පායා තිබේ. ආලෝකය විහිදුවාගෙන ඉතා වේගයෙන් කෝණාකාරව අහස සිසාරා පැමිණි උල්කාපාතයක් සිහින් දුමක් දමමින් හිංගල දෙල් ගස දෙසට පහත්වි ය. චමත්කාරයත් අද්භූතයත් දනවන තිසල අහස් තලය දෙස බලාසිටීම, සජීවි ලෝකය ගැන සිතීමට වඩා ප්‍රියජනක බව, රාහුල තෙරණුවන්ට හැඟිණි. තවදුරටත් ඒ ගැන සිතන්ට උන්වහන්සේට අවස්ථාවක් නූවූයේ, පඩි පෙළ පහළින් කාන්තා කට හඬක් ශ්‍රවනයවීම නිසා ය.

පඩි පෙළ තරණයකොට පැමිණියේ පන්සලේ දායිකාවක වන රංසො නෝනා හා ඇගේ තරුණ දියණියයි. රාහුල තෙරණුවන් හමුවට පළමු ව පැමිණි ස්ත්‍රිය හඳුනාගන්නට වූවා ය. තරුණිය පන් බෑගය පිටුපසට කරගෙන වරක් සිනාසී මෙතෙක් දල්වාගෙනහුන් විදුලි පන්දම නිවාදැම්මා ය. විහාර ගේ ඉදිරියේ දල්වනලද මැටි පහනේ එළිය අරලිය ගස මුලට වැටී ඇත්තේ මඳ වශයෙනි.

"උපාසක අම්මා මල් පහන් පූජාකරන්න ආවා වෙන්නැ?"

"නෑ හාමුදුරුවනේ, ලෙඩ්ඩු ඉන්න ගෙදර මනුස්සයට සෙත් කවියක් කියව ගන්නයි ආවෙ, පන්සලට ඇවිල්ලා පැය බාගයකට වැඩියි. ලොකු හාමුදුරුවෝ වයිමන් මහත්තයත් එක්ක කතාව. බලාඉඳල බලාඉඳල පස්සෙ බැරිම තැන පන්සල පිටුපස්ස පැත්තෙන් ගොහිං පොඩි හාමුදුරුවන්ට කීවා. පොඩි හාමුදුරුවො තමයි කිව්වෙ මය හාමුදුරුවො විහාර ගෙයි ඇත, ඇවිත් කියන්නෙයි කියල. සෙත් කවිය හදාගෙනයි ඇවිත් තියෙන්නෙ හාමුදුරුවනේ....... පුළුවන්නම්......."

"මම කවදාවත් ම සෙත් කවියක් කියෝල නෑ. අනික් කාරණය නායක හාමුදුරුවන්ගෙන් අවසරයක් තියෙන්න ඕනැ........"

තරුණිය අතේ තිබූ විදුලි පන්දම සිය දකුණු කකුලේ මහපොට ඇඟිල්ලට එල්ලකොට බලා, වරක් දෙවරක් අතගා නැඟී සිටියා ය.

"අනේ හාමුදුරුවනේ...... මේ කවිය හත් දෙහක් කියෝගන්න ලැබුණොත් අපේ මනුස්සයා ඇඳෙන් නැගිටියි කියලයි කිව්වෙ ජ්‍යෝතිෂ්කාරයා. මේ සෙත් කවිය ලියෝගන්න දවස්



තුනක්ම ගාටන්න සිද්දවුණා. ඔක්කොම කළුහළමනාන් ගෙනැල්ලයි තියෙන්නෙ. දන්න කෙනෙක් ලව්වා කියෝගන්න එක විතරයි තියෙන්නෙ........"

ලී ඉරන්නෙකු වූ ඇක්මන්ට වැලැඳී ඇත්තේ හදබල වාත අමාරුවක් බව රාහුල තෙරණුවන්ට දැනගන්නට ලැබිණි. අසල ම ඇති අලුත් විහාර ගේ හදද්දී, ඔහු තවත් කෙනෙකු ද සමඟ පැමිණ ලොකු කොස් ගසක් හොමිලයේ ම ඉරාදුන් බව තෙරණුවන්ට මතක ය.

"හොඳයි. කෙනෙකුට යහපතක් වන කටයුත්තක් නිසා දන්නා හැටියට සෙත් කවිය මම කියවන්නම්. ඒක කරන්න නම් පන්සලට ගිහිල්ලා ලොකු හාමුදුරුවන්ගෙන් අවසරයක් ගන්න ඕනැ"

"හොඳයි හාමුදුරුවනේ මම දුවල ගිහිං කියල එන්නම්"

විදුලි පන්දම අතට ගත් රංසොනෝනා බිමට එළිය කරමින් සිය දියණිය නොතකාම ආපසු ගමන්ගත්තා ය. ඇයට සිය දියණියන් සිහිපත් වූයේ පඩි පෙළ අට දහයක් බැස ගියාට පසුව ය. මඳක් නැවතුනු ඕ කතාකළා ය.

"දුවේ සීලවතී, පොඩි හාමුදුරුවන්ට කියල දේවාලෙ දොර ඇරෝගෙන පාන් පත්තු කරල බිම සුද්ද පවිත්‍රකරල තියාපන්. මම දුවල එන්නම්."

නැතිගැන්මක් තරුණියට ඇතිවූවා සේ පෙනිණි. පෙනෙන තෙක් මානයක මනුෂ්‍යයකු නැත.

විදුලි පන්දමේ එළිය පෙනෙනතාක් සීලවතී කතා නොකළා ය; හුන් තැනින් නොසෙලවුනා ය. බිය සැක හැරගත් එකියක

ලෙසින් ඇය කතාකෙළේ එළිය සම්පූර්ණයෙන් නොපෙනී ගියාට පසුව ය.

"දේවාලේ දොර ඇර දෙනවද පොඩි හාමුදුරුවනේ........ දේවාලේ ඇතුළට තනියම යන්න නම් බයයි"

තමා ගේ කෙස් පිඳ තමා මහණ කළ අපවත් වී වදාළ ලොකු හාමුදුරුවන් වහන්සේ එද තමාට කළ අනුශාසනය මේ වේලේ රාහුල තෙරණුවන්ට සිහිපත්වී ය. උන්වහන්සේ රාහුලට මෙසේ කියා තිබිණි. 'හරියට අලුත ගෙට ආ මනාලියක් ලජ්ජාබයෙන් අනුන් ගැන සැලකිල්ලෙන් ඉන්නවා වගෙ පොඩි තැනත් ලජ්ජාබයෙන් අද විතරක් නොවෙයි මහණ දම් පුරණතාක් කල් ඉන්න හිතාගන්නවා හොඳයි. හත් අට දෙනෙක් නිතර ම තමන්ගෙ හැසිරීම පැවතුම දිහා සිහිකල්පනාවෙන් ඇසිපිය නොහෙළා බලාඉන්න වග හිතන්න ඕනැ"

කතරගම් දේවාලය විහාර ගෙට ඈදී පසෙකින් තිබිණි. පොල් තෙල් පහන අතැති ව සිටි සීලවතී, දේවාලයට ඇතුල්වීමට බියෙන් මෙන් වෙවුලයි.

"තිර දමල පහන් පත්තු කරන්න. පුද්ද පවිත්‍රත් මදි"

"මට බයයි හාමුදුරුවනේ........"

"දෙවියන්ට බිය විය යුතු නැ"

"දෙවියන්ට නොවෙයි බය........"

"එසේ නම්........?"

"හාමුදුරුවොයි මායි දේවාලෙ ඇතුලෙ ඉන්නවා කවුරුවත් දක්කොත්?"



තෙරණුවන්ට මදක් කල්පනා කරන්නට සිදුවී ය. තමන් නුදුටු කෝණයක් තරුණිය දක ඇත. ඇය බිය වී සිටින්නේ දෙවියන්ට නොව මිනිසුන්ට ය. "සිත සංසුන් කරගෙන ආ කාරිය කරන්න. මම එළියට යන්නම්"

"අනේ එපා හාමුදුරුවනේ........ එළියට යන්න එපා. මට බයයි" සීලවතී රාහුල හාමුදුරුවන් ගේ මුහුණ කෙළින් බැලුවා ය. අනුරාගයත් බයත් එක්තැන් වූ අවස්ථාවකි, තමන් ගේ සිතත් සසල වූ බව තෙරණුවන්ට හැඟේ.

තරුණියගෙන් ඉවත්වීම මැනවැ යි පළමු ව කල්පනා කළ තෙරනුවෝ, දෙ වනු ව ශ්‍රේෂ්ඨ මහායාන ආචාර්යවරුන් ගේ පත් වරින අධ්‍යයනයෙන් තමන් උගත් පාඩමක් ක්‍රියාත්මක කරන්ට සුදුසු අවස්ථාවක් එළැඹ ඇතැ යි සිතූ හ.

සිත දමනය කරගතයුත්තේ අසත් ආරම්මණයන්ට පිටුපා පැනදිවීමෙන් නොවේ. ඒවා ඒ වේලාවේ ම සිත තුළට රාග වශයෙන් හෝ ද්වේශ වශයෙන් හෝ වැද්ද නොගැනීමෙනි. සකල ක්ලේශයන් ප්‍රහීන කළ අමා මෑණියන් වහන්සේ ගේ වත කමල දුටු මාගන්දියා තරුණියට නුරා හැඟීම් පහළ වූයේ නම්, නව යෞවනයෙහි පසුවන, තමන් හා මෙසේ හුදෙකලාව සිටින මේ සුන්දර තරුණියටත් නුරා හැඟීම් පහළවීම පුදුමයක් නො වේ.

තරුණිය කෙරෙහි රාහුල තෙරණුවන්ට ඇතිවූයේ අනුකම්පාවකි. අනුකම්පා සිත පෙරදැරිව උන්වහන්සේ ඇයට මෙ සේ කීහ.

"සිත සංසුන්කරගෙන පහන් දල්වන්න නැඟණිය. ඒ පහන් දල්වමින් ම සිතින් ප්‍රාර්ථනා කරන්න, දෙවියන් ඉදිරියේ

ආලෝකය පැතිරයන්නා සේ තමාගේ රෝගී පියා ගේ ශරීර සෞඛ්‍යයත් වැඩිවර්ධනය වේවා යි කියා. මනක තබා ගන්න. එක විට එක් කාරණයක් ගැන පමණක් සිතන්න. පියාණන් ගැන ම සිතා පියාණන් ගේ රෝගී තත්ත්වය ගැන ම සිතා ඔහුට සහනය පිණිස පහන් දල්වන්න"

පහන් තිරයේ කෙළවර ඇඟිලි දෙකින් මිරිකා ඇඟිලි අග තැවරුනු තෙල් හිසේ ගාගත් සීලවතී ගිනිකූරක් ගසා පහන දල්වූවා ය.

තරුණිය ගේ මුහුණ තෙරණුවන්ට ඉතා පැහැදිලි ව පෙනේ. එහි මඳ චකිතයක් පමණක් දැන් විද්‍යමාන ය.

සිතිවිලි ගමන් කරන බවත්, රාග සිතිවිල්ලක් තවත් රාග සිතිවිල්ලක් හා ගැටුණු කල ලෙහෙසියෙන් දල්වෙන බවත්, ප්‍රබල විරාගික සිතිවිල්ලකින් රාග සිතිවිල්ලක් මැඩලිය හැකි බවත් රාහුල තෙරණුවෝ දැනසිටිය හ. කවර රළ පහරකට වුව නොසෙල වීය හැකි නොසේදිය හැකි දැඩි ගල් පරයක් ලෙසින් අචල ව අකම්පිත ව සිත පිහිටුවා ගත යුතු ය. එ ලෙස සිත හික්මවිය හැක්කේ දයා කරුණාව අරමුණුකොට ගැනීමෙනි.

"දැන් එළියට ඇවිත් බුදුන් වඳින්න"

"බුදු හාමුදුරුවන්ට පූජාකරන්න මල් නම් ගෙනාවෙ නැ........."

විහාර ගෙට පිට පැත්තෙන් සිහින් අඩි ශබ්දයක් ඇසිනි. බොරලු පෑගෙන හඬකි. ඒ රාත්‍රියට බණ මඩුවේ නිදන බැල්ල විය යුතු යයි රාහුල තෙරණුවෝ සිතූ හ.

රංසො නෝනා ආපසු පැමිණියේ සීලවතී අරලිය මල් කිහිපයක්



කඩා බුදුන්ටත් බෝධියටත් පූජා කිරීමෙන් අනතුරුව ය. සිය මව ළංවීමට පෙර සීලවතී හදිසියේ මෙන් කතාකළා ය.

"මට බලන්න පොතක් දෙනවද හාමුදුරුවනේ. මොකක් හරි පොතක්. බණ පොතක් වුණත් කමක් නැ. පරෙස්සම් කරල බලල ආපසු දෙන්නම්. විභාගෙ ප්‍රතිපල එනකල් නිකම්ම වගෙයි ගෙදර ඉන්නෙ"

"හෙට එනකොට ටිකක් වේලාසනින් ආවොත් දෙන්න පුලුවන්. නිකම් කාලය ගතකරනවාට වඩා, හොඳ පොතක් බලන එක කොහොමටත් හොඳයි"

රංසොනෝනා පැමිණියේ සිනාසෙමිනි. තමා ලොකු හාමුදුරුවන්ගෙන් අවසරය ලබාගත් බව ඕ හඬ නගා කීවා ය.

*　　　*　　　*

නන්දරාම, වයසින් ද පැවිද්දෙන් ද උපසම්පදාවෙන් ද රාහුලට දෙ වැනි ය. එ සේ ද වුවත්, උන්වහන්සේ විහාරාධිපති සෝමාරාම ස්ථවිරයන් ගේ සහෝදරයකු ගේ පුතකු වීම නිසා රාහුල තෙරණුවන්ට වඩා වැඩි බලයක් තිබිණි.

විහාරාධිපතීන් වහන්සේ අවදිව සිටින්නේ රාත්‍රී ප්‍රවෘත්ති ප්‍රචාරය ආරම්භ වන තෙක් පමණි. ප්‍රවෘත්ති සාරාංශය මිස ප්‍රවෘත්ති විස්තරය උන්වහන්සේ දැන් නො අසති.

"වහපන් වහපන් නන්දරාම ඔය පට් පෙට්ටිය!"

ලොකු හාමුදුරුවන් ගේ කැමැත්තට නොව, තමා ගේ කැමැත්තට ගුවන් විදුලි යන්ත්‍රය වැසුවාක් ලෙසින් නන්දරාම කතාකළේ ය. "මර ගී ගයනව ලොකු හාමුදුරුවනේ........."

"අන්න හරි නන්දරාම අන්න හරි! මම තවත් ඇත්තක් කියන්නම්. පළගැටියා කුප්පි ලාම්පුව දක්කාම ඌට ඒක පේන්නෙ දිව්‍ය ලෝකෙ වගෙ. දල්ල වටේ ඌ පස්වණක් ප්‍රීතියෙන් රවුම්ගහනවා. රවුම්ගහල එක පාරට දල්ල අස්සෙන් රිංගනවා. නන්දරාම දන්නවා නොවැ වෙන දේ. උන්දැත් පාන්දල්ල අතරින් ලුහුදීම රිංගනවා කියල හිතාගන්නවා හොඳයි. දෙමෙල්ලුන්ට කන් අදින අපමන්ජාතියා! දක්කද පත්තරේ කියල තියෙනවා, දුටුගැමුණු රජ්ජුරුවො දෙමෙල්ලුන්ට කළ වැඩේ හරි නැතිලු. මයෙ රුධිර මාංසෙ නටන්නෙ ඔන්න ඕවා ඇහෙන කොට තමයි!"

සෝමාරාම ස්ථවිරයෝ ක්‍රෝධියෙන් පිපිරෙමින් ඇඳේ පෙරළුනෝ ය. උන්වහන්සේ කෙතරම් වේගයෙන් කොට්ටය ගසා දැමූවෝ ද යත්: ඒ ශබ්දයට බණ මඩුවේ හුන් බැල්ල බුරන්නට වූවා ය.

රාහුලට විරුද්ධ ව ගතු කේලම් කියන්ට මේ ඉතා හොඳ වේලාව යයි නන්දරාම සිතුවේ ය.

"අවසර ලොකු හාමුදුරුවනේ....... රාහුල ගැන වචනයක් කියන්න තියෙනවා"

"කවුද අපේ රාහුල ද?"

"එහෙමයි"



"ඔව්. මොකක්ද කිව්ව නම් බලන්න"

"ලෝකෙටම බෝධිසත්වකම් පෙන්වන රාහුලගෙ හැටි මම අද දැනගත්තා"

"ඔව්. මොකක් ද?"

"අර උපාසක අම්මයි එයාගෙ දුයි සෙත් කවියක් කියෝගන්න ආවනෙ........."

"ඔව්. මම දන්නවා. ඒ ගෑනු කෙනාට මමයි කිව්වෙ රාහුලට කියල සෙත් කවිය කියෝගන්න කියල. ගෑනු ළමය රාහුලත් එක්ක තනිකරල ආව කියල මම දෙප් කියලත් ඇති........"

"මට සැක සිතුනු නිසා මාත් ගියා. ගිහිං දේවාලෙ පිටපැත්තෙ අහගෙන උන්නා"

සෝමාරාම ස්ථවිරයන්ට යහනෙහි රැඳී සිටිය නො හැකි විය: ඇහි බැම උඩට නගාගන්වන ම ඇඳෙන් නැගිට සිවුර උනාදමන්ට මෙන් තැත්කළ හ. "ඔව්, ඉතිං......... මම හිතුවා"

"අනේ ලොකු හාමුදුරුවනේ මං කිව්වාය කියල අහන්න එපා. හිතේ තියාගත්තාම ඇති"

"පොඩි තැන හිටින්නකො. ඒක මගෙ වැඩක්. හංගන්නෙ නැතිව දන්න විදියට කියනවා හොඳයි"

"දෙන්න දේවාලෙ ඇතුළෙ.........." නන්දරාම කතා කරන්නේ ලොකු හාමුදුරුවන්ගේ මුහුණ කෙළින් බලා ගෙන නොවේ. හේ වම් කකුලේ මහපොට ඇඟිල්ල මේස කකුලට තදකරගෙන සිටියේ ය. "දේවාලෙ ඇතුළෙ සිද්ද වෙන දේ බලන්න ගියා නම් මාව පේනවා. මම හිටියෙ බිත්තියට පිට පැත්තෙ. කතාකරන වචන ඇහුනෙ බොහොම හෙමින්"

"ඇහිච්ච හරිය කියනවා හොඳයි"

"මට බයයි කියල ගෑනු ළමය කිව්වා. බයවෙන්න එපා කියල රාහුල කිව්වා. දෙයියන්ට නෙමෙයි බය කියල ගෑනු ළමය ආයිත් කිව්වා. කාටද එහෙනම් බය කියල එතකොට ඇහුවා. කවුරුවත් දක්කොත් ඒකටයි බය කියල ගෑනු ළමයා කිව්වා. ඊට පස්සෙ හෙමින් හෙමින් කතාකරනවා ඇහුනා. මට තේරුණේ නෑ. ගෑනු ළමයට මල් පූජාකරන්න හිතුනෙ ඊට පස්සෙ. රාහුල මල් අත්ත පාත්කරගෙන හිටියා. ගෑනු ළමයා මල් කැඩුවා"

* * *

නින්දට යාමට පෙර නායක ස්ථවිරයන්ට පසඟ පිහිටුවා වැඳීම රාහුල තෙරණුවන් ගේ සිරිතයි. මේ පුරුද්ද පැවිදි බිමට බට තැන් සිට උන්වහන්සෙ අතින් නිතිපතා ම කෙරිණි. වැළකුනා නම්, ඒ දෙදෙනාගෙන් කෙනෙක් පන්සලේ නැති දවසක ය. මේ උතුම් පැවතුම නිසා වැඩිහිටි භික්ෂූන් ලාබාල නවක භික්ෂූන් කෙරෙහි අසත් හැඟීම් ඇතිකර නොගන්නා බවත්, දරු පෙමකට සමාන හැඟීමක් පහළකරගන්නා බවත් අපවත්වී වදළ ධම්මාරාම නායක ස්ථවිරයන් වහන්සේ රාහුලට අනුශාසනය කර තිබුණේ ය. තමන්ට පමණක් නොව, එද පන්සලේ දෙ වැනියා ව සිටි සෝමාරාම තෙරණුවන්ට ද නින්දට යාමට පෙර වැඳ නමස්කාරය කරන ලෙස උන්වහන්සේ අවවාද කර තිබිණි. "හොඳයි, හොඳයි බොහොම හොඳයි.



පොඩි උන්නාන්සේ සිල්වත්ව ගුණගරුකව ජීවත්වෙන්න ඕනැ. හොඳට ඉගෙනගන්න ඕනැ. හොඳයි. පුවපත් වේවා" මේ එද ධම්මාරාම ස්ථවිරයන් රාහුල තෙරණුවන්ට ආශිර්වාද කළ හැටි යි.

ඔරලෝසුවේ නවය හමාර විදින විට පුටුවෙන් නැගිට සිවුරු පොට සකස්කොට ගත් රාහුල තෙරණුවෝ අඩවන් කළ දෙරින් නායක ස්ථවිරයන්ගෙ කාමරයට ඇතුල්වූ හ. අත් දෙක ම හිස යටින් තබාගෙන නායක ස්ථවිරයන් බර කල්පනාවක යෙදී සිටින සැටි දුටු නමුත්, පුරුදු චාරිත්‍රය පසුවට කල් තැබීමේ අවශ්‍යතාවක් රාහුල තෙරණුවන්ට නොපෙනිණි. නායක ස්ථවිරයන්ගේ මෙ වැනි පැවතුම් රාහුලට පුරුදු ය.

"අවසර" යනුවෙන් කියා දණ ගසත් ම යහන ගැස්සිනි. මුළු ආවාස ගෙට ම ඇසෙන උස් හඩක් නැගිණි.

"තමුසෙගෙ වැඳුම එපා! මගෙ දෑහෙට නොපෙනි යනවා හොඳ හිතිං!"

රාහුල තෙරණුවෝ හිස ඔබාගත්වන ම සිටිය හ.

"පාපිෂ්ඨයා! වනචරයා! මගෙන් පා පහර නොකා නැගිටපිය!"

රාහුල තෙරණුවෝ නවාගත් දෙ දණ දිග නො හැර උඩුකය පමණක් ඔසවාගත් හ.

"අවසර ලොකු හාමුදුරුවනේ ......... දන හෝ නොදන හෝ මගෙන් යම් වරදක් වුවා නම් සමාවුව මැනැවි. ඔබ වහන්සේට වරදක් වූ බවක් මම දන්නෙ නෑ. නොදන හෝ වරදක් මගෙන් වුයේ නම්, නැවත එවැන්නක් නො කරනු සඳහා කියනු මැනැවි"

ගලකට මුලකට පහර ගසා පා රිදවාගත් කලෙක මෙන් සෝමාරාම ස්ථවිරයෝ මඳක් පසුබාගිය හ. තමන්ට වඩා ගුණවත් මේ සත්පුරුෂයාට තමන් නින්ද පරිභව කෙළේ අස්ථානයේ ද යන සැකය උන් වහන්සේට ඊළඟට ඇතිවි ය. නන්දරාම, රාහුලට ද්වේශ කරන බව සෝමාරාම ස්ථවිරයන්ට සිහිපත්වෙ යි.

"නැගිටිනවා නැගිටිනවා. නැගිටලා මං අහන එකට උත්තර දෙනවා........"

රාහුල නැගිට එකත්පස් ව සිටියේ ය. උන් වහන්සේ ගේ සාන්තදාන්ත ස්වභාවය නායක ස්ථවිරයන් ගේ කෝපය තව්දුරටත් යටපත් වීමට හේතුවි ය.

නන්දරාම, දෙර රෙද්දට මුවා වී සංවාදයට සවන් දෙයි. රාහුලට නැති නැතිගැන්මක් හා බියක් නන්දරාමට ඇති ව තිබේ. බියට හේතුව තමා කළ වරද තමා පසුපස හඹා එති යි යන සැකය යි. නැති ගැන්මට හේතුව වරදෙහි ආදීනව ඕහු ගේ ම යටි සිත විසින් ඔහුට පහදදෙනු ලැබීම යි.

"අර ගෑනු ළමයත් එක්ක දේවාලේ ඇතුලෙ තමුසෙ මොකක් ද කෙළේ?"

තමන් සැකකළා හරි යයි රාහුල තෙරණුවන්ට සිතිනි. ඒ චෝදනාව ඉදිරිපත් කර ඇත්තේ කවුරුන් විසින් ද කියාත් සිතාගත හැකි යි. එහෙත් කෝපවීමට හෝ ඉක්මන්වීමට හෝ නැත් නොකළ තෙරණුවෝ ප්‍රකෘත්ති ස්වභාවයෙන් ම කතා කළහ. "සිද්ධිය මුල සිට ඇති සැටියේ කියන්න අවසර ලොකු හාමුදුරුවනේ........?"

"ඕනැ නැ. මට ඕනැ කරන්නෙ ඒ ගෑනු ළමයත් එක්ක තමා



නරක විදියෙ සම්බන්ධයක් ඇතිකරගත්තා ද කියන එකයි"

"නැ. විහාර ගේ ඉදිරියේ දල්වුනු මැටි පහනත් රැගෙන දේවාලයට ගිහිං දේවාලෙ දොර ඇරියෙ මමයි. ගෑනු ළමයා ඇතුළට එන්න බයවුණා. දෙවියන්ට බිය නොවී ඇතුළට ගොස් පහන දල්වන්න කියා ඉල්ලුවා. දෙවියන්ට බය නැති බව ගෑනු ළමයා කිව්වා. මම ඇහුවා කාට ද එසේ නම් බය කියා. ගෑනු ළමයා කීවා මමයි ගෑනු ළමයයි දේවාලය ඇතුළෙ ඉන්නවා කවුරු නමුත් දුටුවොත් ඒකටයි බය වෙන්නෙ කියා. මම ඉවතට යන්නම් කියා කීවාම මට ඉවතට යන්න එපාය කියල ගෑනු ළමයා කිව්වා. මම දොරටුව ළඟ සිටිය දී ගෑනු ළමයා තිරය දල පිත්තල පහන පත්තු කළා. දේවාලය ඇතුළෙදි සිද්දවුයේ එපමණයි. ගෑනු ළමයත් සමග දේවාලය ඇතුළෙ හුදෙකලා වූ විට මගේ සිත සසල වූ බව ඇත්තයි. ඒ ළමයටත් හිතේ නැතිගැන්මක් ඇතිවෙන්න ඇති. හැඟීම්වලට වාල්වී හැඟීමට ජයග්‍රහණය දී එතැනින් පැනදුවන්ට මම උත්සාහ කෙළේ නැ. මගේ සිත එතැනදීම දමනය කරගත යුතු යයි මම කල්පනා කළා. මම සිතින් ඒ තැනැත්තිට මෛත්‍රිය කළා. ඇගේ සිත ඇගේ රෝගී පියා වෙත නැඹුරුකරන්ට උත්සාහ කළා. සිද්ධිය දුටුවෙක් නො වෙයි, සිද්ධියට යන්නමින් කන්දුන්නෙකු ගේ සිත නම් කිලිටිව තිබෙන බව පෙනෙනවා. යහපත් පුද්ගලයකු වශයෙන් සමාජයේ ජීවත්වීමට අවශ්‍ය නම්, සිත පමණක් හඳගැනීම ප්‍රමාණවත් නොවන බව මට දැන් පැහැදිලියි"

සෝමාරාම ස්ථවිරයෝ බලාගත් අත බලාගත්වනම බොහෝ වේලා ගතකළ හ. අනතුරුව කතාකෙළේ සම්පූර්ණයෙන් ම නිවුනකු පරිද්දෙනි.

"හොඳයි රාහුල හොඳයි. දැන් යන්න හොඳයි. හිත

නරක්කරගන්න කාරි නෑ. මගෙන් නරක වචනයක් කියවුණානම් ඒක ගණන් ගන්නත් එපා. පොඩි උන්නාන්සෙ ගැන මුළු ලෝකෙම බලාඉන්න වග පමණක් මතක තියා ගන්නවා හොඳයි”

අවසන් නොකළ සමුගැන්ම අවසාන කිරීම සඳහා රාහුල තෙරනුවෝ යළි දෙ දණ, දෙ වැලමිට හා හිස බිම ගැටූ හ.

සෝමාරාම ස්ථවිරයෝ රාහුල තෙරණුවන් ගේ හිස මත අත තැබූ හ. “රාහුල සුවපත් වේවා”

* * *

අවිවේකී සිත නිසා තෙරණුවන් තෙ නමට ම නිදි නැත. නායක තෙරණුවෝ විටින්විට කැසිති. ඇබිත්ත කොලුවකු වශයෙන් පන්සලට පැමිණ, දැන් මහලු වයසේ ගත කරන සිංඤප්පු දන ශාලාවේ සිට ගොරවයි. තෙ නමගෙන් වඩාත් ම නොසංසුන් ව පසුවන්නේ නන්දරාම ය. හේ තමා ගේ කාමරයේ දොර ළඟ බොහෝ වේලාවක් සිටගෙන සිටියේ ය. පන්සල ඇතුළේ හෝ පිට පැත්තේ හෝ සැකකටයුතු ශබ්දයක් ඇති වූ හැම අවස්ථාවක ම ඔහුට තැතිගැන්මක් ඇතිවි ය. කොට වේවැල අතට ගෙන නායක ස්ථවිරයින් දැන් දැන් එති යි සිතමින් දෙ පැයක් පමණ වේලාවක් දොර ළඟ සිටගෙන සිටි නන්දරාම, ඉතා සෙමින් ඇඳේ හාන්සිවි ය. පිපාසය දැණුනු හෙයින් යළි නැගිට පෙර ද සිට මේසය මත තිබෙන වතුර



වීදුරුව බීවේ ය. අත් කණ්ණාඩිය රැගෙන මුහුණ බලන්නට ඔහුට වුවමනාවී ය. මුහුණ බලමින් කුරුලෑවක් පොඩි කෙළේ ය. තමා ගේ මුහුණ තමාට ම දකින්ට ලැබීමෙන් පසු නන්දරාම ගේ හෘදය සාක්ෂිය ඔහුට කතාකෙළේ ය. “නන්දරාම, උඹ මහා දුෂ්ටයෙක්. උඹ පැවිද්දෙක් වුණාට වඩා හොඳයි ජාඩි වෙළෙන්දෙක් වුණා නම්. උඹෝව ගඳගහනවා මිනිහෝ”

මිරිකූ කුරුලෑවෙන් කොත්තමල්ලි ඇටයක් තරම් සුදු පාට කොස්සක් අතට ආ විට නන්දරාමට සතුටක් ඇතිවි ය. ඔහු එය අතින් පොඩිකරදමා ඇඟිලි තුඩු ඉඹ බැලුවේ ය: කුරුලෑව තිබූ තැනින් මතු වූ ලේ බිංදුව පිස දැම්මේ ය.

කණ්ණාඩිය මේසය මත තබා, යළි ඇඳේ හාන්සි වූ නන්දරාම, තමා ගේ නිර්දෝෂීභාවයට තර්ක ඉදිරිපත් කරන්නටවි ය.

“මට ඕනෑකමටයැ මං මහණවුණේ? ලොකු හාමුදුරුවො ගෙදෙව්ට බඩගාල බඩගාල, පන්සලේ දේපොළ පිටයන්න දෙන්න බෑ කියල තාත්තට කත්කෙදිරිගාල මං බෑ කියද්දියි මාව මහණ කෙරෙව්වෙ. මහණ දැම්. කෙහෙල්මල! දේපොළ පිටයන්න දෙන්න බෑ කියල මහණ කෙරෙව්ව නම් ඒ විදියට වැඩ තියෙන්න ඕනෑ. රාහුලයා හිතාගෙන ඉන්නෙ ලොකු හාමුදුරුවන්ගෙන් පස්සෙ ලොක්කා වෙන්න. වැඩේ අප්පෙට් ගියා. බලමුකො. ඕකව පන්සලෙන් පන්නලදලයි මං පස්ස බලන්නෙ. සෝරතයා නම් අනිකව පන්නගත්තෙ ගුරුකම්කරල. ඒක කරන්නෙ තවත් දෙකක් තුනක් කරල බැරි නම් තමයි. ලොකු හාමුදුරුවො ලේ නෑකමට මට ඇද්දට ගමේ එවුන් නම් කැමති රාහුලයට. පන්සලට එකෙක් දනෙ නුදුන්නාට මට

ජීවත්වෙන්න බඩ් රබර් කට්ටිය ඇති........."

"සෝරතයා හොඳ එකා" යයි නන්දරාම ඊළඟට සිතුවේ ය. සෝරත භික්ෂුව නන්දරාම ගේ හිතවතා ය. සෝරත සමඟ එකම විශ්ව විද්‍යාලයයේ ඉගෙන ගනී. දෙදෙනාම පසුවන්නේ එද වැනි වසියේ ය. ඉද දෙනාම අර්ථ ශාස්ත්‍රය බෞද්ධ සංස්කෘතිය හා සිංහල හදරති. දෙදෙනාට ම පෙම්වතියන් ඇත. සෝරත භික්ෂුවගේ ගුරු හාමුදුරුවන් ඔහු මහණ කරගෙන ඇත්තේ පන්සලේ දේ ඔහුට පවරන්න සිතාගෙන නුවූවත්, ගුරු හාමුදුරුවන් ගේ ඇවෑමෙන් පන්සල තමන් අතට ගැනීමට තිබූ බාධක ගේ ජයගෙන තිබුණේ ය. සෝරත කරාටේ ශූරයෙක් ද වෙයි.

හිතට කලකිරීමක් වේදනාක් පහළ වූ විට මෙත් සිත් පෙරදැරිව ලෝක ස්වභාවය සිහිපත්කරගන්නා ලෙස අපවත්වීවදළ ධම්මාරාම ලොකු හාමුදුරුවන් වහන්සේ රාහුලට අනුශාසනය කර තිබුණත්, සෝමාරාම ස්ථවිරයන්ගෙන් නන්දරාමට ඒ වැනි අනුශාසනයක් නොලැබීම නිසා දෝ නන්දරාම ඒ වැනි අවස්ථාවල තමාට ම ආවේණික ප්‍රත්‍යක්ෂ ක්‍රමයක් භාවිතා කොළේ ය. හේ යතුර ලූ ලාච්චුව ඇද ලොකු කවරයක දමන ලද පොතක් එළියට ගත්තේ ය. එය ඔහු සෝරත භික්ෂුවගෙන් ලබාගන්නා ලද්දකි. එහි තිබෙන්නේ ස්ත්‍රී පුරුෂයින් ගේ විවිධ සංසර්ග ක්‍රම හා රති විලාශිතා ය. පින්තූර වර්ණවත් ය. ඉතා හොඳ කඩදාසියේ පොත මුද්‍රණය කර තිබේ.

චංචලවූත් විපිලිසර වූත් තම සිත එක අරමුණක නොපිහිටියේ ද යි නන්දරාම භික්ෂුව තමාගෙන් ම ප්‍රශ්න කෙළේ සිනාමුහුණිනි. ලොකු හාමුදුරුවන් ගැන හෝ රාහුල ගැන හෝ සිතිවිලි මාත්‍රයක් පහළකර නොගත් මේ පෘථග්ජන



භික්ෂුව, කාමාතුරයෙකුට පියක් වරක් වුව අභිරුචියෙන් නැරඹිය හැකි වර්ණ ඡායාරූප එක එක මහත් ආසාවෙන් පෙරළ පෙරළා බැලුවේ ය. උණුසුම් සිතක් ගතක් ඇතිව පොත මදකට අකුළාදැමූ ස්ථවිර නෙමේ යහනෙහි මුණින් වැතිර තම අපූරු පෙම්වතිය ගැන සිතන්ට පෙළැඹුණේ ය.

'මට අනුවුණේ හරිම පිස්සු මරගාගනයක් තමයි. පුදුමේ කියන්නෙ, සුජාතා කොල්ලො එකෙක් එක්කවත් කතා කරන්නෙ නෑ. එකී මට ද ආදරය කරන්නෙ නැත්නම් මගෙ සිවුරට ද කියන එකයි මට තවමත් විසඳන්න බැරි ප්‍රශ්නෙ. කොල්ලො එයාට කියන්නෙ "ශාපනේ ඇත්ති" කියල. වැඩේ ඇත්ත. සිවුරත් එක්ක එයාගෙ පුදුම සම්බන්ධයක් තියෙනවා. මාව දක්කාම මල වාගෙ පිපෙනවා. එහෙම ලස්සන හිනාවක් කිසිම ගෑනු ළමයෙකු ළඟ මම දැකල නෑ. මගෙ සිවුරේ පඩු සුවඳයි, දුඹිය ගඳයි එක්කාසු වෙලා එන සුවඳ තරම් සුවඳක් ලෝකෙම නැතිලු. පන්සල්වල වැඩියක්ම තියෙන්නෙ අරලිය මල් නිසා අරලිය මල් ලූ හොඳම මල්. සුජාතගෙ අතින් අල්ලා ගෙන දෙ පැත්තෙම අරලිය ගස් තියෙන මිහින්තලේ නගින්න මගෙ පුදුම ආසාවක් තියෙනවා. මේ ඉලව් සිවුර තියාගෙන ඒක කරන්නෙ කොහොම ද? මගෙ ඔය අදහස ගැන එයාට කියාපුවාම "අනේ හරි ෂෝක්. හරි ෂෝක්. යං යං කොහොම හරි යං" කියල කිව්වා. "සිවුර දගෙන නම් බෑ. කොන්ඩෙ වැවෙන කල් ඉඳල කලිසමකුත් දගෙන යමු" කියල කිව්වාම කියනවා. "එහෙම බෑ ඔහොම යමු සාදු ඔහොම යමු" කියල. වරදින්නෙ නෑ. එන එක එනවාමයි. මං කිව්වොත් මැරෙයි. එච්චරට මට ආදරෙයි. පිස්සු මරගානයක් කියල කියන්නෙ, මට සිවුරු අරින්න එපාලු. කසාද බඳින්නත් ඕනෑ නැතිලු. එයා කසාද බඳින්නමලු. බැඳල මාත් එක්ක ආස්සරේ දිගටම

තියාගන්නම්ලු. මගෙන් මොන කෙහෙල් මලක් බලාපොරොත්තු වෙනව ද මන්ද. කොහොම හරි මිහින්තලේ නම් යන්න ඕනැ'

නන්දරාමට නැවතත් හිනාගියේ ය. ඒ හිනාගියේ රාත්‍රිය මිහිඳු ගුහාවේ ගත කරමු යයි සුජාතා කී කතාවට ය. 'එයා කියන්නෙ මිහිඳු හාමුදුරුවො රාත්‍රී විහරණය කළ ගුහාවට වෙලා පැත්තකට හැරිල ඇලවෙලා එක අතක් හිසට තියාගෙන එයා දිහා බලා ඉන්නලු. මා ළහට වෙලා වැදගෙන මට අනිමිසලෝචනය කරගෙන එළිවෙනකල් ම ඉන්නම්ලු. ඉන්න දෙන්නම් මම......... නන්දරාමගෙ හැටි දන්නෙ නැ එයා. එදට ගැනි මං ගැන කලකිරෙයි ද දන්නෙ නැ'

නන්දරාම අඳනකඩය මිරිකාගත්තේ ය. තවත් පැයක්වත් සුජාතා සමග සිහින් ගතකරන්නට සිදුවන බව හේ දනී. සුජාතා ගේ චරිතය සෑදී ඇත්තේ ආගමාලයත්, ආලයත් එක පමණට ගෙන, එකට අනාගැනීමෙනැ යි සෝරත භික්ෂුව නන්දරාමට කියා තිබිණි.

*　　　*　　　*

යහන මත එරමිණියා ගොතා හිඳගත් රාහුල තෙරණුවෝ සියලු සිතිවිලි නවතා විනාඩි පහක් පමණ නිසලව සිටියෝ ය. සියලු හැඟීම් හා සිතිවිලි සිතට වැද්ද නොගෙන, බැහැරින් එන විවිධ ශබ්දවලට ද කන්දීමක් නො කොට පසුවීම ඉතා අපහසු කාර්යයකි.

රාහුල තෙරණුවන් ගේ සමාධිය කෙළවර වූයේ කිසිවකු



දෙරට තට්ටු කළ නිසාවත්, හිස මත මදුරුවකු වැසූ නිසාවත් නොව, හදිසියේ සිලවතී ගේ රුව මැවී පෙනුනු නිසා ය. සියලු ආසාවන්ට වඩා රාගාසාව දැඩි යයි තෙරණුවෝ කල්පනා කළහ. සිලවතී සිතෙන් මකා දැමීමට උත්සාහ කළ විට දලකින් රිංගුවාක් මෙන් ඕ තවත් තැනකින් මතුවූයේ රාග වශයෙනැ යි සිතුනු හෙයින්, තෙරණුවන්ට ලජ්ජාවක් ඇතිවී ය. නො ඇලී සිටිය යුතු ය. නොබැඳී සිටිය යුතු ය. එසේ නොකරන්නා ගසක් නසනු කැමැතිව ගසට නැග ගසේ අතු අග දලු නියගින් සින්නකු වැන්නැ යි උන්වහන්සේ අසා තිබිණි. පංචේන්ද්‍රියන්ට අවනත නොවිය යුතු ය. ඔවුන් පිනවන්නට යාම දුකට හා විපතට හේතුව යි. කිසිවෙකුත් කෙරෙහි නොබැඳිය යුත්තේ ය.

මහායාන ආචාර්යවරයකු ගැන ලියවුණු පොතක මේ පිළිබඳ කදිම කතාවක් රාහුල තෙරණුවන් කියවා තිබිණි. ඒ කතාව දෙතුන් වරක් කියවා තිබූ හෙයින් මේ අවස්ථාවේ උන්වහන්සේට එය නැවත සිහිපත් කර ගැනීම පහසුවී ය.

මහායාන ආචාර්යවරයෙක් අලුත පැවිදි වූ ශිෂ්‍ය භික්ෂුවක ද සමග ගමනක් යමින් සිටියේ ය. ඉදිරියට ගඟක් හමුවී ය. ගඟ විශාල නැතත්, ගඟ දිය බහුලවී ය. ගංතෙර රූමත් තරුණියක සිටියා ය. අසලක ගෙයක් නැත. තරුණියට වුවමනා කර තිබුණේ ගඟින් එගොඩ ව තම නිවසට යාමට ය. එහෙත් ගඟ දිය බහුල වූ හෙයින්, ගඟ දෙ පයින් තරණය කරන්නට ඕ බියපත් ව සිටියා ය. සිය ශිෂ්‍ය භික්ෂුව ද සමග ගං තෙරට පැපත් වූ ආචාර්යවරයා කරුණු විමසා බැලීමෙන් පසු තරුණිය කරින් ගෙන ගඟ තරණයකොට ඇය බිම තබා ඉදිරියට ගමන් කරන්නට වූයේ ය. රූමත් තරුණියක් කරින් ගැනීම ගැනත්, ඇය දැඩි ලෙස ග්‍රහණය කොටගෙන සිටීම

ගැනත් විස්මයටත් කලකිරීමටත් පත් භික්ෂුව යොදුන් ගණනක් යනතුරුත් ඒ පිළිබඳ ව කල්පනාවේ නිමග්නවම සිටියේ ය. මෙහි දී තමන් පසුපසින් එන ශිෂ්‍ය භික්ෂුව දෙස බැලූ ආචාර්යවරයා කතාකෙළේ ය.

"මම ඒ තරුණිය ගඟ මෙගොඩ තබා ආවෙමි. එහෙත් ඔබ ඇය තවමත් කර තබාගෙන සිටින්නෙහිය?"

ශිෂ්‍ය භික්ෂුවට ලජ්ජාවක් ඇතිවි ය. ඒ සමඟ ම සත්‍යාවබෝධය ද පහළවි ය.

ගතින් අල්වාගැනීමක් වූයේ වී නමුත්, සිතින් අල්ලා ගැනීමක් නුවූයේ නම් එ තැන බන්ධනයක් නැත.

සීලවතී පිළිබඳව හෝ නන්දරාම තෙරණුවන් සම්බන්ධයෙන් හෝ රාග ද්වේශ හැඟීමක් රාහුල තෙරණුවන්ට යළි පහළ නොවී ය. සිත අතිශයින් සැහැල්ලුව ගිය හෙයින්, සුව නින්දක් ලැබීමට තවත් විනාඩි දෙකකට වැඩි කාලයක් උන්වහන්සේට ගත නොවී ය.



2

**දෙ** සතියකට පසු වයිමන් මහතා හිතවතකු ද සමඟ පන්සලට යළි පැමිණියේ ය. පන්සලේ පසුවූයේ රාහුල තෙරණුවන් පමණි. වයිමන් මහතා පිළිගැනීමට සිදුවූයේ උන්වහන්සේට ය.

"මහත්තයලා වාඩිවෙන්න" රාහුල තෙරණුවන් වයිමන් මහතාට මුහුණ දුන්නේ අවුරුදු දෙක තුනකට පසු ව ය.

"ලොකු හාමුදුරුවො පිරිතකට වැඩලා"

"එහෙම නම් අද රටවත් වඩින එකක් නැ?"

"හෙට උදේට තමයි ආපසු වඩින්නෙ"

නොඉවසිල්ලෙන් මෙන් වටපිට බැලූ වයිමන් මහතා අනතුරුව රාහුල තෙරණුවන් දෙස බලා සිනාසුනේ ය.

වයිමන් මහතා සම්බන්ධයෙන් දත් තමන් තුළ කලකිරීමක් නැතැ යි රාහුල තෙරණුවන්ට හැඟිනි. ඔහු සමඟ කතාකිරීමටත්,

ඔහු සමඟ සිනාසීමටත් උන්වහන්සේ තුළ අකැමැත්තක් නොවී ය.

තමාට හුරුපුරුදු පුටුවේ වාඩි වූ වයිමන් මහතා තමා සමඟ පැමිණි අමුත්තා හඳුන්වාදෙමින් ඔහු තම පක්ෂයේ ප්‍රාදේශීය ලේකම්වරයකු බව කීය. වයිමන් මහතාට එක තැන එක විදියට විනාඩියක්වත් ගත කළ නොහැකි ය. හේ නැගිට්ටේ ය.

"ඔබ වහන්සේ සමඟ මට හුඟ කාලෙකින් කතා කරන්න බැරිවුනා. ඔබ වහන්සේ කැමති නම් මාත් කැමතියි ටික වේලාවක් කතාකරන්න. මම කැමති ඔබ වහන්සේ ගේ කාමරයට ගිහිං කතා කරන්නයි"

වයිමන් මහතාත් ඔහුගේ ප්‍රාදේශීය ලේකම්වරයාත් රාහුල තෙරණුවන්ට පසුපසින් ගමන් කළහ. කෙනෙකුගේ චරිතය ඔහුගේ කුටිය දෙස බැලීමෙන් සිතාගත හැකි බව වයිමන් මහතා දනී. රාහුල තෙරණුවන් ගේ යහපත් පැවැත්ම සම්බන්ධයෙන් බොහෝ දෙනා අතර පවත්නා ප්‍රයාදය කොතරම්දුරට සත්‍යයක් දැයි දැනගන්නටත් වයිමන් මහතා කැමැත්තෙන් සිටියේ ය. ඔහු ආශ්‍රය කරන බොහෝ භික්ෂූහු සුඛෝපභෝගී ජීවිත ගත කරන්නෝ ය. ඔවුන් ළඟ සීලයක් නැත. විනයක් නැත. ඇතැමුන්ට කටකාරකම තිබුණු අතර, තවත් සමහරකුට ධනය තිබිණි. වයිමන් මහතා මේ උදවියට හදවතින් ගරු සැලකිල්ලක් නොදක්වන නමුත් දේශපාලන වාසි නිසා ආශ්‍රය කරයි.

රාහුල තෙරණුවන් ගේ කාමරය අතිශයින් චාම් බව වයිමන් මහතා දුටුවේ ය. ඇඳ පුටු මේස සවි ශක්තියට හැදූ ඉතා පැරණි ඒවා ය. වියනක් ද පහිත කළුවර ලී ඇඳට දමා තිබුණේ



පැදුරකි. කාමරයේ මිටි පුටු නැත. තිබෙන පුටුවක වාඩිවීමට ආරාධනය ලැබුණු නමුත් වයිමන් මහතා එක්විට ම වාඩිවූයේ නැත. ඔහු ජනේලය ළඟ සිටගෙන ජනේලය තුළින් පිටත බැලුවේ ය. වයිමන් මහතා කරන්නේ කුමක් ද, ඔහු ගේ දේශපාලන සහායකයා ද එයම අනුගමනය කරයි. ජනේලය පිට පැත්තේ වූ පිච්ච පඳුරට දෙ දෙනාගේ ම අවධානය තදින් යොමුව තිබිණි.

"හුඟ කාලෙකට පස්සෙ පිච්ච පඳුරක් දැක්කා" වයිමන් මහතා සිය සහායකයාට කීයේ ය. "ලස්සනක් ඒ හැටි නැතිවට කොච්චර අගේ ඇති මලක් ද පිච්ච මල? ඒ කාලෙ අපේ ගේ මිදුලෙත් පිච්ච පඳුරක් තිබුණා. අපේ අම්මා පිච්ච මල් වතුරෙන් අපේ ඇස් හෝදනවා මට මතකයි. හවසට පිච්ච මල් මිට මිට අපේ පුංචි අත්වලට දීල බුදු කුටියට එක්කරගෙන ගිහිං අම්මා මල් පූජා කෙරෙව්වා. උදේට පර මල් ඔක්කෝම එක්කාසු කරල වේලනවා. පිච්ච මල් තම්බපු වතුර අපේ අම්මා අපිට බොන්න දුන්නා"

පිච්ච පඳුර නිසා මියගිය සිය පියා ද, මව ද සිහිපත්ව බෙහෙවින් මොළොක් වූ සිතින් පසු වූ වයිමන් මහතා ජනේලය ළඟින් මෑත් ව පුටුවේ හිඳ ගත්තේ ය. තම බිරිඳ හා දරුවන් විසින් දන් සිය ගෙමිදුලේ වවා ඇත්තේ පිච්ච නොව, ඇන්තූරියම් පතොක් හා ක්‍රෝටන් වර්ග බව ඔහුට සිහිපත්වි ය. සුවඳක් හෝ හරයක් හෝ නොමැති ඒවායින් මිනිසුන් ගේ ආධ්‍යාත්මික නිස්සාරත්වය පිළිබිඹු කෙරෙතැයි ඔහුට සිතිනි. සත්‍යයට එබී බලන්නට මිනිසෙකුට අවස්ථාවක් ලැබෙන්නේ කලාතුරකිනි.

වයිමන් මහතා එක්විට ම හිස ඔසවා බැලුවේ ය. ඒ

දර්ශනයට හසුවූයේ රාමුකොට බිත්තියේ එල්ලා තිබූ බුද්ධ පින්තූරය යි. ඒ පින්තූරය නිසා ද ඔහු ගේ සිතට යළි අදහස් පහළවී ය. තමා ආශ්‍රය කරන කිසිදු භික්ෂුවක ගේ කාමරයක බුදු පිළිමයක් හෝ බුදු පින්තූරයක් හෝ තිබෙනු ඔහු දැක නැත. ඔවුන් ගේ කාමරවල එල්ලා ඇත්තේ කාල් මාක්ස්ගේ, ලෙනින් ගේ, ඒ නැත්නම් බණ්ඩාරනායක මහතා ගේ පින්තූර ය. සෝර්ත උන්නාන්සේ දන් බණ්ඩාරනායක, සිරිමා බණ්ඩාරනායක යන දෙදෙනාගේම පින්තූර ඉවත්කොට ජේ. ආර්. ගේ වර්ණවත් ලොකු පින්තූරයක් එල්ලාගෙනය. රාහුල හාමුදුරුවන්ගේ මේසයට ළඟ බිත්තිය දිගට ඇත්තේ පොත් රාක්කයකි. රාක්කය උඩ කුඩා ලෝක ගෝලයක් හා පැරණි ලාම්පුවක් තිබේ.

වයිමන් මහතා අකුරට ම අනුගමනය කරමින්, ඔහු දෑස් යවන්නේ කවර තැනකට ද ඒ තැනට තම ඇස් ද යොමුකරමින් සිටි අනුගාමිකයා රාහුල තෙරණුවන්ගෙන් ප්‍රශ්නයක් ඇසුවේ ය.

"ස්වාමීන් වහන්ස, ඔබ වහන්සේ මේ පොත්පත් ඔක්කෝම කියවල තිබෙනව ද?"

"මම දන් කැමති සිත නවන නිවන සනහන පොත් පත් කියවීමටයි. කෙලෙස් හැඟීම් වඩන, වෛර වපුරන පොතුත් මේ පොත් රාක්කයේ තිබෙනවා. ඒත් මම ඒවාට වෛරකරන්නේ නෑ. හැම වර්ගයේ ම මිනිසුන් ඉන්නවා වාගේ ම හැම වර්ගයේ ම පොතුත් තිබෙනවා. ඒත් මම අගය කරන්නෙ අර මම කියාපු පොත්වලට පමණයි"

තෙරණුවන් වෛර වපුරන කතාවක් කීයේ තමාට සමච්චල් කරන අදහසිනැ යි වයිමන් මහතාට සැක සිතිනි. බලය



අනුන්ගෙන් උදුරාගැනීමටත්, උදුරාගත් බලය සියතේ රඳවා ගැනීමටත් ක්‍රියා කරන සියලුම දේශපාලනඥයින් සමාජය බෙදන කොටවන බව හේ දනී. තම පාක්ෂිකයින් දිරිගැන්වීම සඳහාත්, ප්‍රතිපාක්ෂිකයින් බියවද්ද තම පිළට මවුන් නම්මාගැනීම සඳහාත් හැම මැතිවරණයක දී ම තමා වෛරය දෝතින් වැපුරූ සැටි ඔහුට මතක ය. "උන් ආවොත් අපි ඉරවයි. අපි ආවොත් උන් ඉවරයි" යන්න වයිමන් මහතා ගේ ප්‍රකට සටන් පාඨය විය.

තමන්ගෙන් කෙසෙල් කෑමට එන ලේනා මේ වේලාවේත් පැමිණ සිටිනු රාහුල තෙරණුවන්ට දක්නට ලැබිණි. අමුත්තන් සිටින නිසා ලේනා කාමරයට නො පැමිණී ජනෙල් පියන උඩ බලා සිටී:

"එන්න සෝපාක එන්න" තෙරණුවෝ ලේනාට කීහ.

ලේනා, වලගය ඔසවා ජනෙල් පියන උඩ දෙතුන් වරක් ඒ මේ අතට පැන තමාගේ සැකය පහ නුවූ බව හැඟවූයේ ය.

තෙරණුවෝ ලේනා දෙසට දකුණත දිගුකළ හ. වයිමන් මහතාගේත් ඔහු ගේ සහායකයාගේත් දැඩි අවධානය ලේනා වෙත එල්ල ව තිබිය දී, දෙතුන් වරක් වල්ගය ගැසූ ලේනා තෙරණුවන්ගේ අත දිගේ පැමිණ උන්වහන්සේ ගේ උරයට ගොඩවී ය. කබඩ් ලාච්චුවෙන් ඉදුණු කෙසෙල් ගෙඩියක් ගත් භික්ෂුව එය බාගෙට ලෙලි ඇර උරහිසේ හුන් ලේනා වමතින් ගත්හ. සෝපාක අමුත්තන් දෙස බලනු විනා කෙසෙල් ගෙඩියට දත නොගසයි.

"බිය නොවන්න සෝපාක, ඔය ඇත්තට මේ මහත්වරුන්ගෙන් අනතුරක් නෑ"

"ඔය ඇතිකරන ලේනෙක් ද ස්වාමීන් වහන්ස?" වයිමන් මහතා ඇසුවේ ය.

"මේ ලේනා වෙනත් ලේනුන් වගේම නිදහසේ හැසිරෙනවා. මා සමඟ බොහොම කුළුපඟයි. මගෙන් කෙසෙල් කන්න හැමදාමත් එනවා. මෙයත් එක්ක ආශ්‍රය කරන සුළු මොහොතට මට ඇතිවෙන්නෙ විශාල සතුටක්. ඒ සතුට මෙයා ගිහිල්ලා පැයක් දෙකක් යනතෙක්ම මගේ හිතේ රැඳී තිබෙනවා"

බිය සැක හැරගත් ලේනා වටපිට බලමින් ම කෙසෙල් ගෙඩිය භුක්ති විඳියි.

"සමාවන්න ස්වාමීන් වහන්ස, සුළු ප්‍රශ්නයක් මතුවුණා" වයිමන් මහතා කියේ ය. "ඔබ වහන්සේ ගේ මේ සත්ව කරුණාව දුක් විඳින මිනිසුන් වෙනුවෙනුත් පහළ වෙනවද?"

"කෙසෙල්ගෙඩි කවන්න මම ඒ ඇත්තන්ව මගේ අත්ලට නොගත් බව නම් ඇත්ත"

වයිමන් මහතා ලජ්ජාවට පත්වුවත් ඔහු ඒ බවක් නොඅඟවා, හිතේ සඟවා සිටි මාතෘකාවට එළැඹීමට එය අවස්ථාවක් කරගත්තේ ය.

"ඔබ වහන්සේට කීමට අදහස් කළ කාරණය කෙළින් ම කිව යුතුයි. අද අපේ මිනිස්සු දුක් විඳිනවා. අපේ ආණ්ඩුව කාලෙ මේ පළාත්වල මිනිස්සු අඩු ගාණෙ කරෝල කෑල්ලක්වත් කෑවා. එද කරෝල රාත්තල රුපියල් හතරයි පහයි නැත්තම් හයයි. අද රුපියල් විස්සයි තිහයි තිස් පහයි. පොල් ගෙඩියක් පහයි හයයි. හාල් සේරුව රුපියල් හතයි අටයි. දුප්පත් ගොවි රාළලා කම්කරුවෝ ලිපිකරුවෝ දුක් විඳිනවා. කොන්ත්‍රාත්කාරයො බිස්නස්කාරයො එක දවසට තිස් හතළිස්



දහ හම්බුකරනවා. මේ අසාධාරණය ඇතිවෙලා තිබෙන්නේ ධනපති පාලන ක්‍රමය නිසයි. මේ තත්ත්වය වෙනස්කරන්න මේ අසාධාරණය නැතිකරන්න ඇයි ඔබ වහන්සේ අපිට සහාය නොදෙන්නෙ? ඇයි ඔබ වහන්සේ නිහඬව පසුවන්නෙ?"

වයිමන් මහතාගේ අවසාන වචන කිහිපය කෙතරම් උස් හඬින් පිටවූයේ ද යත්: භික්ෂුව ගේ අතේ හුන් ලේනා ජනේලයට පැන්නේ ය.

"මම දේශපාලනයට සම්බන්ධ නොවන්නෙ ඇයි ද කියන එක, ලේනා ගේ හැසිරීම දිහා මහත්තයා බලා හිටියා නම් හිතාගන්න තිබුණා." රාහුල තෙරණුවෝ කීහ. "මෙ තැන සාමය සංවරය බිඳුනා. ද්වේශය වෛරය පැතුරුණා. සැනසිල්ල ගිලිහුනා. ලේනා පැන දිව්වා. මම දේශපාලනයට සම්බන්ධවුවොත් දුගී දුක තුනීවෙයිද? දුක් වේදනා කෙළවරවෙයි ද මහත්තයා?"

"නැහැ, ඒත් ඔබ වහන්සේට යහපත් කටයුත්තකට කොටස් කාරයෙක් වෙන්න පුලුවන්"

රාහුල තෙරණුවෝ අහිංසක ව සිනා පහළ කළ හ. "මාත් හැටේ අවුරුද්දෙ මහණ වෙච්ච අලුත ලොකු හාමුදුරුවොත් එක්ක මහත්තයලාගේ පක්ෂය වෙනුවෙන් ගෙයක් ගෙයක් ගානෙ ගියා. එද මහත්තෝලා දිනුවා. මිනිසුන්ගෙ දුක තුනීවුවා ද මහත්තයා?"

වයිමන් මහතා නොසංසුන් මුහුණින් බිම බලා ගන්නවා රාහුල තෙරණුවන්ට දකගන්නට ලැබිණි. තමන් ප්‍රකාශ කෙළේ සත්‍යයක් වුවත්, ඒ සත්‍යය වයිමන් මහතාගේ මුහුණ තරක්වීමට හේතු වූ බව වටහාගත් තෙරණුවෝ කණගාටුවට පත්වූ හ. වයිමන් මහතා පමණක් නොව, වයිමන් මහතා ගේ

දේශපාලන පක්ෂය පමණක් නොව, සියලු දේශපාලනඥයිනුත් ලොව ඇති සියලුම දේශපාලන පක්ෂත් ක්‍රියාකරන්නෙ එකම පෘථග්ජන බලාපොරොත්තුවකින් බව දන්නා රාහුල තෙරණුවෝ වයිමන් මහතා ගේ හිත නිවන අදහස ඇති ව සිහින් හඬින් කතාකළ හ.

"මහත්තයට මම චෝදනාවක් එල්ල කළාවත් අපහාසයක් කළාවත් නොවෙයි. කොයි පක්ෂය බලයට ආවත්, මිනිසුන්ගෙ දුක නිවාරණය කරන්න අපහසුයි. බෞද්ධ ධර්මයේ හැටියට මොළයට දනුම, කුසට අහර, ගතට වස්ත්‍ර කොපමණ ලැබුණත් හිත නිරෝගි නැත්නම් ඒ කිසිවකින් වැඩක් නැ. බුද්ධ ධර්මයේ උගන්වන්නෙ හිත නිරෝගි ව පවත්වාගන්නා ක්‍රමයයි. දේශපාලඥයින් වන තමුන්නාන්සේලාට පුලුවන් මොළයට දනුම දෙන්න. කුසට අහර දෙන්න. ගතට වස්ත්‍ර දෙන්න. අපි පැවිද්දෙ. පැවිද්දෙ ගිහි ගෙයින් ඈත්වෙලයි ඉන්නෙ. කීර්තිමත් වෙන්න - බලවත් වෙන්න - ධනවත් වෙන්න ආසාවක් තිබෙන්න බැ. ආසාවක් තිබුණත් අපේ පරමාර්ථය විය යුත්තෙ එය නොවෙයි. අපි දැන් අපේ වගකීම පටලවා ගෙන. මහත්තේලත් මහත්තෙලගෙ වගකීම් වරදවා තේරුම් ගෙන. ඉස්සෙල්ලාම අපි අපේ සිත නිරෝගිමත් කරගන්නවා. ඊළඟට අසල්වැසියා ගේ රට වැසියාගෙ චිත්ත නිරෝගිමත් කරනවා. මහත්තේලගෙ මූලිකත්වයෙන් විසඳිය යුතු ව ඇති ආහාර ප්‍රශ්නය, අධ්‍යාපන ප්‍රශ්නය, ආර්ථික ප්‍රශ්නය ආදි ප්‍රශ්න විසඳන්න ඇයි සංඝයා වහන්සේ හවුල්කර ගන්නෙ? භේදයකින් තොරව මිනිසුන්ගෙ සිත් සකස්කිරීමේ කාර්යය අපට කරන්ට ඉඩ දෙනවා නම් ශාසනය රැකෙනවා, ධර්මය තහවුරුවෙනවා. මිනිසුන් භේදවන්නේ නැ. මිනිසුන් සුමඟට යොමු වෙනවා, බලයට ධනයට කීර්තියට ඇති ආසාව මම සම්පූර්ණයෙන් ම



ප්‍රහීනකරල ඉන්නවා කියල මහත්තයලා හිතන්න එපා. තමුන් පැවිද්දෙක් වශයෙන් බුද්ධ පුත්‍රයෙක් වශයෙන් මගෙන් සමාජයටත් මගෙන් මටත් ඉටුවිය යුතු යුතුකමත් සේවයත් කුමක් ද කියන එක මම තේරුම් ගෙන තිබෙනවා. වෛරයෙන් ද්වේශයෙන් ජීවත්වීම නොව, සියලු දෙනාම සම මෙතින් ගැනීමට මම උත්සාහ කරනවා. මහත්තයා වගේ ම මහත්තයාගෙ ප්‍රතිවාදියාත් මට එකයි. මට සතුරුකම් කරන්නාටත් මම මෛත්‍රිය කරනවා. මම බැඳීම්වලින් ගැටීම්වලින් ඈත් වෙලා නිදහස සතුට භුක්ති විඳිනවා. මේ සුන්දර නිදහස නැති කරගන්න මම කැමති නැ. මම කැමතියි මේ සුන්දර නිදහස උතුම් සතුට මුලු ලෝකයා ම භුක්ති විඳිනවා දකින්න"

ජනේලය උඩ සිටි ලේනා නැවත මේසය උඩට පැමිණියේ ය. මේසය මත වූ පම් බැම්මෙන් බඳින ලද පන්සිය පනස් ජාතක පොතට ඉවකර බැඳූ සතා කවදසියක් මත වූ කෙසෙල් ගෙඩි කැබෙල්ලට ළංවී අමුත්තන් දෙදෙනා දෙස බලමින් එය හපන්නට විය. ඌගේ ඒ නිදහස නැතිවීමටත්, ජනේලය මතට නැවත පැන දිවීමටත් බැහැරින් ආ ශබ්දයක් හේතුවි ය. වියළි පොල් අත්තක් අඹ අතුවල ද ගැටෙමින් ශබ්ද නගා බිම වැටීම මේ ලේනාගේත් අවට හුන් ලේනුන් ගේත් භීතියට හේතුවි ය. ජනේලයෙන් අඹ අත්තට පැන්න ලේනා සෙසු ලේනුන් සමඟ හඬ නඟනු ඇසිනි.

ලේනා ගැනවත්, පොල් අත්තේ ශබ්දය ගැනවත් තැකීමක් නො කළ වයිමන් මහතා, පුටුව පස්සටකර කකුල් දෙක දිගහැර ගත්තේ ය.

"ඔබ වහන්සේ නිවැරදියි" වයිමන් මහතා කෙළින් ම කීවේ ය. "ඔබ වහන්සේට මේ ගමේ පමණක් නොවෙයි පිට පළාත්වල

මිනිස්සුන් ගෞරව කරන බව මම දන්නවා. ඒ ගෞරවය ඒ විදියට ම ආරක්‍ෂාවෙන්න ඕනැ. මම ඔබ වහන්සේට බලකරන්නෙ නැ. මම බලාපොරොත්තුවුණේ, ඔබ වහන්සේ ගැන මිනිසුන් තුළ තිබෙන භක්තිය ශක්තියක් වශයෙන් අපට යොමුකරවා ගන්න පුලුවන් ද කියන එකයි. ඒක එහෙම වුණොත් මිනිසුන්ට තවත් විදියකින් වටිනා සේවයක් වන බවයි මගේ හැඟීම වුණේ. ඔබ වහන්සේට මම සවන් දුන්නා වගේම ඔබ වහන්සේත් මට සමාවෙලා, මට සවන් දෙන්න ඕනැ. මගේ පියා මට විශාල දේපළක් උරුම කරල තිබ්බා ස්වාමීන් වහන්ස. මට හොඳ අධ්‍යාපනයක් ලැබුණා. විශාල දෑවැද්දක් ඇතිව විවාහවුණා. කිසිම කරදරයක් නැතිව සැපවත් ජීවිතයක් ගතකරන්න මට අවස්ථාව තිබුණා. ඒත් මේ දුක්කරදර පිරුණු දේශපාලනයට මා යොමුවුණා. ඔබ වහන්සේ ගේ පරමාර්ථය සියලූ මිනිසුන් සතුටුකිරීම නම්, මගෙ පරමාර්ථය වන්නේත් ඒකම යි. පරමාර්ථ අතින් නම් මාත් ඔබ වහන්සේත් අතර පරතරයක් නැ. ඇත්ත මම පිළිගන්නවා. අපේ පරමාර්ථ ක්‍රියාත්මක වීමේ දී පක්‍ෂ වශයෙන් කණ්ඩායම් වශයෙන් සිතන්ට අපි පුරුදු වෙලා තියෙනවා. නමුත් ස්වාමීන් වහන්ස, මම මොකද කරන්නෙ? ලංකාව පමණක් නො වෙයි. මුලු ලෝකය ම හැඩගැසිලා තිබෙන්නේ මේ පක්‍ෂ දේශපාලන ක්‍රමයටයි. ස්වාමීන් වහන්ස, වගකිව යුතු ඇමතිවරයකු වශයෙන් ඉඳගෙනත් මම ඒක යත පහක අල්ලසක් නොගත් බව කියන්න ඕනැ. මගේ පෞද්ගලික දේපළත් මගේ ඡන්ද ව්‍යාපාරය වෙනුවෙන් මම නැති කරගත්තා. මට ඕනැත් අපේ මිනිසුන් නිදහසේ සැපෙන් ජීවත්වෙනවා දකින්නයි, ඇති මිනිසාට සියලූ සැපසම්පත් උදකරන, නැති මිනිසාට යන එන මං නැති කරන මේ ධනපති පාලන ක්‍රමය තුළින් මම හිතන්නෙ



නැ, ඔබ වහන්සේගේ පරමාර්ථයට කවදාවත් ළඟාවෙන්න පුලුවන්කමක් තියෙනවා කියල. මගේ බැඟෑපත් ඉල්ලීම අපි දෙගොල්ලම එක්කාසුවෙලා හොඳ වාතාවරණයක් පහළකර ගනිමු. කුසගින්නේ සිටින්නවුන්ට බුදුරජාණන් වහන්සේ බණ දේශනා කෙළේ නැහැ නේද ස්වාමීන් වහන්ස? දුගී දුප්පතුන්ට හොඳ නරක ගැන අවබෝධයක් ඇතිවන්නෙ අඩුගානෙ කුස ගිනි නිවී තිබුණොත් පමණක් නේ ද? දුටුගැමුණු කුමාරයාගේ කාලෙ හිටපු සංඝයා වහන්සේලා දෙමළ උවදුරින් රට බේරාගන්න සිවුරු පැත්තකින් තියල සටන් බිමට ගියා. සිංහලයින් සටනට පෙළඹෙව්වා. ඒ සටන දිනලා ආයිත් සිවුරු පොරවා ගත්තා. මම ඔබ වහන්සේගෙන් ඉල්ලාසිටින්නේ මේ යුගයේ අවශ්‍යතාව ඉටුකරන්න ආධාර අනුබල දෙන්න කියලයි. සමාවන්න, මම ඔබ වහන්සේට යුතුකම් උගන්වන්න ආවා නොවෙයි. ඒක නේද බෞද්ධ භික්‍ෂුන් වහන්සේ ගේ යුතුකම? ජාතියට ආගමට භාෂාවට හිතවත් බෞද්ධ භික්ෂුන් වහන්සේලාගේ යුතුකම ඒකයි. මිනීමරණ මංකොල්ලා කන උතුරේ දෙමේල්ලුන්ට මෛත්‍රිය කරන මේ ආණ්ඩුව අපේම සිංහල මිනිසුන්ගෙත් පළිගන්නවා. කාටද ස්වාමීන් වහන්ස මේ ආණ්ඩුව සේවය කරන්නෙ? විජාතිකයින්ට ධනපතියන්ට, මේක සිංහල බෞද්ධ රටක්. මේ ආණ්ඩුවේ නායකයා කියන්නෙ, මේ රට බහු ජාතික බහු ආගමික රටක් කියල........"

අතිශය හැඟීම්බරව කතා කළ නිසා වයිමන් මහතා ගේ මුහුණ කළු පැහැ ගෙන තිබිණි. රාහුල තෙරණුවෝ සිවුරු පොට සකසා දන්න ස්වරයෙන් වයිමන් මහතා ඇමතුවෝ ය. "වෛරය පළිගැනීම කොතැනින් පටන් ගත්තා ද කියන එක ගැන නොවෙයි මහත්තයා මම කතා කරන්නෙ. අපි සාකච්ඡා කළයුත්තේ වයිරය පළිගැනීම ද්වේශය සදහට ම තුරන්කර

දැමිය හැකි ක්‍රමයක් ගැනයි. මේ ආණ්ඩුව පළිගන්නවා. ඒක වැරදියි. තමුන්නාන්සේලාගේ ආණ්ඩුව කාලෙත් පළිගැනීම් සිදුවුණා. ඒකත් වැරදියි. මතු දවසක මහත්තයලාගේ ආණ්ඩුවක් යළි බලයට පත්වුණාම නැවතත් පළිගැනීම් සිදුවේවි. ඒකත් වැරදියි. මැරෙනවා උපදිනවා වගෙ දිගින් දිගට ම මේ වෛරය පවත්වාගෙන යනව ද? අන්න එය නතර කරන්න මහත්තයා මගෙන් සහාය ඉල්ලනවා නම් මම ඉත සිතින් එයට සම්පූර්ණ සහාය දෙනවා. දැන් පවතින ක්‍රමයෙන් මහජනයා සැපවත් කරන්න පුලුවන්ය කියල මහත්තයා නිකමටවත් සිතනව ද?"

"මම මුලින් ම කිව්වානෙ ස්වාමීන් වහන්ස, මේ පක්ෂ ක්‍රමය තමයි මුලු ලෝකයේ ම ක්‍රියාත්මක වන්නෙ. අප අකැමති වුණාට අපට මේ ක්‍රමයෙන් පිට පණින්න බැ."

"ඇයි බැරි මහත්තයා? මේ පුංචි බෞද්ධ රටෙන් අපි ලෝකයාට ම ආදර්ශයක් දෙමුකො. වාද භේද වර්ධනය නොකර මේ සිංහල බෞද්ධ පිරිස පමණක්වත් පළමුව එක්කාසු කරමුකො"

"ඇයි ස්වාමීන් වහන්ස, ධර්මිෂ්ටකම් බෞද්ධ ප්‍රතිපත්ති ගැන කතාකරන නායකයාට මේ ගැන නොකියන්නෙ? උන්නැහැටනෙ බලය තියෙන්නෙ. ලියන්නකො ස්වාමීන් වහන්ස උන්නැහැට. කියන්නකො ස්වාමීන් වහන්ස උන්නැහැට."

"උන්නැහැට ලිව්වා." රාහුල තෙරණුවෝ කීහ.

"ඉතිං ඔබ වහන්සේට පිළිතුරක් ලැබුණා ද?"

"ලිපිය ලැබුණු බව එතුමාගේ ලේකම් මහත්තයෙක් මට ලියා එවා තිබුණි"



වයිමන් මහතා ගේ මුහුණ උපහාස සිනායෙන් පිරිණි. "ඔබ වහන්සේ ලියන්න ඇත්තෙ සිංහලෙන් වෙන්න ඇති?"

"ඔව් මහත්තයා"

"සිංහලෙන් ලිවීම, සිංහල නමකින් පෙනීසිටීම මේ කාලයේ ලජ්ජාවට කාරණයක්, පනස්හයට ඉස්සෙල්ලා සිංහල භාෂාවට තිබුණු තැන තමයි අද තියෙන්නෙ. බණ්ඩාරනායක මහත්තයා සිංහල භාෂාව රාජ්‍ය භාෂාව කරල, ඉංග්‍රීසිය කොන්කර දැම්මෙන් රට ප්‍රපාතයට දැම්මා ය කියල මේ ආණ්ඩුවෙ ලොක්කො දැන් එළිපිට ම කතාකරන්න පටන් අරන්. ඒ මිනිසුන්ට ඉංග්‍රීසි නැත්නම් ඇඳුමක් අරින්නවත් බැ. ඒ මිනිසුන්ට සිංහල ඕනැ කරන්නෙ ඡන්ද කාලෙ රැස්වීම්වල දී කතා කරන්නයි, ගෙදර ඇවිත් කුස්සි අම්මට බෝයිට අඬගාන්නයි විතරයි. ජාතිවාදය ඇතිවුණෙත් බණ්ඩාරනායක මහත්තයා සිංහල භාෂාව රාජ්‍ය භාෂාව කරපු නිසාලු. ඇයි ස්වාමීන් වහන්ස මේ මිනිස්සු ජාතික ඇඳුම අඳින්නෙ? වයි කෝට් ටොප් හැට් දාගෙන තමන්ගෙ නියම ස්වරූපය පෙන්නුවා නම් නරක ද? ඔබ වහන්සේ එංගලන්තයේ ඉඳගෙන ඉංග්‍රීසි භාෂාවෙන් සුද්දෙකුගෙ නමකින් ලිව්ව නම් පිටු එක හමාරක උත්තරයක් ඔබ වහන්සේට ලැබෙනවා............"

වයිමන් මහතා රාහුල තෙරණුවන් ගේ මුහුණ කෙළින් බැලුවේ ය. පුද්ගලයකු ආරක්ෂාකර ගැනීම සඳහා අමුතුවෙන් තර්ක ඉදිරිපත් කිරීමට රාහුල තෙරණුවන්ට අවශ්‍ය නැත. පන්සල් වැටේ වාසය කරන යසපාලට වැඩි හිතෙෂීකමක් රාජ්‍ය නායකයා කෙරෙහි ද උන් වහන්සේ තුළ නැත. සෙසු මැණිවරුන්ට දක්වන ගෞරවයට වැඩි ගෞරවයක් හා ආදරයක් තමන් ජනිත කළ තමන් ගේ මැණියන්ට දක්වීම

නොමිනිස්කමක් නොවේ. තම ජාතිය හා තම භාෂාවට විශේෂ ආදර ගෞරවයක් දැක්වීම ද ඒ බඳු ම මිනිස්කමකි. රාහුල තෙරණුවන් සැලකිය යුතු ප්‍රමාණයකින් දෙම්නස් වූයේ තමන් රාජ්‍ය නායකයා ගේ සියලු ක්‍රියා අනුමත කරන්නෙකැ යි වයිමන් මහතා තුළ පැවැති විශ්වාසය හේතුකොටගෙන ය.

"මහත්තයාගෙ අදහස් බොහොමයකට මම එකඟයි. බුදුරජාණන් වහන්සේට ජාති කුල ආගම් භේද තිබුණෙ නැ. උන්වහන්සේ මුළු විශ්වයට ම පොදුයි. නමුත් මම උන්වහන්සේ ගේ උණුසුම පමණක් වැදුණු ලාමක භික්ෂුවකැ යි මට සිතෙන්නෙ මෙන්න මේ වගෙ අවස්ථාවලදී. බැරෑරුම් සටනකින් ජනතාවගෙන් බලය ඉල්ලාගෙන ඒ බලය සියතේ රඳවාගෙන රට පාලනය කරන්නෙක්, ලොව්තුරා බුදුරජාණන් වහන්සේ වගෙ ක්‍රියාකරන්න තැත්කරනවා නම් එය මහා විහිළුවකැ යි මට සිතෙනවා. මම මගේ භාෂාවට ආදරෙයි. මම මගේ රටට ජාතියට ආගමට ආදරෙයි. ඉන්දියාට වඩා මගේ ශ්‍රී ලංකාවට මම ආදරය දක්වීම වැරැද්දක් ද? තමන්ගේ ආගමට ජාතියට භාෂාවට ආදරය දක්වීම හරියට තමන්ගේ මවට පියාට සහෝදර සහෝදරියන්ට විශේෂ ආදරයක් දයාවක් දක්වීමට සමානයි. කවුරු හරි පුද්ගලයෙක් කියනවා නම් තමන්ගෙ භාෂාවට තමන්ගේ ජාතියට විශේෂ ඇල්මක් දක්විය යුතු නැත ය කියල, එක්කො ඒ පුද්ගලයා ලෝකෝත්තර පුද්ගලයෙක් වෙන්න ඕනැ. නැත්නම් ඕපපාතිකයෙක් වෙන්න ඕනැ. ඒ පුද්ගලයා ලෝකෝත්තර තත්ත්වයට පත්වෙච්ච පුද්ගලයෙක් නම් ඒ පුද්ගලයාට බලයට කීර්තියට ආසාවක් ඇතිවන්න විදියක් නැ, ඔහු බලයෙන් මිදිලා සැහැල්ලු ශ්‍රමණ ජීවිතයකටයි එළැඹෙන්න ඕනැ. එහෙම පුද්ගලයෙකුට පවුලක් පාලනය කරන්නවත් කැමැත්තක් නැතිවෙනවා"



රාහුල තෙරණුවන් තමන් විසින් දිනාගන්නාලද යි මඳ වැඩි ප්‍රීතියෙන් නැගීසිටි වයිමන් මහතා දෙහොත් මුදුන් දී කතා කෙළේ ය. "සත්‍යයට එකඟවීම ගැන සත්‍යය දකීම ගැන ඔබ වහන්සේට මෙන්න මගේ ආචාරය! ඔබ වහන්සේ ජනතාවට ඔය කාරණය ගැන පමණක් කියන්න. වෙන වචනයක් කියන්න ඕනැ නැ"

වයිමන් මහතා රාහුල තෙරණුවන්ගෙන් පිළිතුරක් බලාපොරොත්තුවෙයි. යළි පුටුවේ හිඳගත් හේ දෑත් බඳ මත බැඳ ගනිමින් උන්වහන්සේගේ මුහුණ බලාගත්වන ම පසුවී ය.

"ඔය කාරණය මට කිව හැකියි මහත්තයා........."

"එහෙමයි ස්වාමීන් වහන්ස එහෙමයි"

"ඒ සමග ම මට මෙයත් මහජනයාට කියන්න ඉඩ දෙන්න. පක්ෂ දේශපාලනයත්, පක්ෂ දේශපාලනය පිටුපස තිබෙන වෛරයත් නැතිකර ගතයුතුයි. කොළ කොඩි නිල් කොඩි රතු කොඩි හකුලා දැමිය යුතුයි"

වයිමන් මහතා ගේ බඳ මත වූ දෑත් මිදිනි. ඔහුගේ මුහුණ දුර්වර්ණ වූ බව පෙනිණි. කොඩි හා සටන් පාඨවලින් තොර දේශපාලනයක් නැතැ යි හේ සිතයි. පාක්ෂිකයින් අත්පුඩි තළන්නේත් ජය ඝෝෂා නගන්නේත් ප්‍රතිවාදීන්ට බැණවැදුණු තරමට ය. ඔවුන් සමච්චලයට ලක්කළ පමණට ය. රාහුල තෙරණුවන් අදහස් කරන සීතල දේශපාලනයක් ගැන සිතන්නටවත් වයිමන් මහතා මේ අවස්ථාවේ සූදානම් නැත. හේ නැගිට්ටේ ය. ඔහු ගේ අනුගාමිකයා ද ඔහු අනුගමනය කෙළේ ය.

"කොහොම වෙතත් ........" වයිමන් මහතා කීය. "මේ

කතාබහෙන් මා ගිහියෙක් බව මම තේරුම් ගත්තා. ඔබ වහන්සේ සැබෑ බෞද්ධ භික්ෂුවක් බව හැඟී ගියා. අපි කොච්චර කතාකළත් අන්තිමට මම අවබෝධ කොටගත් සත්‍යය ඒකයි. මේ කතාවෙන් ඉස්සරහට හිතන්න දේවල් බොහොම තියෙනවා. මම ඒක අමතක කරන්නෙ නෑ ස්වාමීන් වහන්ස. යම්කිසි දවසක අපට බලයට එන්න පුලුවන් වුණොත් අන්න එදාට මේ වගේම පැයක් හමාරක් ඔබ වහන්සේත් එක්ක කතාකරන්න මම එනවා. කොළ කොඩි නිල් කොඩි රතු කොඩි නැතිව සුදු කොඩියක් යටතේ රට පාලනය කළයුතු යයි එදාට මට හිතෙන්න බැරි නෑ"

# 3

නන්දරාම තෙරණුවෝ අල්ලපු ගමේ පන්සලේ සෝරත තෙරණුවන් සමග විහාරස්ථානයට පැමිණියෝ ය. ඒ වන විට වයිමන් මහතා විහාරස්ථානයෙන් පිට ව ගොස් ය. ලොකු හාමුදුරුවන් පන්සලේ නැති බව නන්දරාම දනී. කාමරයට වැදුනු වහාම දොර අඩවන් කළ උන්වහන්සේ කහපාට රෙදි උරයේ තිබූ කඩදාසි කොළයක ඔතනලද බෝතලයක් ලාච්චුවට දමා වැසුවෝ ය.

"බයේ බැරිවයි ආවෙ. හරියට සර්පයෙක් කරේ එල්ලාගෙන ඉන්නවා වගෙයි මට දැණුනෙ. කවුරුහරි දක්කනම් විනාශයි" නන්දරාම සිවුර ගලවා අඳනකඩය පිටින් ඇඳ උඩ හිඳ ගත්තේ ය. ඔහුට තරමක සැහැල්ලුවක් ඇති ව තිබේ.

"එළියේ කවුද කතාකරනවා ඇහෙනවා" සෝරත භික්ෂුව කීවේ ය.

සිවුර පටලවාගත් නන්දරාම ආවාසය මැද්දෙන් ගොස්

එළියට කරපොවා බලා ආපසු ආවේ ය. "ඒ රාහුලගෙ කස්ටර්මස්ල දෙන්නෙක්"

"මට තේරුණේ නෑ"

"මිනිහ අලුත් බිස්නස් එකක් පටන්ගෙන. සෙත් කවි. වැඩේ ඉවර ඇති. ඔය දන් ඇවිත් ඉන්නෙ මිනිහට ගුරු පඬුරු පුදන්න වෙන්න ඕනැ. ගෑනු කෙනාගෙ අතේ කෝලිකුට්ටු ඇවරියක් තියෙනවා දක්කා"

කෝලිකුට්ටු ඇවරිය දන ශාලාවේ තබා ආපසු යන ගමනේ රංසො නෝනා කාමරයේ හුන් නන්දරාම තෙරණුවන් දැක සිනාසුනා ය.

"පොඩි හාමුදුරුවනේ, ලොකු හාමුදුරුවො අද එන එකක් නෑ නේද?"

"මම හිතන්නෙ නෑ එයි කියල. පිරිතකටනෙ වැඩියෙ"

"එහෙමයි. ලොකු හාමුදුරුවොත් උන්න නම් තමයි හොඳ. අපේ රාහුල හාමුදුරුවන්ට පිංසිද්දවෙන්න අපේ ගෙදර මනුස්සයා නැගිට්ටා. අද ආවෙ එයත් එක්කගෙනමයි. අර ඉස්සරහ මිදුලෙ ඉන්නවා"

"මොකක්ද තිබුණු අමාරුව?"

"කුනට්ටියෙ අමාරුවක්. ඇඳෙන් නැගිටින්න බැරිවයි උන්නෙ. කොච්චරනම් බේත් කළාද........ කොච්චර නම් දුක් වින්දද......... දැන් හොඳයි"

නන්දරාමට ඉරිසියාවක් ඇතිවි ය. ගැහැනිය තව දුරටත් රාහුල වර්ණනා කරනැ යි සිතුනු හෙයින් වැඩිදුර කතාවට නොගියේ ය.



"හොඳයි එහෙනම් ඔයගමන් ම දේවාලෙටත් ගිහිං ආවානම්........"

රංසො නෝනා නොපෙනී ගිය පසු නන්දරාම සෝරත ගේ මුහුණ බැලුවේ ය. "මිනිහට බිස්නස් එක අල්ලල යනව වගෙයි. දන්නවාද මිනිහ ඔය වැඩේට පෙලැඹුනේ ඇයි කියල? ඔය ගෑනු කෙනාට ඉන්නවා සීලවතී කියල ලස්සණ ගෑනු ළමයෙක්. ඔය ගෑනුකෙනා සෙත් කවිය හදෝගෙන ඒක කියවාගන්න ආවෙ ඒ ගෑනු ළමයක් එක්ක. ලොකු හාමුදුරුවන්ට එද වෙන වැඩක් තිබුණා. ඉතිං අපේ මැන් කොන්ත්‍රාත්තුවපස්වනක් ප්‍රීතියෙන් භාරගෙව වැඩේ හිතට කළා!"

"මෝඩයා" සෝරත කීය.

"කවුද – මම ද?"

"තමුසෙ නෝන්නම්. තමන් ම කළා නම් පසුතැවිලි වෙන්න සිද්ද වෙන්නෙ නෑනෙ"

"අල්ලදමු. අල්ලාදමු. ගමේ ඕවා තියාගැනීම බයානකයි"

"තමුසෙ අහල නැද්ද අතේ ඉන්න කිරිල්ලි පඳුරෙ ඉන්න කිරිල්ලියො රොත්තට වඩා අගේ බව?"

"ඒක මගේ ප්‍රතිපත්තියක්"

"තමුසෙට ඉතිරිවෙන්නෙ ප්‍රතිපත්තිය විතරයි"

"බලමුකො"

* * *

ළිඳට ගොස් නාගෙන එන තරුණ පැවිද්දන් දෙදෙනා වෙතින් සබන් සුවඳ වහනය විය. සෝරත වටපිට බලමින් පැමිණ මහා මාර්ගයේ යන මෝටර් සයිකලයක ශබ්දය අසා හැරී බැලුවේ ය. නිවන් දකින්නට සෝරත භික්ෂුවට කිසිම ආසාවක් නැත. ඔහුගේ ප්‍රධාන ආසාවක්ව ඇත්තේ මෝටර් සයිකලයක් පැදීම ය.

“ඒයි අර බලපන්කො”

තරුණිය තරුණයා ගේ ඇඟට තුරුලුව ඔහු බදගෙන යයි. බැඳපු ජෝඩුවක් විය නොහැකි ය. පෙම්වතුන් දෙදෙනකු විය හැකි ය. හෙමින් යන ගමනකුත් නොවේ. වේගයෙන් යන ගමනකි.

“එක දවසක් ඔහොම යන්න ඇත්නම් මළත් කමක් නෑ. සුර සැප ඔක්කොම උන්ට! අපිට තහංචි! අපිට ඒ දිහා කෙළින් බලන්නවත් තහනම්”

“ලෙඩේ බොහොම උත්සන්නයි වගෙ........” නන්දරාම සිනාසුනේ ය. “ඔය ලෙඩේ මටත් තිබුණ බොහොම සැරට. දැන් ඒක එච්චර උත්සන්න නෑ. ගෑනු ළමයෙකුගෙ ගවුමක් වැල් පොටක වනල තියෙනව දක්කත් මට කිති කැවෙන කාලයක් තිබුණ. රාහුල තමයි මට කිව්වෙ ඇහිං දක්කාම හිතින් අල්ලාගන්න එපාය කියල.........”

“රාහුල විතරක්යැ රාහුලගෙ අප්පච්චිත් කියල තියෙන්නෙ. කවුරු කිව්වත් කොහොම ද නොහිතා ඉන්නෙ? නාකින්ට නම් ගාණක් නැතිව ඇති”

රංසො නෝනා හා ඇගේ සැමියා රාහුල තෙරණුවන් සමඟ කන්ද නගිමින් විහාර ගේ දෙසට යනු නන්දරාම දුටුවේ ය.



තවත් මෝටර් සයිකලයක හඬක් ඇසුනු හෙයින් සෝරත නැවත ද පසුපස හැරී බැලුවේ ය. එය පරණ මෝටර් සයිකලයකි. එය පැදවූයේ වයසක මහතෙකි. සෝරත ඒ දර්ශනය බලා වචනයක්වත් කතාකෙළේ නැත.

* * *

බෝට්ටි, බෝට්ටියේ මල් අසුන මත ළඟ සිටිනු රාහුල තෙරණුවන්ට දක්නට ලැබිණි. වඳුරා තෙරණුවන් දුටු වහාම බිමට පැන බෝට්ටිය වටා ගොස් තාප්පය මතට පැන්නේ ය. වඳුරාට කවදවත් සත් චාරිත්‍ර පුරුදු කළ නො හැකි වෙතැ යි රාහුල තෙරණුවන්ට සිතිණි. එහෙත් උත්සාහය අත් නො හැරීමට සිතූ උන්වහන්සේ කරුණාබර සිතින් යුතුව වඳුරාට සමීපවූ හ. වඳුරෝ බෝ ගසේ අතු පතර ළඟ සිටිති. එක වඳුරෙක් බිමට පැන්නේ ය. රාහුල තෙරණුවන් දෙස බලා හුන් බෝට්ටි, උන්වහන්සේට නියවා බිමට පැන බිම දිගේ ගොස් දෙල් ගසට නැග ගත්තේ ය. බෝ ගසේ බිමට පාත් වූ අත්ත දිගේ සියලු ම වඳුරෝ බැස ගිය හ.

දෝතට මලක් ගෙන, බෝට්ටි බෝට්ටියට මලක් පුදන දිනය වැඩි ඈතක නොවේ යයි සිතා සිටියත් එය කවදවත් නොකෙරෙන කාර්යයක් බව රාහුල තෙරණුවන්ට දැන් සිතේ. “මාත් මිනිහෙක් නිසා එකපාරට විශ්වාසෙට ගන්න එයා ලැස්ති නෑ”

දේවාලයට බාරහාර ඔප්පුකොට රංසෝ නෝනාත් ඇගේ සැමියාත් නික්මගොස් සුළු මොහොතකට පසු යසපාල දරු

දෙදෙනා ද සමඟ විහාර භූමියට පැමිණියේ ය.

යසපාල බාල දරුවා බිම තබා හතිඅරියි. ඔහු මෙයත් බාප් කෙනෙකි. වයස තිස් පහකට වඩා නැත. ඔහු ඉරටයක් මෙන් කෙට්ටු ව සිටින්නේ ක්ෂය රෝගය නිසා බව රාහුල තෙරණුවෝ දනිති. ක්ෂය රෝගයට ප්‍රතිකාර ගනිමින් සිටි කාලයේ, ඔහු ගේ බිරිඳ දරු දෙදෙනා ගෙදර දමා අත් වැඩකාරයා සමඟ පැන ගියා ය. යසපාල ප්‍රතිකාර ගැනීම නතරකොට දරු දෙදෙනා දඩිකර ගැනීමට දඟ දුක විඳි.

දෑතින් ම මල් ගොට්ට ඔසවා ගෙන හුන් කුඩා දරුවා පහතට වැටී තිබුණු ජංගිය ඔසවන්නට අතක් පහත් කරද්දී, ඉද්ද මල් කිහිපයක් බිම වැටිණි. වැටුණු මල් ඇහිද්දනු පිණිස දරුවා සැඟණින් පහත්වනු දුටු යසපාල ඔහු ඉන් වළකා තෙමේ ම ඒ මල් දෙක තුන අතට ගෙන ඉවත ගෙන ගොස් දැම්මේ ය.

"පුතා දන්නවද, බිම වැටුණු මල් බුදුහාමුදුරුවන්ට පූජාකරන්න හොඳ නෑ."

යසපාල දරු දෙදෙනාට මැදි ව සිටගෙන රාහුල තෙරණුවන් සමඟ කතාකෙළේ ය.

"පුතාල දෙන්නම කිව්ව හාමුදුරුවනේ පන්සල් යමුයි කියල. මාත් ඒ ගමන හායි කිව්වා. කළුවරත් වැටී ගෙන ආවට පාලොප්වක තිබුණෙ ඊයෙ නිසාවෙන් හඳ එළිය වැටෙන්නෙ නැතැයි නේද හාමුදුරුවනේ......."

"බොහොම හොඳයි. විහාර ගේ ඇරල ඇති. පුතාල දෙන්නත් එක්ක මල් පූජා කරන්නකො"

සමාධි පිළිම වහන්සේ අබියස නළලත ද බිම හොවා වැඳ



සිටි යසපාල වැටෙන්ට ගොප් කඳ තෙළින්කරගෙන නැවත දෑත් එක්කර ගනිත් ම ඔහුට කැස්ස මතුවි ය. වැඳ වැටී සිටි දරු දෙදෙනා ද පියාණන් දෙස බලා දණින් සිට ගන්නට උත්සාහ කළ හ. යසපාල ගේ කැහි හඬ විහාර ගේ තුළ දෝංකාර හඬ නංවා පිට වූ හෙයින් රාහුල තෙරණුවෝ ඔවුන් පසුපසට අවුත් කර පොවා බැලූ හ.

යසපාල වෙවුලයි. ඔහු එක්කරගෙන සිටි දෑත එ සේ තිබියදී ම හිස පැත්තකට කර වම් ඇස වම් උරයේ අතුල්ලා ගත්තේ ය. යසපාල වේදනාවෙන් පසුවන බවත්, ඒ නිසා ඔහු ගේ දෑසට කඳුළු උනා ඇති බවත් රාහුල තෙරණුවන්ට අවබෝධ වි ය.

දරුවෝ දණ නවාගෙන දෑත් එක්කරගෙන මාරුවෙන් මාරුවට සිය පියාණන් දෙසත් බුදු පිළිමය දෙසත් බලති. යසපාල බිමට අත ගසා නැගීසිටියේ ය. අනතුරු ව දරුවන් දෙදෙනා තමා ගේ ඇඟේ අළවන්නට තැත් කරන්නාක් මෙන් දෑතින් මිරිකාගත්තේ ය.

දරු දෙදෙනා දෑතින් අල්ලාගෙන බුදු පිළිමය වෙතින් ආපසු එන යසපාලට රාහුල තෙරණුවන් දක්නට ලැබිණි. තමා ගේ දෑස පුරා කඳුළු බව යසපාල දනී. හේ බිම බලාගත්තේ ය.

"ඇයි බාප් උන්නැහැ?"

බෙරිකරගත් මුහුණින් යුතු ව බිම බලාගත්වන ම ඉදිරියට ගිය අසරණ මිනිසා කොයි අත යා යුතු ද යි නිශ්චයක් නැත්තකු මෙන් මිදුල මැද නතර ව වටපිට බැලුවේ ය. ගාන්ධාර කුළුණු මුදුනේ කාක බෝ පැළය දෙස බලමින් කුළුණ මුලට ගමන්කොට එහි පහත ම මාලයේ හිඳ ගත්තේ ය. අනතුරු ව හිස දෑතින් ම බද පහත් වූයේ ය. සිය පියා කිසියම්

අමාරුවකින් පසුවන බව තේරුම්ගත් දරුවෝ ඔහු ගේ ඇගේ එතෙමින් ඔබා ගත් හිස ඔසවන්නට තැත් කරති.

"හිතට දහිරිය ඇතිකරගන්න බාප් උන්නැහැ. ඇයි එකපාරට පොඩි ළමයෙකුගෙ තත්ත්වයට පත්වුණෙ?"

"මට අවසරයි හාමුදුරුවනේ. මං දන් ලෙඩෙක්" යසපාල හිස ඔසවා ඉතා අසරණයකු මෙන් බැලුවේ ය.

"හිතිං දුක්වන්න එපා බාප් උන්නැහැ. බාප් උන්නැහැ පමණක් නොවෙයි සමාජයේ වැඩි දෙනා ලෙඩ්ඩු. ගතින් හෝ සිතින්"

"මං මෙච්චර දවස් ඇඩුවෙ රට විතරයි හාමුදුරුවනේ. ඒ ඇඩුවෙත් මේ පොඩි දෙන්නා තුරුළුකරගෙන ඒ දෙන්නට නින්දගියාට පස්සෙයි. අද මට බුදුහාමුදුරුවො ඉස්සරහ ඇඩුණා. මම දන්නවා මට තව වැඩි දෙහක් ජීවත්වෙන්න බෑ. මට දුක මේ මගෙ පොඩිලුන් දෙන්නා ගැනයි. මං නැතිදට හාමුදුරුවනේ මේ පොඩි දෙන්නට........." යසපාල යළි මුහුණ ඔබාගත්තේ ය. දරුවන් දෙදෙනා ගේ දෑස්වල ද කඳුළු ය.

යසපාල ගේ දහකාර තරුණ බිරිඳ ගේ රුව රාහුල තෙරණුවන් ගේ සිතේ ඇඳිණි. ඇය කෙරෙහි පිළිකුලක් එක්වර ම තමන්ට ඇති වූ බව හැඟුණු හෙයින් ලෝක ස්වභාවය මෙනෙහිකර ඒ හැඟීම තුනීකර ගැනීමට උන්වහන්සේ උත්සාහගත්හ. අනුන් නිසාවත් තමන් නිසාවත් සිත කිළිටිකර නොගතයුතු යයි උන්වහන්සේ සිතති.

"ඇයි බාප් උන්නැහැ සිතින් ලෙඩෙක් වන්නෙ? බාප් උන්නැහැ මේ පොඩි දෙන්නගෙන් සිත දුර්වල කරනවා. පිරිමියෙක් වගෙ කෙළින් ඉන්න. ඇයි කෙළින් ඉන්න පුලුවන්කම



තිබෙද්දි ඇද වැටෙන්නෙ? සිත නිරෝගී නම් සිත ශක්තිමත් නම් ගත ශක්තිමත් කර ගැනීම පහසුයි. බාප් උන්නැහැ සතු ශක්තිය කවුරුවත් උදුරාගෙන නෑ. ඒ ශක්තිය නැතිකරගන්න හදන්නෙ බාප් උන්නැහැම යි. පිරිමියෙක් වගෙ කෙළින් ඉන්න. බාප් උන්නැහැ වෙනුවෙන් මට කරන්න පුලුවන් උදව්වක් මම කරන්නම්........."

මුහුණ ඔබාගෙන සිටි මිනිසා එ සේ සිටිය ම දී ම සරමේ දෑස් පිස මොහොතක් ගතකොට හිස එසවූයේ ය.

"මං සනීපෙන් හිටපු කාලෙක නම් මට හිත කෙළින් තියාගෙන ඉන්න පුලුවන්කම තිබුණ හාමුදුරුවනේ. මං ගැන නොවෙයි, ගැනි මේ ළමයි දෙන්නා ගැන අනුකම්පා කළා නම් මට දුක නෑ. මං හිතාගත්තම් හාමුදුරුවනේ ඒ ගැනි මළා ය කියලා"

"බාප් උන්නැහැ මෙහෙම හිතුවොත් වඩාත් හොඳයි. ඒක ආගමානුකූල සිතීමක්........."

"කියන්න හාමුදුරුවනේ. මං හාමුදුරුවො කියන ඕනැම වචනයක් පිළිගන්නම්"

"එක්තරා කාලෙක දි එක්තරා ගෑනු කෙනෙක් බාප් උන්නැහැගෙ ගෙදර ඇවිත් බාප් උන්නැහැට උදව් උපකාර කරගෙන ජීවත්වුණා. ඒ ගෑනු කෙනා බාප් උන්නැහැගෙ පරම්පරාව ගෙනියන්න බාප් උන්නැහැට පිරිමි දරුවන් දෙදෙනකු තෑගි දීල යන්න ගියා. ඒ ගෑනු කෙනා බාප් උන්නැහැට අයිති යි කියල බාප් උන්නැහැ සිතුවොත් වැරදි යි. කවුරුවත් කාටවත් අයිති නෑ. තමන් ගේ ශරීරයවත් තමන්ට පාලනය කරගන්න තමන්ට අපහසු නම් තමන් තවත් කෙනෙක්

ව පාලනය කරන්නෙ අයිතිකරගන්නෙ කොහොම ද?"

යසපාල ගේ මුහුණේ දුක්බර ස්වභාවය පහවෙමින් තිබිණි. හේ තෙරණුවන් ගේ මුහුණ කෙළින් බැලුවේ ය.

"මං හිත හදගන්නම් හාමුදුරුවනේ...... කාටවත් දෙය් කියල තේරුමක් නෑ තමයි"

"සියල්ලට ම පළමු තමා නිරෝගී ව සිටින්න උත්සාහ ගන්න. ඕනෑම අසනීපයකට දැන් බෙහෙත් තිබෙනවා"

යසපාල තීරණ කිහිපයකට එළැඹියේ ය. ගොඩ ඒමට නොහැකි විපතකට තමා පත් ව සිටිනැ යි සිතීම වැරදි ය. විපතට තමා ඈද දැමුවේ බිරිඳ විසිනැ යි සැලකීම ද එ බඳු ම මිථ්‍යාවකි. ප්‍රථමකොට සෞඛ්‍ය තත්ත්වය ආරක්‍ෂාකොට ගත යුතු ය. දරු දෙදෙනා තාවකාලික ව සිය සහෝදරියට භාරකොට රෝහලට ඇතුල් ව සුවපත් ව යළි ජීවිතය ඇරඹිය යුතු ය.

*            *            *

යසපාල දරු දෙදෙනා ද සමඟ ආපසු යනු බලා සිටි රාහුල තෙරණුවෝ, විහාර ගෙයි දොර වසා මිදු සඳ එළියේ පඩි පෙළ බැස්ස හ. පඩි පෙළ මැදක් දුර බසින විට ආවාසය ගේ දෙසින් උස් හඬක් නැගෙනු උන්වහන්සේට ඇසිණි. ඒ හඬ නන්දරාමගේ ය. නන්දරාම මෙ තරම් ශබ්ද නගා සිනානගනු රාහුල තෙරණුවන් මීට පෙර අසා නැත.

ආවාස ගෙයි විදුලි පහන් දල්වා තිබේ. ආලෝකයක් නුවූයේ



රාහුල තෙරණුවන්ගේ කාමරයේ පමණි. කාමරයට පැමිණි විදුලි පහන දල්වත් ම උන්වහන්සේ හමුවට සිංඤප්පු පැමිණියේ ය.

"හාමුදුරුවනේ ඇහෙනවද සද්දෙ?"

"යාළුවෙක් ඇවිත් නොවැ සිංඤප්පු උන්නැහැ. ලොකු හාමුදුරුවොත් නැහැ නොවැ.......... ඒ ඇත්තො නිදහස භුක්ති විඳිනවා වෙන්න පුළුවන්. ලොකු හාමුදුරුවො ඉන්න කොට ඔය ආකාරයට සිනාගහන්න බෑ නොවැ"

"සංඝයා මේ විදියෙ 'නිදහසක්' භුක්ති වින්දොත් සාසනේට දෙවියන්ගෙ පිහිට තමයි!" සිංඤප්පු බැරෑරුම් ලෙස කීයේ ය.

රාහුල තෙරණුවන් ගේ දකුණත උන්වහන්සේ නොදැනුවත් ව ම උන්වහන්සේ ගේ හිස දක්වා ගොස් හිස වටේ ගියේ ය.

"හාමුදුරුවනේ දන්නවද වැඩේ. බෝතලයක් ගෙනැල්ලා දෙන්නත් එක්ක බොනවා! කාමරේ දොර වැහුවට ජනේලෙන් මම දැක්කා. ඔය කෑගහන්නෙ හිනාවෙන්නෙ වෙරිපිට! වෙන මොක කළත් ඔය වැඩේ නම් හොඳ වැඩක් නෙමෙයි. ලොකු හාමුදුරුවො ආපු හැටියෙ මම කියනවා, ගමේ මිනිස්සු දැනගත්තොත් මොකද වෙන්නෙ?"

"ඒ උන්නාන්සේලා අසිහියෙන් කෑගැහුවට සිංඤප්පු උන්නැහැ කලබල වෙන්න එපා"

"මං මේ පන්සලට ඇවිත් හතළිස් හත් අවුරුද්දක් වෙනවා. හාමුදුරුවො සුරාපානය කරනවා දැක්කෙ අද තමා. අනේ අපොයි මේ පන්සලට වෙච්ච විනාශයක්. රට බිස්කට් කන ඒක නම් මොකද කිව්ව හැකි, කිල බෙබද්දෙ වගෙ කෑගහන්නායි

හත හත ගාල හිනාවෙන්නයි කියාගත්ත නොවැ. මට ඉහිලුම් නැතිවයි මේ ඉන්නෙ. ලොකු හාමුදුරුවො නැති තැන මේ පන්සලේ ලොකු හාමුදුරුවො ඔබ වහන්සෙ. ගිහිං අහන්නකො මේ විගඩම මොකක්ද කියල. මේවට ඉඩදෙන්න හොඳ ද මං අහන්නෙ. සැසනේ ඉඳගෙන සැසනේම ගඳගස්සන වැඩක් නොවැ මේ කොරන්නෙ"

නන්දරාමත් සෝරතත් උස් හඩින් කතා කරන්නේත් විටින් විට සිනාහගන්නේත් බීමත්කම නිසා බව රාහුල තෙරණුවන්ටත් නිසැක ය. ඇතැම් පැවිද්දන් රහසින් සුරා පානය කොට නිදගන්නා බව මුන්, මෙසේ අවිනීත ව හැසිරෙන බවක් උන්වහන්සේ අසා නැත.

රාහුල තෙරණුවන් ගේ ප්‍රතික්‍රියාවක් බලාපොරොත්තුවෙන් සිංඝප්පු උන්වහන්සේ අසල ම රැඳී සිටී. තෙරණුවෝ බිම බලාගෙන කාමරයේ සක්මන් කරති.

සිංඝප්පු යළි කතාකෙළේ ය. "මය හිනාවයි ගෝසාවයි නවත්වන්නැ යි කියන්නකො හාමුදුරුවනේ. මේක පන්සලක්! කෝලම් මඩුවක්වත් මඟුල් ගෙයක්වත් නෙමෙයි! මොකද ඔබ වහන්සේ බය ද උන්නාන්සේලාට"

දෙ පියන් සහිත දොරේ, වැසූ පියනේ හැපෙමින් සෝරත භික්ෂුව කාමරයට කඩාවැදුනේ ය. රාහුල තෙරණුවෝ හැරී බැලූ හ. සිංඝප්පු රවාබලා කාමරයෙන් පිටවී ය.

"ඒ මේ ඇබිත්ත නාකියනෙ! ඌ මට රැව්වා! ඔව්! ඌ මට රැව්වා!"

සිංඝප්පු පසුපස එළවා යන්නට මෙන් ගිය සෝරත භික්ෂුව යළි කාමරයට ඇතුල් ව යහන මත කඩා වැටුණේ ය. දැන්



පිටුපසට ගසා නොසෙල්වෙන්නට හිඳගත් හේ රාහුල තෙරණුවන් ගේ මුහුණ බැලුවේ ය. මඳක් කට ඇදකරමින් කතාකෙළේ ය.

"රාහුල ස්ථවිරයො මාත් එක්ක තරහ ද?"

"නැහැ"

"එහෙනම් නන්දරාමත් එක්ක තරහ ද?"

"නැහැ"

"ඇයි එහෙනම් එක වහලෙ යට ඉඳගෙන අපිත් එක්ක කිසිම බජනයක් නැත්තෙ? මගෙ නම සෝරත. දන්නවා නොවැ. මගෙ වැඩ කෙළින්. හැංගි හොරා වැඩ නෑ"

"කතා කළ යුතු දයක් ඇත්නම් අපි කතාකරමු"

"අන්න එහෙම තමයි ඉන්න ඕනැ. අපි එළිපිට ම කතා කරමු. කෙළින්. හරි කෙළින්. අනම්මනම් බෑ. කෙළින්. අද නන්දරාමයි මමයි පොඩ්ඩක් ගත්තා. රාහුල ස්ථවිරයො තරහ ද ඒකට? කෙළින්. හරි කෙළින් උත්තරයක් ඕනැ!"

"මම ඒ බව දනගත්තා. නමුත් මම මගේ සිත කිළිටිකරගන්න උනන්දු වූයේ නැ"

"නැහැ! එහෙම නෙමෙයි! හරි කෙළින් උත්තරයක් ඕනැ! තරහ ද නැද්ද?"

"මම තරහ නෑ"

"අන්න හරි. වමනය දන්න වෙරිවෙන්න කැකෝ ගාන්න නෙමෙයි අපි පොඩ්ඩක් බිව්වෙ. මේකයි ස්ථවිරයො. අපි මෙව්වාගෙ හොඳ නරක දනගෙන තියෙන්න ඕනැ. රාහුල ස්ථවිරයො දන්නවා නොවැ අපි විනර විනය නීතිවලිනුයි

සමාජ නීතිවලිනුයි කොටුවෙච්ච පැගිච්ච කොන්වෙච්ච අසරණයො ජාතියක් මේ ලෝකෙ නෑ. ගිහියො ඔක්කොම කරනවා. අපිට මොකුත් කරන්න බෑ. මේ ඇඟට මේ යුනිෆෝම් එක වැටුනෙ මොකද? දන්නව නොවැ. ඒක දන්නවා. එතකොට ඒක එහෙම නම් අපි ඉඳල හිටල විනෝදවුණාට කාටවත් මොකෝ! සියලුම සම්පත් උන්ට. අපිට මොකුත් නෑ. අන්න ඒකයි. මළ කෙළියක්නෙ! මොකද අපි හිරකාරයොද?"

රාහුල තෙරණුවෝ මේසය ළඟ පුටුවේ වාඩිගත් හ. "ගිහියො අඬනවා දුක්වෙනවා වැලපෙනවා දකල නැද්ද ඔය උන්නාන්සෙ?"

"එතකොට රාහුල ස්ථවිරයො කියන්නෙ අපිට තියෙන්නෙ අඬන්න දුක්වෙන්න වැලැපෙන්න කියලද?"

"අපිට අඬන්න දුක්වෙන්න වැලැපෙන්න කියල බුදු හාමුරුවො දේශනා කරල නෑ. පිරිසිදු පවිත්‍ර චේතනාවෙන් යුතු ව සැහැල්ලු නිදහස් ජීවිතයක් ගතකරන්න කියලයි උන්වහන්සේ කියල තියෙන්නෙ. උන්වහන්සේ අපට පමණක් නොවෙයි. ලෝකෙට ම කියල තියෙන්නෙ ඒකයි. එහෙම හිටියොත් ඒක අපේ ම සතුටට සැනසිල්ලට හේතුවක්"

සෝරත භික්ෂුව නැගීසිටියේ ය. මඳක් වැනි වැනි සිට හිස වැනුවේ ය.

"උත්තර දෙන්න මම එනවා......." දෙරේ නොවැදී, දොර පියන අල්ලාගෙන සෝරත භික්ෂුව කාමරයෙන් පිට ව ගියේ ය. ඔහු මොහොතින් ආපසු ආයේ දෙතොල් පියදමමිනි. වේගයෙන් ඇසි පිය ගසමින් ද, ඇස් පළල් කොට බලමින් ද හේ යළි ඇඳේ වාඩිවී ය.

පිළිකුලත් කලකිරීමත් අනතුරුව කෝපයත් තම සිත තුළ



ජනිත වන බව රාහුල තෙරණුවන්ට හැඟිණි. තමන් ඉදිරියේ පසුවන්නේ බෞද්ධ භික්ෂුවක් නොව, චීවරයක් පොරවාගත් අවිචාර අසංවර මනුෂ්‍යයකු පමණක් බව සිතමින් නැගීඑන කෝපය මැඩගත් තෙරණුවෝ ඉතා අඩුවෙන් කතාකිරීම මැනැවැ යි සිතමින් නිහඬවූ හ.

සෝරත භික්ෂුව යළි රාහුල තෙරණුවන් ගේ කාමරයට පැමිණියේ බොහෝ දෑ කතාකිරීමට විය හැකි වුවත් ඔහු ගේ ගත හා සිත ඔහුගේ පාලනයෙන් බොහෝ දුරට මිදී තිබූ නිසා ඇඳ මත කඩාවැටෙන්නට ඔහුට සිදුවී ය. ඔහු ගේ දෙකකුල බිම ඇතිල්ලෙමින් තිබුණු අතර දෑත් ඇඳ මත විහිද තිබිණි. සිවුර කොණකින් මුහුණේ දහඩිය අපිහියෙන් පිසදගත් පැවිද්ද, කතාකෙළේ නන්දරාම තෙරණුවන්ට ය. නන්දරාම මේ වේලාවේ අසලකවත් නො සිටියේ ය.

"නන්දයො, උඹත් නිදගනිං, මාත් නිදගන්නම්. උඹ හිත හොඳ එකා. මාත් හිත හොඳ එකා. ගත නැත වගෙ නන්දයො. හිතත් නැත වගෙ නන්දයෝ. නිවනට ද මේ යන්නෙ නන්දයො......"

# 4

රාහුල තෙරණුවන් පැවිදිවූයේ දෙළොස් හැවිරිදි වියේ දී ය. පැවිදි බිමට එළැඹීමට උන්වහන්සේට කාරණා තුනක් හේතුවි ය. වයෝවෘද්ධ ව හුන් අපවත් වී වදළ ධම්මාරාම ලොකු හාමුදුරුවන් වහන්සේ, ළමා වියේ හුන් සිරිසේන ගේ ශාන්තදාන්ත ගතිපැවතුම් කෙරෙහි පැහැදීම, උන්වහන්සේට ඥාති සම්බන්ධයක් තිබීම හා බිමත්කමත් හුදුවත් නිසා සිරිසේන ගේ පියා අතිශයින් අයට වැටීම ඒ කාරණා තුන ය. ළමා වියේ සිටිය ද කුඩා සිරිසේන ගේ යහපත් ගති පැවතුම්වලට හේතුව ඔහු ගේ සංසාරික පැවැත්ම යයි ධම්මාරාම ස්ථවිරයො සිතූ හ. රාහුල තෙරණුවන් පැවිදි බිමට එළැඹ සිවු වසරකට පසු හෘදයාබාධයකින් නායක ස්ථවිරයෝ අපවත්වූ හ. උන්වහන්සේ ගේ ජ්‍යෙෂ්ඨතම ශිෂ්‍යයා වූ සෝමාරාම, පන්සලේ අධිපති ධූරයට පත් වූ අතර, එයින් අවුරුදු දෙකක් ඉක්මෙන්නටත් ප්‍රථම, උන්වහන්සේ තම සහෝදරයාගේ පුතෙකු නන්දරාම නමින් මහණකර ගත්තෝ ය. එය තනිකර ම පන්සලේ අධිපති



ධූරය හා බුද්ධලය පිට යා නොදීමට සෝමාරාම ස්ථවිරයන් නන්දරාම ගේ දෙමාපියන් ගේ අනුදැක්ම ඇති ව කරන ලද්දකි. නන්දරාම වයසින් ද, පැවිද්දෙන් ද උපසම්පදාවෙන් ද රාහුලට දෙවැනි වූවත් ඔහු හැඳුරුනේ පන්සලේ දෙ වැනියා හැටියට ය. ගමේ දානයකට වඩිනු පිණිස නායක ස්ථවිරයන් මිදුලට බැස ඉදිරියට වඩින විට නන්දරාම ඊළඟ තැන ගැනීමට වහා ඉදිරිපත් වි ය. මෙ වැනි අවස්ථාවල දී නුදුටුවාක් මෙන් කරබා ගමන් කිරීම සෝමාරාම ස්ථවිරයන් ගේ පුරුද්ද ය. තමන්ට දෙ වැනි තැන තොව තුන් වැනි තැන ලැබීම ගැන රාහුල කිසිවකුට පැමිණිල්ලක් නොකළත්, පන්සලේ ප්‍රධාන දායකයා වන වෙද මහතා දිනක් නායක ස්ථවිරයන්ගෙන් මේ ගැන ප්‍රශ්න කරන ලද බව සිංඤප්පු රාහුල තෙරණුවන්ට කියාසිටියේ ය.

"හාමුදුරුවො ගණන්ගන්නෙ නැතිවට එන පොට හරියන්නෙ නැති වග පොඩි හාමුදුරුවන් මහණකරගත් ද මයි මං තේරුම් ගත්තෙ. ඕනැම පන්සලක නායක හාමුදුරු නමක් පොඩි උන්නාන්සේලාට කතා කරන්නෙ "ලොකු නැන" "පොඩි නැන" කියල. නම් කියනව මිසක් මෙහෙ එහෙම කතාකරනවා මම අහල නෑ. තුන් නම ම පිට වඩිනකොට කවුද ලොකු හාමුදුරුවො ළඟින් වඩින්නෙ? දාන ගෙදරකදි කවුද ලොකු හාමුදුරුවො ළඟින් වාඩිවෙන්නෙ?"

මේ කාරණය සම්බන්ධයෙන් තමන් ගේ ඥාතීන් ද තමන්ගෙන් ප්‍රශ්න කරන බව රාහුල තෙරණුවෝ සිංඤප්පුට කීහ.

"ඉතිං ඔය හාමුදුරුවො මොකක් ද දුන්නු උත්තරය"

"ඒක ගණන් ගත යුතු බරපතල කාරණයක් නොවන බව

කිව්වා. ඒ කාරණය සිතින් අමතක කර දන්න කියලත් මම කිව්වා"

"ඔබ වහන්සෙ හොඳ වැඩියි. ඔය හොඳ හොඳට හිටින හොඳක් නෙමෙයි හාමුදුරුවනේ! ඔබ වහන්සේ තුන් වැනියා නොවෙයි දෙවැනියා වග මුළු ලෝකෙම දන්නවා. ඇයි පොඩි හාමුදුරුවො පස්සෙන් යන්නෙ? මට හරි කේන්තියි මේ වැඩේට. දක්ක පළමුවෙනි දවසෙ මට කේන්තිය උහුලන්න බැරිව ගියා. කේන්ති ගියපාර මං කළ වැඩේ යනකල් ඉඳල, අඟුරු කැටේකින් වහල තිබුණු උන්නාන්සෙගෙ කාමරේ ජනෙල් පියනෙ තුන් පළකම තුනේ ඉලක්කම ලිව්වා. මං ලියල තිබුණෙ තුන නෙමෙයි, තුන්සිය තිස්තුන වග මට තේරුණෙ "කවුද මේ තුන්සිය තිස් තුන ලියපු එකා?" කියල උන්නාන්සේ මගෙන් අහනකොටයි. මං අහගෙනයි මේ ලෙහෙදි වෙද මහත්තයත් ලොකු හාමුරුදුවොත් එක්ක ඔය ගැන කතා කරනවා ලොකු හාමුදුරුවො කට්ටයා........"

"මම ඒ ඇත්තගෙ මහප්පා නොවැ. ඒ ඇත්තො පොඩි කාලෙදින් මට බොහොම මනාපයි. ඇයි වෙද මහත්තයට මතක නැද්ද, පොඩි කාලෙ පන්සලට ආපුවාම මගෙ කකුල් දෙක ළඟ වාඩිවෙලා නියපොතුවල කුණු සුද්දකරනවා" ඔන්න දූත්තු උත්තරේ. ඔය කොහොම කිව්වත් අන්තිමට සිද්දවෙන්නෙ මොකක්දැයි බලමු"

"අපි වෙන දෙයක් ගැන කතාකරමු සිංඤප්පු උන්නැහැ. මම ඔය කාරණය ගැන දිගින් දිගට කතාකරන්න කැමති නැ-හොටින් ම මම ඔය ගැන හිතන්නෙ නැ. මට අධිපතිකම් අවශ්‍ය නැ- ලොකු හාමුදුරුවන්ගෙන් පස්සෙ පොඩි හාමුදුරුවන්ට මේ පන්සලේ අධිපතිකම අවශ්‍ය නම් එහෙම වුණාවේ. ඒ ගැන



සිංඤප්පු උන්නැහැත් කරදරවෙන්න එපා. මම කරදරවෙන්නෙත් නැ"

සිංඤප්පු ගේ ඇස් උඩගියේ ය. ඔහු රාහුල තෙරණුවන් ගෙන් බලාපොරොත්තු වූයේ මෙ වැනි පිළිතුරක් නොවේ.

"නමුන්නාන්සෙ අනික් හාමුදුරුගොල්ලට වැඩිය වෙනස් බව මම දන්නවා. ඒත් කිසිම හාමුදුරු නමක් නොකියන කතාවක්නෙ ඔබ වහන්සේ කියන්නෙ! ඉතිං පොඩි හාමුදුරුවො මේ පන්සලේ ලොකු හාමුදුරුවො වෙච්ච දට ඔබ වහන්සේට උන්න හැකැයි මේ පන්සලෙ? හිටියත් පල නොකියා පළා බෙදයි. ඒ උන්නාන්සෙ පළා බෙදල විතරක් නිකාහිටියොත් ඇති........"

"සිංඤප්පු උන්නැහැ ධම්මපදය කියවල තියෙනවද"

"පාලියෙන් නොවැ තියෙන්නෙ. මං කොහොම ද තේරුම් ගන්නෙ?"

"සිංහල තේරුම් සහිත ධම්මපදය මං සිංඤප්පු උන්නැහැට දෙන්නම්. ඒ පොතේ එක තැනක මෙහෙම තියෙනවා. 'අයහපත් සිත් සිත්නුව අනුන් ගේ ගරු බුහුමන් කැමති වේ. පෙරටු බව කැමති වේ. ආවාසයන්හි අධිපතිකම කැමති වේ. අන්‍ය කුලයන්හි පුද පැලකිලි කැමති වේ.' බොහොමයක් උන්නාන්සේලා පැවිද්දත් විදියට නොහිතනවාට මම මොකද කරන්නෙ සිංඤප්පු උන්නැහැ? ඉස්සර නම් ඒ ඇත්තන් ගැන හිතල පැරුණා. මට දැන් ඒ ඇත්තන් ගැන අනුකම්පාවක් ඇතිවෙනවා"

සිංඤප්පු කතා නැති ව බිම බලාගෙන බොහෝ වේලාවක් කල්පනා කරමින් සිටියේ ය. අවසානයේ ඔහු ගේ කලකිරීම වැඩිවී ය. ඔහුට අනුකම්පාවක් උපදවා ගත හැකි වූයේ රාහුල

තෙරණුවන් ගැන පමණි.

* * *

රට ගොටු කොළ පාත්තිය ළඟ වාඩි වී එයට ගොම පොහොර දමමින් සිටි රාහුල තෙරණුවන් ළඟට සිංඤප්පු ගියේ ය. ඒ රට ගොටු කොළ පාත්තිය ඉන්දවා තිබුණේ නන්දරාම තෙරණුවෝ ය. රට ගොටු කොළ පාත්තිය රැකබලා ගැනීම ද, එයට අයිතිවාසිකම් කීම ද නන්දරාම තෙරණුවන් සතු යයි සිංඤප්පු සිතයි.

"ඇයි හාමුදුරුවනේ නන්දරාම හාමුදුරුවන්ගෙ ගොටු කොළ පාත්තියට පෝර දන්නෙ? උන්නාන්සෙ දන්නවා නම් ගත් කටට ම කියනවා තමන්ගෙ දේවලට ඇඟිලි ගහන්න එන්න එපා ය කියල. ඕක අයිතිකරගන්න හදනව කියලත් කියාවි"

රාහුල තෙරණුවෝ හිස ඔසවා මදහස පෑහ. "ගොටු කොළ පාත්තිය ගැන සිතුවා ඇරෙන්න ඒ ඇත්තො ගැන මට කල්පනා වුණේ නෑ. ගොටු කොළ පඳුරු සරුසාර ව තියෙනවා දකින්න මම කැමති යි"

"ගොටු කොළ තමුන්නාන්සෙගෙ නෙමෙයි නම් ඇයි තමුන්නාන්සෙ මාන්සිවෙන්නෙ?"

"ගොම පෝර වැටුණාම අපූරුවට වැවෙනවා. මෙය කවුරු අයිතිකරගත්තත් කාරි නෑ. ගොම පෝර වැටිල තියෙනවා දුටුවාම ඒ ඇත්තො වඩාත් කැමතිවේවි"

"ඒ උන්නාන්සෙ එහෙම ඇත්තෙක් නෙමෙයි. මගෙන් අහාවි



කවුද පෝර දමල තියෙන්නෙ කියල. මඩ වහන්සෙය කියල කිව්වොත් මූණ නාක්කොරාගෙන කියාවි උන්නාන්සෙගෙ දේවලට ඇඟිලිගහන්න එපා යයි කියන්න කියල..........."

"මළ පොතේ අකුරක්වත් නොදන්න, ඉස්සර උන්නු අපේ මුත්තා කෙනෙක් ගැන අපේ අම්මා කියනවා මම අහල තියෙනවා සිංඤප්පු උන්නැහැ. ඒ අපේ අම්මගෙ තාත්තගෙත් තාත්තා. ඒ මුත්තා අනුන්ගෙ කුඹුරු පහුකරගෙන තමන්ගෙ කුඹුරට ගිහිං තිබෙන්නෙ කොහොම ද, අනුන්ගේ කුඹුරුවල දකින දකින වල් පැළේ නෙළාදලා. වතුර බැඳිය යුතු නම් වතුර බැඳලා. නියරක ගොම බෙට්ටක් තිබුණ නම් ඒක ඒ කුඹුරට ම වැටෙන්න කකුලෙන් තල්ලුකර දම්මා. ඒ වගෙ ඇත්තෙකුට තමන්ගේ කුඹුර වගේ ම අනුන්ගෙ කුඹුරුත් සරුසාර ව හැදිල තියෙනවා දකින්න මනාපයක් පහළවෙනවා. ආන් ඒ වගෙ සිංඤප්පු උන්නැහැ මාත් මනාපයි මේ ගොටු කොළ පාත්තිය සරුසාර වෙනවා දකින්න.........."

සිංඤප්පුට යමක් අවබෝධ වූවා විය හැකි යි. ඉන් කතාවෙන් තොර ව ළිඳ ළඟට ගොස් වතුර පතිට්ටුවකුත් පොල් කටුවකුත් රැගෙනවුත්, හැම ගොටු කොළ පඳුරකට ම වතුර පොල් කටු දෙක දෙක බැගින් බෙදුවේ ය.

සවස කාලය හෙයින් ඉර අව්ව පැර නැත. ගොටු කොළ පාත්තියේ ඉතිරි ව තුබූ වල් නෙළීම සඳහා සිංඤප්පු පහත්වි ය. පන්සලේ බැළලිය දන ශාලාව දෙස සිට අපහසුවෙන් මෙන් පැමිණ මඳ අව්වේ වැතිරුණා ය. ගැබ්බර හෙයින් ඇගේ උදරය විශාල ය. උදරයට හොඳින් අව්ව වැටෙන්න සලස්වා මඳක් උඩුබැල්ලෙන් බොරලු ගොඩ උඩ වැතිරගත් බැළලිය, කණ වූ ඇස අතින් වසා ගත්තා ය. ඇගේ ඒ ඇස කණ වූයේ නන්දරාම

ගේ කොණු මිටි පහරක් නිසා බව සිංඤප්පු දනී. ගොටු කොළ පාත්තිය ගැන රාහුල හාමුදුරුවන් දක්වන ප්‍රතිචාර පිළිබඳව ම ඔහු ගේ සිතට සිහිවිලි පහළවෙ යි.

"අපි දන් ගොටු කොළ පාත්තියෙ වල් පැළ උදුරන්නැහැ. බැරි ද හාමුදුරුවනේ මේ රටේ ඉන්න නරකයො ටික උදුරල දන්න?"

"හොඳ මිනිස්සු කී දෙනෙක් ඉතිරිවෙයි කියල ද සිංඤප්පු උන්නැහැ හිතන්නෙ?"

හොඳ මිනිසුන් යයි කියන්නේ, හොඳ දෑ කරන හොඳ දෑ සිතන උදවියට පමණක් බව සිංඤප්පු දනී. පළමු ව හේ පන්සල ගැන සිතුවේ ය. පන්සලේ පදුවන හාමුදුරුවන් තිදෙනාගෙන් කට පුරා හොඳ යයි කිව හැක්කේ රාහුල හාමුදුරුවන්ට පමණි. ගම ගැන සිතුවොත් ගමේ හොඳ මිනිසුන් වශයෙන් හැඳින්විය හැක්කේ වෙද මහතා ඇතුළු තවත් දෙතුන් දෙනෙකු පමණි. ඒ අනුව මුලු රටෙන් ම හොඳ මිනිසුන් හත් අට දහසකට වඩා සොයාගත නොහැකි යි. සිංඤප්පු අසරණයකු මෙන් තෙරණුවන් දෙස බැලුවේ ය.

"බුදු හාමුදුරුවන්ටත් බැරිවෙච්ච කොට මිනිසුන් හදන්න වෙන මොන ජගතට ද පුලුවන්........"

"සමාජයේ සියලුම දෙනා යහමග ගන්වන්න බුදු හාමුදුරුවන්ට පුළුවන් වුණා වෙන්න පුලුවන්. ඒත් ඉතා විශාල පිරිසක් යහමග ගන්වන්න උන්වහන්සේට පුලුවන් වුණා. අවුරුදු දෙදාදස් පන්සියකට පස්සෙ අදත් උන්වහන්සේගේ ධර්මය නිසා සැලකිය යුතු පිරියක් ධර්මයෙහි හැසිරෙනවා. හොඳ ඇත්තො වගේ ම නරක ඇත්තොත් ඉන්නවා. ඒ ඇත්තොත්



ඔහේ උන්නාවෙ සිංඤප්පු උන්නැහැ....."

සිංඤප්පු ගේ සිහිවිලි නැවතත් අවුල්වීමට වල් පැල සමහ වැවෙමින් තිබූ බෙහෙත් පැළෑටියක් හේතුවි ය. ඒ සිංහල බෙහෙත් කසායට නැතිව ම බැරි කටුවැල් බටු පැළයක් බව ඔහු හඳුනාගත්තේ අපවත් වී වදාළ ලොකු හාමුදුරුවන් වහන්සේ ගේ කාලයේ දන ශාලාව ඉදිරියේ ලොකු කටුවැල්බටු පඳුරක් තිබුණු නිසා ය.

"මේ බලන්නකො හාමුදුරුවනේ....... මං දන් මොකැයි කරන්නෙ? මේ කටුවැල් බටු පැළයක්. ඉන්දියාවෙලු මේවා හොඳට හැදෙන්නෙ. මෙහෙ බොහොම අමාරුයි පැළයක් පැළකොරන්න"

කටුවැල්බටු පැළෑටිය වල් පැළෑටියක් නො වේ. ගොටු කොළ පාත්තියට ම වඩා ඒ පැළෑටිය අගනේ යයි තෙරණුවෝ සිතූ හ. කළ යුත්තේ වැදගත් පැළෑටිය වැදගත් තැනක රෝපණය කිරීම ය.

"අපි මේ පැළෑටිය හොඳට අව්ව වැටෙන තැනක ඉන්දොමු?" රාහුල තෙරණුවෝ යෝජනා කළ හ.

"එසකොට හාමුදුරුවනේ මට නොතේරෙන දෙයක් මෙතැන තියෙනවා. මං මේ කල්පනා කෙළේ ඒක ගැනමයි. බොහොම කලාතුරකින් වල් පැළෑටි අස්සෙත් හොඳ පැළෑටි හැදෙනවා නේද? කටුවැල් බටු පැළේ අපි හිටෙව්වැයි? ඒ වුණාට මය හැදුණෙ. හොඳයි හාමුදුරුවනේ අපි නොදක්ක නම් මේ පැළේට මොකද වෙන්නෙ? තණ කොළ මේ පැළේ මරයි ද? මේ පැළේ තණ කොළ මරයිද? අනික, ගොටු කොළත් හොඳයි, කටුවැල් බටුත් හොඳයි. අපි එහෙනම් මොකෝ කටුවැල් බටු පැළේ

උගුල්ලලා වෙන තැනකින් හිටවන්න තනන්නෙ? මගෙ ඔළුව අවුල් වුණා හාමුදුරුවනේ මේවා කල්පනා කරල........"

සිංඤප්පු ප්‍රශ්නය මතුකරද්දී පුදුමයට මෙන් රාහුල තෙරණුවෝ ද ඒ ගැන සිතමින් සිටියෝ ය. උන්වහන්සේ ඒ ගැන කතාකෙළේ, වියළී ගොම මුසුකොට බුරුල් කළ පසේ පැළෑටිය රෝපණය කිරීමෙන් පසුව ය. සිංඤප්පු කැකිල්ල අතු කිහිපයක් පැළෑටිය වටේ ගැසුවේ පැළෑටියට සෙවණ පිණිස ය.

"මේ ලෝකෙ පවතින්නෙ පුදුමාකාර සම්බන්ධතාවකින්. එක්ක අනිකට සම්බන්ධයි. ගහකොළ අපිට සම්බන්ධයි. අපි ගහකොළට සම්බන්ධයි. නරක ය කියල, හොඳ නැතේ ය කියල, නුසුදුසු ය කියල කිසිම දෙයක් අයින් කළ යුතු නෑ......."
රාහුල තෙරණුවන් කතාකරද්දී, සිංඤප්පු උදැල්ලට එක් අතක් ද, තුනටියට අනික් අත ද ගසාගෙන නිහඬ ව අසාසිටියේ ය.

"....... අපි අනුකම්පාවක් නැතිව තණ කොළ උදුරල දමාපු එකත් වැරදියි. තණ කොළ අපිට ප්‍රයෝජන නැතිවාට හරකුන්ට බොහොම ප්‍රයෝජනවත්. ඒ තණ කොළ හරක් ප්‍රයෝජනයට ගන්නට පස්සෙ අපිටත් කිහිප අතකින් ප්‍රයෝජනවත් වෙනවා. ගවයා කොච්චර ප්‍රයෝජනවත් සතෙක් ද? ඒ සතාගේ ප්‍රධාන ආහාරය තණ. මිනිස්සු ගවයාගෙන් දහසක් වැඩ ගන්නවා අපි කිරි කියල බොන්නෙ මොනව ද සිංඤප්පු උන්නැහැ? බලමුකො තණ කොළත් අපිට අනියම් විදියෙන් වැඩදයි වෙන හැටි අපි කටුවැල් බටු පැලේ දක්කෙ නැතත්, මට විශ්වාසයි මේ කටුවැල් බටු පැලේ තණ කොළ අස්සෙන් කවද තමුත් මතුවෙනවා. ස්වභාව ධර්මයට කටුවැල් බටු පැළෙත් එකයි. තණ කොළත් එකයි. බුදුහාමුදුරුවො වගෙ තමා. හොඳ මිනිස්සුන්ටත් නරක මිනිස්සුන්ටත් සමාන සැලකිල්ලක් දක්වන්නෙ. වැස්ස වහිනකොට



හැම තැනට ම එක විදියට වැහි බිඳු වැටෙන්නා වගෙ තමා. ලෝකේ වැඩියෙන් තියෙන්න ඕනෑ තණ කොළ, කටු වැල් බටු නොවෙයි. ඒකයි කලාතුරකින් පමණක් කටුවැල් බටු පැළයක් පැළවෙන්නෙ. සමහර විට කටුවැල් ලොකුවට හැදෙනකොට ඒ ළඟ තිබෙන තණ මැරියන්න පුලුවන්. හැම තැනම තණ වැවෙන නිසා පාඩුවක් නෑ. මිනිස්සු ස්වභාව ධර්මයත් එක්ක ඕනෑවට වැඩිය හැප්පෙනවා. මිනිස්සු හිතන්නෙ ගහකොළ ඇට දෙළ සතාසීපාවා තමන්ගේ අවශ්‍යතාවට ම පවතිනවා කියල. ඒ නිසා මනාප දේ රැකගන්නවා. අනවශ්‍ය යයි සිතන දේ විනාශකරනවා. ඒකෙන් වෙන්නෙ ස්වභාව ධර්මයාගේ පවත්නා සමබරතාව ගිලිහෙන එකයි. ඒ සමබරතාව භයානක ලෙස ගිලිහුණු දට මනුෂ්‍යයන් විනාශයට පත්වෙනවා. එදට කාල ගුණය අයහපත් වෙලා ලෝකේ වසන්ට බැරි තත්ත්වයක් උදවේවි"

සිංඤප්පු උදැල්ලෙන් දකුණත මුදු හිස කැසුවේ ය. "එතකොට හාමුදුරුවනේ කටුවැල්බටුත් එකයි, තණ කොළත් එකයි නම්, හොඳින් හිටියත් එකයි, නරකින් හිටියත් එකයි: ඒක ද ඒකෙ තේරුම? බුදුහාමුදුරුවො හොඳ මිනිහට හොඳයි කිව්වෙ නැද්ද? නරක මිනිහට නරකයි කිව්වෙ නැද්ද?" සිංඤප්පු මෝඩයෙකු නොවේ. ඔහු ඇසුයේ වැදගත් ප්‍රශ්නයකි.

"බුදුහාමුදුරුවො නරක වැඩ කරන මිනිසුන් දක්කා. නරක වැඩ කරන මිනිසුන් නරක මිනිසුන්ය කියල පැත්තකට කෙළේ නෑ. බුදුහාමුදුරුවො දේශනා කෙළේ නරකක් කළොත් නරකක් ම වෙනවා, හොඳක් කළොත් හොඳක් ම වෙනවා කියල. හොඳ නරක ලෝකයේ පවතිනවා. හොඳ අඩුයි. නරක වැඩියි. හරියට කටුවැල් බටුයි තණකොළයි වගෙ. අප වගෙ පැවිද්දෙන්

උන්නාවෙ. දරු පවුල් රකින ගිහියොත් ඉන්න ඕනැ. හොඳ පැවිද්දන්ගෙන්ම ලෝකෙ පිරුණොත් ඊට පස්සෙ මිනිස් සමාජයක් ඇතිවෙන්නෙ නෑ. හරියට කටුවැල් බවු පඳුරු වලින් පොළව වැසුනොත් තණ කොළ සම්පූර්ණයෙන් ම වඳවෙන්නා වගෙ"

"අපි තණ කොළ උගුල්ලපු එක වැරදියි ද එහෙනම් හාමුදුරුවනේ?"

"හරි වැඩක් නොවන වගයි කල්පනාවට එන්නෙ"

"මගෙ ඔළුව අවුල්වුණා හාමුදුරුවනේ......."

"නැහැ සිංඤප්පු උන්නැහැ. ඔය ආකාරයට කල්පනා කරල අපි ලෝක ස්වභාවය තේරුම්ගන්න ඕනැ. ප්‍රඥාව කියන්නෙ ලෝක ස්වභාවය මනුෂ්‍ය ස්වභාවය තේරුම් ගැනීම"

"අනිත හාමුදුරුවනේ...... කටුවැල් බවුත් තණ කොළත් එකයි නම්, මාත් එකයි ඔය හාමුදුරුවොත් එකයි ද?"

"සිංඤප්පු උන්නැහැයි මායි කොච්චර නම් සමාන ද? වෙනස සිංඤප්පු උන්නැහැට වඩා මම සතුටින් සිටීම පමණයි. අපේ බුදු හාමුදුරුවො මුළු ලෝකෙට ම ඉගැන්නුවෙ ඕකනෙ. සැහැල්ලුවෙන් තෘප්තියෙන් ජීවත්වීම"



# 5

හිරු බැස යන ගොම්මන් වේලාවේ විහාර මලුවෙන් මෙරු පිටවන්නට වූහ. කපුටෝත් කවුඩෝත් ගාන්ධාර කුළුණ අවට ඉගිලෙමින් ඔවුන් ඩැහැගනිති. ඉගිලෙන මෙරුන් ඩැහැගැනීම අසීරු කාර්යයකැ යි වැටහුණු නිසා දෝ කපුටෙක් බිමට බැස බිම ඇවිදින මෙරුන් ගිලී.

අඳුර සනවත් ම පළමු ව කපුටෝත් දෙවැනි ව කවුඩෝත් නික්ම ගියෝ ය. දෙවනු ව ඔවුන් ගේ තැන ගැනීමට පැමිණියෝ ගෙම්බෝ ය. විහාර ගෙයි මකුළු දැල්වල පැටළුණු මෙරුන් ගේ පිහාටු පමණක් බිම වැටේ. බිම වැටුණු පිහාටු කුහුඹුවෝ ඔසවා යති.

මෙරුන්ට උපදින තටුන් හරියට බලයෙන් ධනයෙන් පිම්බී උඩ යන්නට තතන මිනිසාගේ අසීමිත ආසාවනට සමානකොට සිතමින් අරලිය ගස මුලට පැමිණි රාහුල තෙරණුවෝ මඳ ආලෝකයක් පවත්නා බටහිර අහස දෙස බැලූහ. මහ පොළවම

අඳුරින් වැසියන මෙ වන් වේලාවට විහාර මලුවේ හුදෙකලාව පසුවෙමින් නිහඬ සිතින් පසු වීමට තෙරණුවෝ රුචියක් දක්වති.

තෙරණුවන් ගේ සමාධිය බිඳීගියේ පන්සල් වැටේ යසපාල ගේ බල්ලා එක්විට ම බුරාහැළෙන්නට වූ නිසා ය. යසපාල ගේ ළමයි දෙදෙනා ද මොරදෙති. ඒ අතර බැණවැදීමකි. බල්ලා ගේ බිරුම් හඬට අවට බල්ලන් ද එක් වූ හෙයින් මහා ගෝෂාවක් පවතී. ගෝෂාව අතරින් යසපාල ගෙන් ද ලතෝනි හඬක් නැගිණි.

රාහුල තෙරණුවෝ විදුලි පන්දම දල්වාගන්වන ම කලබැගෑනිය සිදුවන යසපාල ගේ ගේ දෙසට වහා නික්මුණෝ ය. අඩක් දුර යන් ම වෙඩි හඬක් නික්මිණි. බුරා හැළෙමින් සිටි බල්ලා මරහඬ තළමින් දිවගොස් නිහඬවී ය.

රාහුල තෙරණුවන් යසපාල ගේ ගේ සමීපයට යන විට ළමයින්ගේ කෑගෑම ද නතර ව තිබිණි. ගේ ඇතුළේ කුප්පියක් දල්වෙමින් තිබේ. මිදුලේ කෙඳිරිගෑමකි. කොස් ගස මුල කසුකුසුවකි. එ තැන සිට රාහුල තෙරණුවන් ගේ මුහුණට හැර විදුලි පන්දම් එළියක් වැටිණි. තුවක්කුවක් ගත් සාහසිකයෙක් ඉදිරියට ආවේ ය.

"ඒයි හාමුදුරුවනේ, බණ අහන මිනිස්සු මෙතැන නෑ. හොඳ සිහිං යන්නයි කියන්නෙ. අඩියක් ඉස්සරහට තිබ්බොත් වෙඩි තියනවා"

මිදුලේ වැටී සිටින යසපාල දුබල හඬින් දරුවනට කතාකරයි. "පුතේ......., මගෙ ලොකු පුතේ...... වතුර උගුරක් පුතේ........"



පරම කැසකවාගෙන ලොකු පොල්ලක් අතේ තබාගෙන හුන් සාහසිකයෙක් අඳුර අතරින් ගෙතුළට ගොස් කෑගෑවේ ය. "හෙල්ලෙන්න එපා එකෙක්වත්. නැගිට්ටොත් මරනවා!"

මාරාවේශව සිටින සාහසිකයින්ට එරෙහිවීම මරණය ළඟාකර ගැන්මක් බව රාහුල තෙරණුවන්ට හැඟුන ද, පෙරළායාමට උන්වහන්සේ අදහස් නොකරති.

"මේ ඇත්තො අසරණයෙක්. රෝගියෙක්. කුරා කුහුඹුවෙකුටවත් වරදක් ඇති පුද්ගලයෙක් නොවෙයි......."

"බණ නවත්වගන්නවා හාමුදුරුවනේ. හොඳ හිහිං ආපහු හැරිලා යන්නයි කියන්නෙ!"

සාහසිකයින් යන්නමින් හෝ මෙල්ලවන පාටක් නැත. යසපාල ගේ ගෙට යාබද ගෙවල් දෙකක් ඇත ද, ඒ ගෙවල් දෙකේ සිටින්නේ ඔහු ගේ ඥාතීන් වුව ද ඒ කිසිවෙකුත් පෙනෙන්නට නැත. යටත් පිරිසෙයින් විදුලි පන්දම් එළියකුදු නොවැටේ. බස් රථයක් ආවේ ය. ඒ බස් රථයේ එළියෙන් බිඳක් යසපාල ගේ ගෙමිදුලටත් සාහසිකයින් ගේ ඇඟටත් වැටිණි. ඔවුහු නොසෙල්වුන හ.

"මේ ඇත්තො වරදක් කළා නම් ඒ වරද මට කියන්න"

කොස් ගස මුළ සිට විදුලි පන්දම තෙරණුවන් ගේ මුහුණට ම දල් වූ පුද්ගලයා සමීපයට ම පැමිණියේ ය. "....... යනව හාමුදුරුවනේ!" හේ කුණුහරුපයක් මුළට දමා සැරෙන් කීවේ ය. ඒ, යසපාලගෙන් මේසන් වැඩ ඉගෙන, කලක් ඔහුගෙන් කමින් බොමින් මෙහි ගත කොට, යසපාල ගේ බිරින්දෑ රැගෙන පළාගිය පියදස බව තෙරණුවන්ට හඳුනාගත හැකිවී ය.

යසපාල වතුර ඉල්ලා දිගින් දිගට ම කෙඳිරිගායි. රාහුල

තෙරණුවෝ විදුලි පන්දම ඔහු දෙසට එල්ල කළෝ ය.

"........ බලන්නෙ හාමුදුරුවනෝ? අන්තිම වතාවටයි මේ කියන්නෙ. යනව හොඳ හිතිං යන්න!"

යසපාල ලේ විලක වැතිර සිටින බව තෙරණුවන්ට දක්නට ලැබිණි. පොල්ලක් ගත් සාහසිකයා දරුවන්ට තර්ජනය කරයි.

සාහසිකයින් සමග තර්ක කිරීම නිරර්ථක හෙයින්, සාධු චේතනාව පෙරදැරි ව අසරණයාට පිහිටවීම සඳහා ඉදිරියට යා යුතු යයි තෙරණුවෝ අධිෂ්ඨානය කොටගත් හ. මරණය ගැන සිතා පසුබට විය යුතු අවස්ථාවක් නොවේ.

"මම ආවෙ ඔය ඇත්තන්ට හොඳ නරක කියා දෙන්න නොවෙයි. ඔය ඇත්තො කරපු හොඳ නරක ඔය ඇත්තො ගෙනියයි. වතුර ඉල්ලා, කෙඳිරිගාන අසරණයාට පිහිටවීම මගේ යුතුකමක්. අසරණයාට වතුර දෙන්න යන මට ඔය ඇත්තො වෙඩි තබනවා නම් වෙඩි තබන්න. ඒක ඔය ඇත්තන්ගෙ කාර්යයක්"

දැඩි අධිෂ්ඨානය හා මෛත්‍රීපූර්වක සිත පෙරටුකොට රාහුල තෙරණුවෝ ඉදිරියට ගමන්ගත් හ. තුවක්කු ගත් සාහසිකයා ඉදිරියට පැන තුවක්කු කට තෙරණුවන් ගේ පපුවට තැබුවේ ය.

"යන්න එපා. ආයින් දෙකක් නෑ. කියන එක කියනවාමයි!"

තුවක්කු කඳ පැත්තකට කළ තෙරණුවෝ තුවක්කු ගැනවත්, පොලු මුගුරු ගැනවත්, තැකීමක් නොකොට වතුර ගෙනෙනු පිණිස ගේ තුළට නික්මෙද්දී තුන් වරක් තමා පසුපසින් කොකා ගැස්සෙන හඬ උන්වහන්සේට ඇසිණි.



තෙරණුවන් ගේ හිස් හෙඩියට එල්ලකොට තුන් වරක් ම කොකා ගැස්සූ සාහසිකයා පුදුමයට පත් ව, තුවක්කු කට අහසට එල්ලකොට යළි කොකා ගැස්සුවේ ය. තුවක්කුව පත්තුවී ය. තෙරණුවන් හැරී බැලුවේවත් නැත.

තුවක්කුව ගලවා හිස් පතරොම ඉවතේ රඳවා ගනිද්දී සාහසිකයා ගේ අත වෙව්ලුවේ ය. ඒ වෙව්ලිල්ල තුවක්කුවට අලුත් පතරොමක් ද වැසූ පසුවත් නතරවූයේ නැත. ඔහුට තද බියක් දැනිණි. ඒ බිය, තුවක්කුව තෙ වරක් ම පත්තුනුවූ බව දන්නා සෙස්සවුන් තුළ ද ඇති වී තිබිණි. එක්තැන් වූ ඔවුහු අඳුරේ ම නොපෙනී ගියෝ ය.

තුවක්කු ගැන, පොලු මුගුරු ගැන මඳ හෝ අවධානයක් යොමු නොකළ තෙරණුවෝ විදුලි පන්දම දල්වා ගෙන කුස්සියට ගොස් කළය උඩ තිබූ පොල් කට්ටට වතුර පුරවා ගෙනවුත් අසරණයාගේ හිස ළඟ පහත්වූ හ. බියෙන් ගුලිගැසී සිටි දරුවෝ දිව ආහ. යසපාල ගේ ලෙයින් පෙඟීගිය මුඛයේ වැලි පිසදමා දල්වන ලද විදුලි පන්දම බිම තැබූ තෙරණුවෝ දකුණතින් වතුර පොල් කට්ට ගෙන, වමතින් හිස අල්ලා මඳක් එසවූ හ. වමතේ ඇඟිලි දෙකක් හිස් කට්ට ඇතුළට ගිය බව උන්වහන්සේට දැනිණි. දරුවෝ බිරාන්ත ව සිටිති. ගැහෙමින් සිටි ඔවුහු හඬන්නටත් බියවූහ.

වමත බුරුල්කොට හිස යළි පහත්කළ තෙරණුවෝ වතුර පොල් කටුව වමතට මාරුකොට දකුණතින් වතුර ගෙන අසරණයාගේ කටට වත්කළ හ. අමු ලේ සේදී බිම වැටිණි. යසපාල හුස්මක් නොගනී. අතපය නොසොල්වයි. ඔහු මිය ගොසිනි.

* * *

රාහුල තෙරණුවන් පන්සලට පැමිණියේ මහ වැස්සට තෙමෙමිනි. ඇඟපත පෝද තෙමුණු සිවුර මාරුකොට ගන්නටත් පෙර, දුම් දමන කෝපි කෝප්පයක් රැගෙන සිංඤප්පු කාමරයට පැමිණියේ ය.

"කෝපිත් හැදුව ද සිංඤප්පු උන්නැහැ?"

"මං දන්නවා තෙමිගෙන එන වග"

කෝපි කෝප්පය දැතින් ම තෙරණුවන්ට පිදූ සිංඤප්පු බිම වැතිර තෙරණුවන්ට නමස්කාරය කෙළේ ය.

"ඇයි සිංඤප්පු උන්නැහැ........"

"එහෙමයි. එහෙමයි. මම හරියාකාර ව තමුන්නාන්සේ දුටුවේ අදයි. බැටරිය එළිය කරගෙන තමුන්නාන්සේ සිංහයා වගෙ ඉස්සරහට යනකොට අරූ පිටුපස්සෙන් එළව එළවා කොකා ගස්සනවා මං බලාගෙනයි.........."

"සිංඤප්පු උන්නැහැ උන්න ද ඒ කිට්ටුව?"

"උන්හදත් අහනවා. මං උන්නෙ හබරල පඳුරෙ. තමුන්නාන්සෙ විහාර ගෙයින් එනවත් මම බලාගෙනයි"

"කොයි වෙලාවෙද එතැනට ගියේ?"

"තමුන්නාන්සේට ටිකකට කලින්. බල්ල බුරන කොට මං උන්නෙ බණ මඩුව ළඟ. ළමයි ටික එක පුමේට කෑගහනකොට හබරල පඳුරට මුවාවෙලා බැලුවා. හෙණ ගහන අපරාධයක් හාමුදුරුවනේ. උන් බල්ලව මරල ගේ ඇතුළට ගියා. එකෙක් බාස්උන්නැහැගෙ බෙල්ලෙන් අල්ලාගෙන ඇවිල්ලා මිදුලට තල්ලු කළා. වැටුණා. අර බාස් උන්නැහැගෙ ගෑනි හොරෙන් අරංගිය එකා තමයි බිම වැටිච්ච බාස් උන්නැහැට කබරයට



ගහන්න වගෙ ගැහැව්වෙ. කොහොම ගැහැව්වද මම දන්නෙ නෑ. බාස් උන්නැහැ 'අයියෝ........ බුදු අම්මෝ.......' කියල තුන් හතර සැරයක් කෑගැහුවා. ඔබවහන්සේ ආවෙ ඊට පස්සෙ"

"හිතුවාටත් වඩා මිනිස්සු දරුණු නොවැ සිංඤප්පු උන්නැහැ?"

නායක ස්ථවිරයෝ රාහුල තෙරණුවන් ගේ කාමරයට කර පොවා බැලූ හ. කෝපි කෝප්පය මේසය මත තැබූ රාහුල තෙරණුවෝ ගෞරවයෙන් එකත්පස් ව සිටිය හ.

"මං නොගියට සිංඤප්පු මට කිව වෙච්ච සිද්දිය. දැන් පොලිසිය මෙහාටත් ඒවි. සාක්කි දෙන්න වේවි. උසාවි යන්න වේවි. මිනීමරුවො තමුසෙත් එක්ක වයිර බැඳගනීවි. ඇයි මෙහෙම කරදරවලට පණින්නෙ? වෙලාව හොඳ නිසාවෙත් තමුසෙට තියාපු වෙඩි පත්තුවුණේ නැති එක ඇත්ත. බැරි වෙලාවත් පත්තුවුණා නම්? එහෙනම් තමුසෙ අද බාස් උන්නැහැගෙ මිදුලෙ! ඇයි මෙහෙම දේවලට යන්නෙ? තමුසෙ ගියාට ඒ අහළ පහළ එක මිනිහෙක් ගියා ද? බාස් ගෙ නෑදෑයො නේද ගේ වටේ ම ඉන්නෙ?"

කරබා සිටිනවා ඇරෙන්න උත්තර කියන්න යාම කාලෝචිත නොවේ යයි රාහුල තෙරණුවෝ සිතති.

"බාස්ගෙ ළමයින්ට දනෙ ඔතල දෙනවා. බාස්ට පන්සලේ සල්ලි බාගෙ දෙනවා. ඇයි තමුසෙට මේ බාස් ගැන මෙච්චර කැක්කුම? අපි පන්සල්වලට වෙලා ඉන්නෙ ඒ ඇත්තන්ගෙ කරදරවලින් ඈත්වෙන්න. ඒ ඇත්තන්ගෙ කරදර අපේ කරදර විදියට ඇයි තමුසෙ බාරගන්නෙ? තමුසේ මහ දර්ශනිකයා........ උසාවි බඩගාන්න මගෙන් සල්ලි බාගෙ ඉල්ලනවාහෙම නොවෙයි. මේ කරදරවලට මාව පටලවාගන්න එපා!"

නායක ස්ථවිරයන්ගේ කටහඬ යළි නොඇසුනු නිසා රාහුල තෙරණුවෝ හිස ඔසවා බැලූ හ. සිංඤප්පු හිස දමා බැලුවේ ය.

"මං අහගෙන හිටියා. ඕං දක්කද උන්නාන්සෙගෙ හැටි ඔහොම තමයි" සිංඤප්පු කලකිරුනු සිතින් කී ය. "ඔබවහන්සේටත් කලින් මං පන්සලට දුවගෙන ඇවිල්ලා ලොකු හාමුදුරුවන්ට මේ සිද්දිය කිව්වෙ උන්නාන්සෙ ආඩම්බරවෙයි කියල හිතාන. හාන්සි පුටුවෙන් නැගිට්ටෙ නෑ. බුලත් කෙල ගගහ මගෙ කතාව අහගෙන ඉඳල වචන දෙක තුනක් සැරෙන් සැරේට කිව්වා. 'මොන එහෙකට ගියා ද?' 'පත්තුවුණේ නැති එක හොඳ.' 'සාක්කි දෙන්න වේවි.' අන්තිමට කිව්වා, 'දැන් ඉතිං උසාවි බඩගාපල්ලකො.' කියල"

රාහුල තෙරණුවෝ කෝපි කෝප්පය යළි අතට ගත් හ. එක උගුරක් පානය කළහ. "යුක්තියක් ඉෂ්ඨවිය යුතු අවස්ථාවේ දී ඉදිරිපත්වීම වරදක් නොවෙයි. ලොකු හාමුදුරුවෝ හිතන්නෙ උන්වහන්සේට කරදරයක් වෙයි කියල. මගෙ යුතුකම උන්වහන්සේටත් කරදරයක් නොකිරීමයි......."

තෙරණුවන් කතාකෙළේ කලකිරීම මුසු හැඟීමෙනැයි සිංඤප්පු සිතුවේ ය.

"ඕවා ගණන්ගන්න එපා හාමුදුරුවනේ" සිංඤප්පු කීය. "මං දන්නවා ලොකු හාමුදුරුවෝ මොක කීවත් රටේ මිනිස්සු හාමුදුරුවන්ට තවත් පැහැදෙනවා. ඒ මිනිස්සු තමුන්නාන්සේ ගැන ආඩම්බරයෙන් කතාකරනවා අහං ඉන්න මං මනාපයි"

සිංඤප්පුට පිළිතුරක් නොලැබිණි. තමන් වෙනි උණ්ඩයට මූහුණ දුන්නේ දේශපාලනඥයකු මෙන් තමන් ඇති කර



ගන්නවත්, කිසිවෙකුගෙන් කීර්ති ප්‍රශංසාවක් ලබන්නවත් නොව, මනුෂ්‍ය ධර්මය උඩයයි උන්වහන්සේ සිතූ හ.

නායක ස්ථවිරයින්ගේ කතාව නිසා රාහුල තෙරණුවන්ට සැබැවින් ම කලකිරීමක් ඇති නොවී ය. උන්වහන්සේ අනුන් ගැන නොව තමන් ගැන සිතති. පළමුව අනුන් ගැන නොව තමා ගැන සිතන්නට ඕනෑම මිනිසෙකුට අයිතියක් තිබේ.

* * *

රාහුලගෙන් සාක්ෂි සටහන් කරගනු සඳහා පොලීසිය වහාම පැමිණෙනු ඇතැ යි සෝමාරාම ස්ථවිරයෝ සිතූ හ. පාරේ යන වාහන ගැන උන්වහන්සේ වෙනදට වඩා සැලකිලිමත් වූයේ එහෙයිනි. ඒ අතර යසපාල ගැනත්, යසපාල ගේ බිරින්දෑ ගැනත් උන් වහන්සේට කල්පනාවි ය.

යසපාල මියගොස් ඇත. මිනීමැරුම් චෝදනාවට පියදාස එල්ලුම් ගසට හෝ දිගුකාලීන ව හිරේට හෝ නියමවනු ඇත. එ විට කමලාවතී තම දරු දෙදෙනා නිසා යළි ගෙදර පදිංචියට එනු නියත යි. යන්තම් පනහ ඉක්මවා සිටින නායක ස්ථවිරයන්ට ඒ හැඟුම ප්‍රීතිය ගෙන දෙන්නක් විය. හේතුව, කමලාවතී සම්බන්ධයෙන් උන්වහන්සේ ගේ හිතේ තිබූ "පිළිබඳ සිත" මේ අවස්ථාවේ උත්සන්න ලෙස මතුවීම යි.

කමලාවතී, යසපාල සමග දිග ආ දිනය, අද ඊයේ මෙන් සෝමාරාම ස්ථවිරයන්ට මතක ය. එද පාලම් කටේ වතුර පාරට දමන්ට තරම් තදින් වැසි ඇද වැටුණු දිනයකි.

උන්වහන්සේ කමලාවතී නියමාකාරයෙන් දුටුවේ මඟුලට සතියකට පමණ පසු විහාර මලුවේ දී ය. කමලාවතී ඇඳ සිටියේ රතු තිත් තිත් තියෙන සුදු චීත්තයකි. කමලාවතී පිළිබඳ මතක අලුත් කරගනිමින් හාන්සි පුටුවේ ඇල ව සිටින නායක ස්ථවිරයින් අසලින් කොප් ඇට මීයෙකු කටින් ගත් බැලලිය දිව ගියා ය. කොප් ඇට මීයා ගේ හිස තිබුණේ බැලලිය ගේ කට ඇතුළේ හෙයින් ඌට අනුකම්පා කිරීම තේරුමක් නැතැයි සිතූ ස්ථවිරයෝ කමලාවතී ගැන ම සිතූහ.

දිවි හිමියෙන් ස්ත්‍රී සමාගමක අත්දැකීමක් නැති ව සිටි සෝමාරාම ස්ථවිරයින්, ඒ අත්දැකීම කමලාවතීගෙන් ලබාගන්ට කැමැත්තෙන් සිටියත්, ඒ ඉටුකර ගත නොහැකි වූයේ කවර හෙනහුරෙකු හෝ හැමදම මැද්දට පැන්න නිසා ය. කමලාවතී, ළමයා ගෙදර දමා මහ දවාලේ විහාරයට අවුත් විහාර ගෙයි මකුළු දැල් කැඩුවේත්, නවත් වරක් බටු පැළවලට දමන්නට යයි කියා පරණ විහාර ගෙයි වවුල් බෙටි එක්කාසු කෙළේත් හාමුදුරුවන් ගේ ආසාව ඉටුකිරීමට වුවත්, ඒ හැම වේලාවක ම කවුරුන් හෝ විහාරයට පැමිණියේ ය. මුල් දිනවල කමලාවතීට දේශනා කළ පුද්ගලික බණ මතක්වීමෙන් සිනාවක් ද, ඒ සමඟ ම මඳ ලජ්ජාවක් ද ඇතිවීමෙන් සෝමාරාම ස්ථවිරයෝ හිස් ගෙඩිය දෑතින් ම අතගෑහ. මුල් ම සිද්ධිය සිද්ධ වූයේ විහාර ගෙයි බුදු හාමුදුරුවන් ඉදිරියේ දී ම ය.

කමලාවතී බුදුහාමුදුරුවන්ට මල් පුද උන්වහන්සේ ඉදිරියේ පසග පිහිටුවා වඳිමින් සිටියා ය. ඇය පිටුපසින් සිටි සෝමාරාම ස්ථවිරයන්ට බෝලයක් මෙන් උඩට මතු වූ ඇගේ උකුල් පෙදෙස දක රිස්සුම් නැතිවී ය. විහාර ගෙයි හෝ අවට කිසිවෙකුත් නැති බව දන්නා ස්ථවිර තෙමේ, හිතට ධෛර්ය



උපදවා පිටුපසින් ගොස් ඇගේ තන මඬල හසුවන සේ මැසවා දැඩි ලෙස ග්‍රහණය කොට දෙ වරක් සිපගත්තේ ය. බලාපොරොත්තු නුවූ සිද්ධියෙන් පළමුව විස්මිත්නයටත්, දෙවනු ව බියටත් පත් කමලාවතී ග්‍රහණයෙන් මිදී එළියට පැන බිම බලා ගත්තා ය. අනතුරුව වටපිට බලන්නටත්, සිටගෙන සිටින්නටත් වාරු නැත්තියක මෙන් හුන් තැන ම බිම හිඳ විහාර මලුවේ තණ උගුල්ලන්නට වූවා ය. හස්ත මුද්‍රාවෙන් කමලාවතී තමන් වෙත කැඳවාගැනීමට සෝමාරාම ස්ථවිරයන්ට වුවමනා වුවත් ඇය තමන් දෙස නොබලා බිමම බලා සිටි හෙයින් අවසානයේ තමන් කන්ද උඩට යා යුතු යයි සිතා උන්වහන්සේ එහි ගියෝය. එදා තමන්ට පුදුමාකාර ආත්ම ශක්තියක් තිබූ බව සෝමාරාම ස්ථවිරයන්ට මතක ය.

කෙලෙසුන්ගෙන් බර පුහුදුන් මිනිසුන්ට බුදුරජාණන් වහන්සේ අනුකම්පා කළා මිස දඬුවම් නුදුන් හෙයින්, තමන් ගැන ද උන්වහන්සේ අනුකම්පා කරනු ඇතැ යි සෝමාරාම ස්ථවිරයෝ දනුදු සිතති.

"කමලාවතී බයවුණා ද?"

"හාමුදුරුවන්ට පව් නැද්ද? මටත් පව්. හාමුදුරුවො බුදුහාමුදුරුවො ඉස්සරහ යස වැඩේනෙ කෙළේ!"

"කමලාවතීට පිස්සු"

"මට නෙමෙයි පිස්සු – හාමුදුරුවන්ට!"

"මට පිස්සු හැදුනෙ කමලාවතී උන්නු ඉරියව්වට නොවැ!"

"එහෙම නේන්නම් බුදුහාමුදුරුවන්ට වඳින්නෙ. ඔච්චර බණ දනගෙනත් හාමුදුරුවො අපාගතවෙන්න හදනවා! ඒකට මාවත්

හවුල්කරගන්න හදනවා!"

සෝමාරාම ස්ථවිරයින්ගේ කාමාශාව මොහොතකට යටපත් වී ලජ්ජාව මතුවී ය. එහෙත් පසුබට නොවිය යුතු යයි කල්පනා කළ උන්වහන්සේ, බණ බණවලින් ම බිඳිය යුතු යයි සිතූ හ.

"කමලාවතී විනය පිටකය කියවලා තියෙනවා ද?"

"ඒක තියෙන්නෙ අපිට නෙමෙයි, හාමුදුරුවන්ට"

තමා බිම හිඳ ගෙන සිටිය දී හාමුදුරුවන් තමා ළඟ සිටගෙන සිටීම හොඳ නැතැ යි සිතූ කමලාවතී, නැගිට අහස දෙස බලාගෙන ගොස් පරන විහාරගෙයි බිත්තියක් අල්ලාගත්තා ය.

කමලාවතී ගෙදර නුදුටුවා විහාර භූමිය වටේ කැරකැවෙන්නේ ඇය තමාට කැමති නිසා බවත්, ඇය බය වී සිටින්නේ පවට මිස තමන්ට නොවන බවත් සෝමාරාම ස්ථවිරයින්ට සක්සුදක් සේ පැහැදිලිවී ය. උන්වහන්සේ යළි කන්ද ළඟට සම්ප්‍රාප්ත වූහ.

පන්සල් වත්තේ දිගෙලිකර හුන් හරකුන් දෙදෙනා ලිහාගෙන අබරයියා පල්ලම් බැහී. රළ වැටෙන කාලය හෙයින් බල්ලෝ පාර පැන්නේ පොරකති. දෙදෙනෙක් පොරකද්දී, සෙසු බල්ලෝ බැල්ලිය පසුපස දුවති. මේ බලු සිද්ධිය තමන්ගේ සිද්ධියට කොහොමත්ම සම්බන්ධකර සිතන්නට ස්ථවිර තෙමේ කල්පනා නොකෙළේ ය.

"කමලාවතී බයවුණාට බයවෙන්න දෙයක් නෑ. කමලාවතී කැමති නම් ඒක තමයි හාමුදුරු කෙනෙකුට දෙන්න පුලුවන් උතුම්ම දානය! ඊට වැඩිය උත්තරීතර දානයක් තවත් නැතැ කියල



විනය පිටකයෙ තියෙනවා"

කමලාවතී ඇස් දෙක ම උඩ යවා ස්ථවිරයින් දෙස බැලුවා ය. මෙ වැනි බණක් ඇය කවදවත් අසා නැත.

"ඇයි හිතාගන්න බැරි ද?" සෝමාරාම ස්ථවිරයෝ නැවත දුරටත් කතාකරන්නට වන්හ. "කුසගින්නෙ පෙළෙන්නෙකුට බත් පතක් දුන්නාම ඒක පරලොව සැප සම්පත් ලබන්න තරම් පිනක් නම්, මහණ උන්නාන්සෙ කෙනෙකුට මේ දානය දුන්නාම තව්තිසාවෙ දිව්‍යාංගනාවක් වෙන්න තරම් උතුම් කුශල කර්මයක්. ඒක තමයි කාන්තාවකට දෙන්න පුලුවන් උතුම්ම දානය. හැබැයි කමලාවතී ගේ කැමැත්ත තියෙන්න ඕනැ"

එද තමන් ඒ බොරු ටික කීවේ කෙසේ ද යි සෝමාරාම ස්ථවිරයන්ට දැනුන් පුදුමයකි. බුදුහාමුදුරුවන්ගේ කාලයේ සිටි උදායි වැනි කාමුක පැවිද්දන් තරුණ උපාසිකාවන්ට මේ විදියට "බණ" දේශනා කර ඇති බව උන් වහන්සේ විනය පිටකයෙන් කියවා තිබිණි.

කමලාවතී එද හාමුදුරුවන් ගේ තීම සියේට සිය ම පිළි නොගත්තත්, ඇයට උන්වහන්සේ ගැන දුකක් ඇතිවී ය. සැමියකු ද සිටින තමාගේ රාගාසාව නොනිවෙන ගින්නක් ලෙසින් ඇවිලෙන කල, සිවුර දරා සිටින මේ සව්බලැති පුද්ගලයාට එය කෙසේ පවතිනු ඇද්ද යි ඕ කල්පනා කළා ය. පුදුම වියයුත්තේ මේ බර හා වේදනාව උන්වහන්සේ දරාගෙන ඉන්නා ඉදුම ට ය!

"හාමුදුරුවන්ට පව් නැත්නම් මට මොකද?"

සෝමාරාම ස්ථවිරයින්ට ඒ වචන ටික ජීවිතයට ම අමතක නොවෙයි. ඇය වචන ටික කීවේ කට කොණකින් හිනාවෙමිනි.

එදා කමලාවතී දනය පිළිගන්වන්න සූදානම් වෙද්දී, ඈගේ මලයා කෙනෙක් ඇය සොයාගෙන විහාර මලුවට ඇවිත් "අක්කේ........" යනුවෙන් කෑගසන්නට වූයේ ය.

තමන්ට වැරදුණේ ඒ දවස්වල ය. මෙ ද ආවොත් වරදින්න විදියක් නැතැ යි සෝමාරාම ස්ථවිරයෝ සිතති. හේතුව, විහාරයේත් ආරාමයේත් තමන් ගේ අණසක පවත්නා හෙයිනි.

කොයි ආකාරයකින් හෝ ස්ත්‍රී සමාගමක ඇසුරක් නොතිබීම තමන් ගේ සිල්වත්කමේ ලක්ෂණයක් හා ශක්තියක් බව යළි සිහිපත් කළ ස්ථවිරයෝ හැමදේ ම වන්නේ හොඳට යයි සිතූහ.

* * *

කමලාවතී දෙ තුන් දිනක් ඇතුළත තමන් හමුවට පැමිණෙතැ යි නායක ස්ථවිරයින් කල්පනා කළත්, පොලිසිය පැමිණෙන්නටත් ප්‍රථම මධ්‍යම රාත්‍රියේ ඕ පන්සලට පැමිණියා ය. පොලිසියේ පැමිණීම බලාපොරොත්තුවෙන් නොනිදා සිටි ලොකු හාමුදුරුවන් ළඟට පළමු ව පැමිණියේ සිංඤප්පු ය.

"ලොකු හාමුදුරුවනේ, අර ගැනි ඇවිල්ලා. අර මරාපු යසපාල බාස් උන්නැහැගෙ ගෑනි"

"තනිවම ද ඇවිත් ඉන්නෙ?"

"ඒකි කිව්වෙ නම් එහෙම තමයි. මිනීමරුවත් එක්ක ඇවිදින් ඌ මග නතරවෙලා මේ ගෑනි විතරක් පන්සලට එන්න ඇති.



තමන්ගෙ මිනිහගෙ මිණියවත්, තමන්ගෙ ළමයින්ගෙ මූණුවත් නොබලා මේ ගෑනි කැලෑ පාරෙන් පන්සලට මේ මහ රෑ ඇවිත් තියෙන්නෙ. මං හිතන විදියට පොඩි හාමුදුරුවන්ට සාක්කි දෙන්න එපැයි කියන්න වෙන්න ඇති. ඔන්න ඕකිවයි හාමුදුරුවනේ එල්ලුම් ගස් යවන්න ඕනැ! ඕකි තමයි මේ ඔක්කෝටම මුල!"

"උඹ කෑ නොගහ හිටපන් සිංඤප්පු"

මාස ගණනකින් නුදුටු කමලාවතී දක බලාගැනීමේ ආසාවක් ස්ථවිරයින්ට ඇතිවි ය. කෙසේ වෙතත්, සිනා මුහුණක් ප්‍රදර්ශනය නොකොට ගාම්භීර මුහුණින් යුතුව බිම බලාගෙන හාන්සි පුටුව ළඟට ගිය සෝමාරාම ස්ථවිරයෝ තමන් ඉදිරියේ වැටී මහ හඬින් හඬන්නවන් ස්ත්‍රිය දෙස කෙළින් බැලූහ.

"නොහඬා ආපු කාරණය කිව්ව නම්........"

කඳුළින් පෙඟිගිය මුහුණ සිමෙන්ති පොළවේ ඔබාගෙන හැඬූ ගැහැනිය හිස මඳක් ඔසවා ඉකිගසන්නට වූවා ය.

"කමලාවතී හඬන්නෙ කා වෙනුවෙන් ද? බාස් උන්නැහැ වෙනුවෙන් ද, නැත්නම් දූත් ඉන්න පුරුෂයා වෙනුවෙන් ද?"

"ඒ දෙන්නයි දරු පැටවුන් දෙන්නයි වෙනුවෙන් හාමුදුරුවනේ......"

කමලාවතී ගේ කතාව අසා නායක ස්ථවිරයින්ට වඩා පුදුම වූයේ සිංඤප්පු ය. කමලාවතී ගේ දෑසින් තවමත් කඳුළු බේරේ, ඕ හිස ඔසවා වටපිට බැලුවා ය, බලා ඉතා සෙමින් කතාකළා ය.

"මේ මිනිහත් එක්ක ගිය ද ඉඳල මං හිතිං වින්ද දුක් කන්දරාව දෙයි හාමුදුරුවො විතරයි දන්නෙ. කන්න උයන කොටත්, කන්න ගන්න කොටත්, මගෙ දරු පැටව් දෙන්න මට මතක් වෙනවා"

"ඇයි කමලාවතී උඹ එහෙනම් ඒ මිනිහත් එක්ක තවමත් ඉන්නෙ?"

"කරුමෙ, මගෙ කරුමෙ හාමුදුරුනේ" කමලාවතී මිදුල දෙස බලා යළි සිංඤප්පු දෙස බැලුවා ය. සිංඤප්පු සිටින නිසා කිවයුතු දෑ කෙළින් කිව නොහැකි ව ඇති බව ඕ ඒ බැල්මෙන් නායක ස්ථවිරයින්ට හැඟවූවා ය.

"සිංඤප්පු උඹ පැත්තකට පලයන්, උඹ උඹේ නිදා ගන්න තැනට පලයන්"

සිංඤප්පු කුටු කුටු ගා තනියම කියවමින් ගියේ ය.

ජීප් රථයක් පන්සල පසුකොට ගොස් යසපාල ගේ ගේ ළඟ නවත්වනවා සිංඤප්පුට ඇසිණි. ඒ පුවත පොඩි හාමුදුරුවන්ට දැනුම් දී අනතුරු ව එහි ගොස් බැලීමට හේ අදහස් කරයි.

"කමලාවතී, උඹ දැන් ආවෙ කා එක්ක ද?"

"පියදාසත් එක්ක. ඒ මිනිහ පන්සලේ නාන ළිඳ ළඟ නැවතිලා මට එන්න කිව්වා" කමලාවතී කතා කරන්නේ ඉතා සෙමිනි. ඇගේ මුහුණේ කඳුළු දැන් නැත.

"......ඊකා යස්සා වේසයෙන් ගෙදර ගිහිල්ලා, මගෙ කෙස් වල්ලෙන් අල්ලාන මට කිව්වා, අන්න තොගෙ මිනිහට මම වැඩේ දුන්නා. ඇයි තෝ කොච්චරවාත්ම කඳුළු පෙරන්නෙ උෟ හිත්දෙන කියල. මට හුස්ම අල්ලන්න බැරිව වගෙ ගියා. උෟ



මගෙ පිටට ගැහුවා. මං ඇහුවා උඹෙයි දෙන්න ගැන, උන් මැරුවෙ නෑ, මරන්න ඕනැ කාලකණ්ණියා මැරුව කිව්වා. ඊට පස්සෙ මාව එළියට දල උෟම දොර වැහුවා. මං පස්සෙන් එර කියල හැලූ පාරෙන් ආවා, මං හිතුවා මගෙ මිනිහ පෙන්වන්න එක්කාපු කරගෙන එනව කියල. පන්සල් වත්ත මුදුනෙදි මං අපේ වත්ත දිහාට දුවන්න හනනකොට උෟ ආයින් මගෙ කෙස් වල්ලෙන් අල්ලාගත්තා. 'උගෙ මොනව බලන්න ද? උෟ මැරිලා, තෝ මං එක්කාපු කරගෙන ආවෙ උෟව පෙන්නන්න නෙමෙයි. දැන් තෝ පල පන්සලට. පොඩි හාමුදුරුවො මාවත් දැක්කා. අනිත් උනුත් දැක්කා. තෝ ලොකු හාමුදුරුවන්ට කියාපිය පොඩි හාමුදුරුවන්ට සාක්කි දෙන්න එපැයි කියන්න කියලා' මට ඔහොම කියල උෟ ඊට පස්සෙ පල්ලම් බැහැල නාවැටිය දිගේ ඇවිත් ළිඳ ළඟ නැවතිලා මාව එව්වා"

"සිංඤප්පු කියන්නත් වගෙ මේ ඔක්කොටම මුල උඹෙයි කමලාවතී. ඒ මිනිහ තිරිසනෙක් වග දැනගත්තාම උඹට තිබුණේ ගෙදර එන්න. ඇයි උඹ ඒ තිරිසනා ළඟ නැවතුණේ?"

"මය මළුයි කියන මගෙ මිනිහා දිවිය ලෝකෙ උත්පාදවෙන්න ඕනැ හාමුදුරුවනේ. මට ඒ මිනිහ හොඳ වැඩිවුණා. ඒ මිනිහ මට නිය සිටින් පාරක් ගහල නෑ. බැණල නෑ. මේ මිනිහා එහෙම නෑ. මට ගහනව. බණිනවා. ඒ ඔක්කොම කරල මං අඬනකොට උස්සගෙන ගිහිං බාගෙට මරාපු මීයෙක් එක්ක බළලෙක් සෙල්ලම් කරන්න වගෙ හරි සන්තෝසෙන් මාව තලෝනවා........"

කමලාවතී පසුව කී අදහස් සෝමාරාම ස්ථවිරයිනට හරිහැටි අවබෝධ නොවී ය.

"කමලාවතී ආපු කාරණය කිව්ව නම්....... පොඩි හාමුදුරුවන්ට

සාක්කි කියන්න එපැයි කියල කියන්නවත්ද ආවෙ? එහෙම නැත්නම් දුටු හැටියට සාක්කිය කියන්න කියල ද කියන්නෙ?"

පියදස අසලක කන්දීගෙන සිටිත් දැයි කමලාවතී යළිත් එබී බැලුවා ය.

"ඔබ වහන්සේට මනාපයක් කරන්න. මං ආවෙ ඒ මිනිහ ඇදගෙන ආපු නිසා"

නායක ස්ථවිරයෝ කමලාවතී දෙස සුපරීක්ෂාකාරී ව බැලූ හ. ඇගේ දැසේ කඳුළු වියළී ඇතත්, මුහුණ තවමත් බියෙන් හා තෝන්තුවාවෙන් වෙළී ඇත.

වාහනයක එළිය එක්විට ම පන්සලට වැදිණි. විදුරු අස්සෙන් ආ එළිය දුටු ස්ථවිරයෝ කලබලයට පත් වූහ. උන්වහන්සේ ගේ ඉල්ලීම අනුව කමලාවතී පන්සල ඇතුළට ඇදුනා ය. නායක හාමුදුරුවන් ගේ කාමරයට වැද දෙර අඩවන් කරගත් ඕ දෙර ළඟම බිම හිඳගත්තා ය. ඇගේ නාසයට පඬු සුවඳක් දැනෙයි. කලකට පෙර විහාර ගේ ඇතුළේ දී ද ඇගේ නාසයට ඇතුල්වූයේ මේ පඬු සුවඳම ය. කමලාවතීට ඒ ගැන කල්පනා කරන්නට මෙය වේලාව නොවේ. සාලය මැදින් ඉදිරියට යන රාහුල තෙරණුවන් ගේ ඡායාව ඇයට පෙනිණි.

*  *  *

තමන් ඇසූ දුටු දැ හා තමන් මුහුණ පෑ සිද්ධිය රාහුල තෙරණුවෝ පොලිසියට නොසඟවා කීහ. පියදස ගේ නම ද කියැවිණි. පියදස කමලාවතී ගේ අනියම් සැමියා බව ද රාහුල



තෙරණුවෝ දනිති. සාහසිකයින් රාහුල තෙරණුවන්ට තෙවිටක් කොකා ගැස්සුව ද, එක වෙඩිල්ලක් හෝ පත්තු නොවීම පිළිබඳ පුවත පොලිසියට ඒ තරම් වැදගත් නො වී ය. ඔවුන්ට වැදගත් වූයේ යසපාල මරන්නට පොලු එසවූවෝ කවරහු ද යන්නයි. ගෙදර සිටි ළමයින් දෙදෙනා ද ඒ දැක නැත. ළමයින් දෙදෙනා සියා තිබුණේ ගේ ඇතුළේ සිටි පිය පියා දෙතුන් දෙනෙකු විසින් මිදුලට ඇදගෙන ගිය බවත්, පොල්ලක් අතින් ගත් මිනිසෙක් තමන් දෙදෙනා බයගන්වමින් රැක සිටි බවත් ය.

රාහුල තෙරණුවන් ගේ සාක්ෂිය අවසානයේ දී කිසිවෙකුත් බලාපොරොත්තු නුවූ පරිදි සිංඤප්පු උප පොලිස් පරීක්ෂකයා වෙනට ගියේ ය.

"මම මද්දුම කංකානම්ලාගේ සිංඤප්පු. මම මේ පන්සලේ අවුරුදු පනහකට කිට්ටු කාලයක් තිස්සෙ ඉන්නවා" සිංඤප්පු කීයේ ය.

උප පොලිස් පරීක්ෂකවරයා සිංඤප්පු ගේ හිස සිට දෙපා දක්වා බලා තොල් තදකර සිනාසුණේ ය.

"මේ මිනීමැරුම සිද්දවෙනකොට තමා කොහේ ද හිටියෙ?"

"හිටියෙ හබරල පඳුරෙ?"

"හබරල පඳුරෙ! කොහේ හබරල පඳුරෙ ද?"

"කොහේවත් නෙමෙයි, යසපාල බාස්උන්නැහැගෙ ගේ ගාව තියෙන වල් හබරල පඳුරෙ!"

"තමා එතැන මොකක් ද කෙළේ?"

"මොකක් කළාවත් නෙමෙයි මහත්තයෝ, ළමයි කෑගහනවයි බල්ලො බුරනවයි ඇහුනාම මං ගියා මොකදැයි බලන්න. අර

පෝරිසාදයො බණිනවා. කුණුහරුප කියනවා. යසපාල පිංසෙණ්ඩු වෙනවා. එක ජරමරේ......''

උප පොලිස් පරීක්ෂකවරයාට සතුටක් ඇතිවිය. කිසිවකු ගේ නියෝගයක් නොමැති ව සිංඤප්පු ඉදිරියට ආ විට ඕහු සිතාගත්තේ සිංඤප්පු තානදෙඩවන්නකු වශයෙනි. එහෙත් රාහුල හාමුදුරුවන් ගේ සාක්ෂියටත් වඩා මොහු ගේ සාක්ෂිය වැදගත් විය හැකි බව පසු ව ඔහුට අවබෝධවී ය.

''බොහොම හොඳයි. බොහොම හොඳයි. තමුසෙට ස්තුති කරන්න ඕනැ හොඳ පිරිමියෙක් වගෙ ඉදිරිපත් වුණාට. මුල ඉඳලාම ආයිත් කියන්න. මට සටහන් කරගන්න ඕන''

''කියන්නම් මහත්තයො ඇත්ත සිද්දෙ ඒ විදියට ම කියන්නම්. මේ අපරාදෙ සිද්දකළ එවුනට හෙණ හත ගහන්න ඕනැ. යසපාල බාස් උන්නැහැ විතර අහිංසක මනුස්සයෙක් මේ අසල්වාසියක හිටියෙ නෑ. ගෑනි හොරෙන් අරංගියා මිදිවාට පියදසයා මේ මිනිහත් මැරුවා! මේ ඔක්කොටම මුල මේ ගෑනි......''

උප පොලිස් පරීක්ෂකවරයා සිංඤප්පු වළක්වන විට ඔහු සිටියේ වෙවුලන තරම් කෝපයෙනි. තත්පර දෙකක් කට පියාගෙන සිටි හේ යළිත් කතාකරන්නට විය. ''මගෙ අම්මත් ගෑනියෙක් තමයි. ඒ වුණත් ඇත්ත කියන්න ඕනැ. හැම අපරාදෙකට ම මුල ගෑනු. මේ අපරාදෙටත් මුළ යසපාලයගෙ ගෑනි''

සිංඤප්පු කතාකෙළේ උස් හඬිනි. ඒ හඬ නායක ස්ථවිරයින්ගේ කාමරය ඇතුළේ බිම ලැග සිටින කමලාවතීට ඉතා පැහැදිලි ව ඇසිණි. ඇය බියවූයේ තමා පන්සල ඇතුළේ සිටින බව



සිංඤප්පු පොලිසියට කියතැයි සිතා ය.

සිංඤප්පු ගේ උස් හඬ ඇසී නිදසිටි නන්දරාම ද අවදිවී ය. ඉදිරියට අවුත් සිවුරු පොටින් හිස වසාගෙන මොහොතක් ගත කළ හේ නින්දම වඩාත් උතුම්කොට සලකා නින්දට ගියේ ය.

*　　　　*　　　　*

සිංඤප්පු පැහ ව සිටි හබරල ගාල හා ඔහු එහි සිටි අයුරු දක බලාගැනීමට පොලිසියට අවශ්‍ය වූ හෙයින් පොලිසිය සමඟ යසපාල ගේ ගෙදරට යාමට සිංඤප්පුට සිදුවී ය. පොලිසිය නික්මගිය පසු පන්සල හොඳට ම නිහඬවී ය. ඉදිරි දෙර වසා දමූ රාහුල තෙරණුවෝ නායක ස්ථවිරයන්ට වැඳ නමස්කාරකොට නින්දට ගියහ. කමලාවතී පිළිබඳ කිසිදු කල්පනාවක් උන්වහන්සේට නොවී ය. එහෙත් නායක ස්ථවිරයන්ට නිදිමත නැතිවූයේ කමලාවතී නිසා ය. ඇය තම කාමරයේ ම වෙසෙන බව උන්වහන්සේ දනිතත් කරන්නට දෙයක් නැත. 'ඒ ඇත්තිගෙ බඩේ ගින්දර තියෙද්දි මං ඒ ගැන හිතන එකත් හොඳ මදි. අද ඔහොම ගියාවෙ. නින්ද ගිහිං තැත්නම් නැගිටල එන්නෙ නැතැයි. මිනිහ මළා. දන් ඉන්න මිනිහ පොලිසියෙන් අල්ලාගෙන යාවි. හිරේ වැටේවි. මං හිතන්නෙ කමලාවතී ආයිත් මෙහෙ පදිංචියට ඒවි. එතකොට මොකක්හරි බලනවා ඇරෙන්න දන් ඒ වගක් අහවන්න නාකයි'

කමලාවතී නැගිට ඉතා සෙමින් සාලයට අවුත් කර පොවා බැලුවා ය. නායක ස්ථවිරයෝ හාන්සි පුටුවේ ඇල වී දැස්

පියාගෙන සිටිති. ඉරියව් අනුව උන්වහන්සේට නින්ද ගොස් ඇතැ යි කමලාවතී සිතුවා ය. ඉදිරි දෙර විසා ඇත. දෙර ඇරගෙන අනවසරයෙන් පන්සලෙන් පිට ව යාම හොඳ නැත.

ශබ්ද නගා කකුල් බිම අතුල්ලාගෙන නායක හාමුදුරුවන් ඉදිරියට ගිය ස්ත්‍රිය උන්වහන්සේ ඉදිරියේ කතා කළා ය.

"හාමුදුරුවනේ......."

නිඳ නොසිටි තෙරණුවෝ ඇස ඇර බැලුවෝ ය. "යන්න ද?"

"එහෙමයි. මම පන්සල ඇතුළෙ ඉන්න එක හොඳ මිදි, බයත් හිතෙනවා එළියට යන්න. ඒ වුණත් යන්න කියලයි නැගිට්ටෙ. මගෙ මැරිච්ච මනුස්සයා බලන්නත් ඕනැ. අර මිනිහ මං එනකල් දත්කුරු කනවා ඇති......."

"සිංඤප්පු එක්කොරාගෙන පොලීසිය ආයිත් වරක් ඒ පැත්තට ගියා. පොලීසිය එතැන නිසාවෙන් එක පාරට යන එක හොඳ ද කියල කල්පනා කරල බලන්න වේවි"

"මං එහෙනම් ටිකක් ඇතින් ඉඳල පොලීසිය ගියාට පස්සෙ යන්නම් හාමුදුරුවනේ"

ඇනුමක් ඇර නිහඬ වූවා මිස, නායක ස්ථවිරයන්ගෙන් උත්තරයක් නොලැබිණි.

දණ ගසා ස්ථවිරයින්ට වැඳ නැගිසිටි කමලාවතී මදක් පස්සෙන් පස්සට ගමන්කොට දෙර ඇරගෙන නොපෙනී ගියා ය. ඇය ගමන්කෙළේ බණ මඩුව දෙසට බව අඩි ශබ්දය ඇදීයන ආකාරයෙන් තේරුම්ගත හැකිවි ය.

බණ මඩුවේ ළඟින බැල්ල බුරයි. නාන ළිඳ ළඟ නවතා තිබූ ජීප් රථය ලයිට් දමාගෙන උඩහට ඇදෙන්නට වූයේ එවිට ය.



විනාඩි හත අටක් පොලීසිය නාන ළිඳ ළඟ කුමක් කෙළේ දැ යි නායක ස්ථවිරයින්ට සිතාගත නොහැකිවි ය.

සුසුමකුත් ඇනුමකුත් පිට කළ ස්ථවිරයෝ පුටුවෙන් නැගිට දෙරගුළ ලා සාලයේ විදුලි පහන ද නිවාදමා කාමරයට ගොස් බැලුයේ කමලාවතී ළැග ඇත්තේ කොතැන ද කියා ය. දෙර ළඟ බිම කකුලට පෑගුණු ලේ පැල්ලම් කිහිපයක් විය. ස්ථවිරයන්ගේ නුරා හැඟීම් යටපත්වීමට මේ ලේ පැල්ලම් ප්‍රමාණවත් විය. ලේ පැල්ලමේ සිට අඩියක් තරම් ඈත ලේ බී තර වූ ඇඟිල්ලක් තරම් මහත කුඩැල්ලෙක් පෙරළෙමින් සිටියේ ය. ලේ වමනය කරමින් පෙරළෙන කුඩැල්ලා නිසා ස්ථවිරයින්ට තද පිළිකුලක් ඇතිවි ය.

සෝමාරාම ස්ථවිරයෝ කවදත් කුඩැල්ලන්ට බියක් දක්වති. මෙහි දී උන්වහන්සේට ඇතිවූයේ තද පිළිකුලකි. කුඩැල්ලා අල්ලා එළියට දමන්නටත් බැරි ය. ඌ කාමරයේ සිටිය දී නිඳ ගන්නටත් බැරි ය.

ස්ථවිරයෝ නන්දරාම තෙරණුවන් ගේ කාමරයට ඇදිගොස් උන්වහන්සේ ගේ ඇඟ අත ගසා කෑගැ හ. "නන්දරාම නැගිටිනවා, නැගිටිනවා නන්දරාම"

නැගිට අඩ සිහියෙන් වටපිට බැලූ නන්දරාම, නායක ස්ථවිරයන් ගේ බියපත් මුහුණ හඳුනා තෙමේ ද බිය පත්වි ය. "හොරෙක් ද හොරෙක් ද හාමුදුරුවනේ?"

"කුඩැල්ලෙක්"

"කුඩැල්ලෙක්?"

"කුඩැල්ලෙක් නොවෙන්නම්........ ඇඟිල්ලක් විතර මහත

ඇති. මගෙ කාමරය පුරා ලේ”

නන්දරාම නමන්ගේ කාමරයට කැඳවාගෙන යන සෝමාරාම ස්ථවිරයෝ මෙසේ ද කියති.

“අර ගෑනු කෙනා පොලිසියට බයේ වැදිල උන්නෙ මගෙ කාමරයට නොවැ........ මිදයි අනුකම්පාකොළා. මේ ගැති කුඩැල්ලො එල්ලාගෙන නොවැ ඇවිත් තියෙන්නෙ........”

කුඩැල්ලා හිස උස්සා යළි හිස බිම ගසා ලේ පිරුණු පස්සා පැත්ත උස්සයි. පස්ස බර නිසා පෙරළෙයි. නන්දරාමට හිනාගියේ ය. ඔහු කුඩැල්ලන්ට බය නැත.

“මරන්න නම් එපා. කොහොමද මූ අල්ලන්නෙ?”

කුඩැල්ලා අල්ලන ක්‍රමය නායක හාමුදුරුවන්ට බරපතල ප්‍රශ්නයක් වුවත් නන්දරාමට එය ඉතා පහසු කාර්යයක් විය. පත්‍ර කඩදාසියක් බිම තබා තවත් කඩදාසි කැබැල්ලක් අතේ තබාගෙන එයින් කුඩැල්ලා පත්‍ර කඩදාසියට ගැනීමට ඔහුට තත්පර දෙක තුනකට වඩා ගත නොවී ය.

“දැන් ඉතිං ඔය සතා මිදුලෙනුත් ඈතට ගිහින් දන්න ඕනැ. ගිහිං දල ඇවිදින් මේ තියෙන ලේ පැල්ලම් පිහදන්නත් ඕනැ. තේරුණා ද නන්දරාම?”

නන්දරාම කුඩැල්ලා කඩදාසි කොළයේ ගුලිකරගෙන පිටුපස දෙර ඇරගෙන ගොස් ආපසු එන අතරවාරයේ, නායක ස්ථවිරයෝ කමලාවතී ළඟ හුන් තැන තවත් හොඳට විපරම් කර බැලූහ. ‘ලේ පැල්ලම් ඇරෙන්න ඇහැට පේන වෙන වරදක් නම් නෑ. ඒ වුණාට තඩි හූරහූර ඉන්න ඇති. තඩි බිම වැටිල ඇති. හිතල බලුවොත් ගෑනු කියාපුවාම මොන තරම් පිළිතුරු



ජාතියක් ද? අර මං කල්පනාකර බලල හාන්සි පුටුවෙම උන්නු නිසාවෙන් හොඳට ගියා. බැරි වෙලාවත් ඒ ගෑනු කෙනා කාමරයේ ඉන්දැද්දී මාත් කළුවරේ කාමරයට ආව නම්......... එහෙනම් මට කුඩැල්ලා පේන්නෙ නෑ නොවැ. කී සැරයක් හිතුනද එහෙම එන්න ඕනැයි කියල......’

තමා ගේ කල්පනා ශක්තිය පමණක් නොව, කල දසාව ද තවමත් හොඳ යයි සිතා සෝමාරාම ස්ථවිරයෝ සතුටට පත්වූ හ.

# 6

ප්‍රියදස ගේ මළ ගෙදරට පැමිණි බොහෝ දෙනා තමන් දෙස මහත් ගෞරවයෙන් බැලූ බව රාහුල තෙරණුවෝ දනිති. ඒ අතරේ උගත් වැදගත් කිහිප දෙනෙක් සෙසු භික්ෂූන්ගෙන් තමන් වෙන්කොට ගෞරව පූර්වක ව කෙටි පිළිසඳරේ ද පසුවූ හ. එහෙත් ආගමික වතාවත් සඳහා එහි වැඩමකළ භික්ෂූන් ගෙන් කිසිවෙක් තමන් ගෙන් කිසිවක් නොවිමසූවා පමණක් නොව, ප්‍රියමනාප බැල්මකු නොහෙළූ බව උන්වහන්සේට සිහිපත් වෙයි. ඔවුන් පහත් අදහස් ඇති හිස් මිනිසුනැ යි යන හැඟීමක් ද, ඒ හැඟීම නිසා තමන් ඔවුන් ද නොතකා පසුවිය යුතු ය යන සිතිවිල්ලක් ද උන්වහන්සේ ගේ සිතේ රැඳිණි.

අවමංගල උත්සවයේ කටයුතු අවසන් වූ වහාම ඉක්මන් බවක් අහවා, සෙසු භික්ෂූන්ගෙන් වෙන් ව පන්සල් වත්ත හරහා ආවාස ගෙට පැමිණි රාහුල තෙරණුවෝ අඳනය පසෙක ලා යහන මත වැතුරුනෝ ය. දෙර හැර ද පසුවීම ද ප්‍රිය නොකළ උන්වහන්සේ නැගිට දොර වසා යළි යහනට වත් හ. උව





බලාගන්වන ම පසු වූ තෙරණුවෝ තමන් පසුවන ඉරියව්ව ගැන තමන්ට ම ප්‍රසාදයක් නුවූ හෙයින් නොසංසුන් සිත සංසුන් කළහැක්කේ කෙසේ ද යි කල්පනා කළ හ.

කල්පනා කළයුත්තේ අනුන් ගැන නොව, තමන් ගැන ය. ගිහියන්ගේ කිත් පැසසුම් නිසා තමන් පළමුවෙන් මානයෙන් පිම්බී ගිය බවත්, ඒ පෙරටු හැඟීම නිසා භික්ෂූන් පහත්කොට සිතීමට පෙළැඹුණු බවත් උන්වහන්සේට කල්පනාවි ය.

මානය සිතට පිවිසෙන්නේ තමන් නොදැනුවත්ව ම ය. එය අකුසල ධර්මයකි. එය ලත් තැනම මැඩිය යුතු වෙයි.

සෙසු මිනිසුන්ගෙන් ඈත් ව බෙහෙවින් හුදෙකලා ජීවිතයක් ගතකරන්නට තමන් පෙළැඹීසිටින්නේත් උද්ධච්ඡකමේ ප්‍රතිඵලයක් විසිනැ යි රාහුල තෙරණුවන්ට දෙ වැනි ව කල්පනාවි ය. සමස්ත මානව වර්ගයා කෙරෙහි පමණක් නොව, සියලු සත්ත්වයින් හා ගහකොළ කෙරෙහිත් දයා කරුණාවක් ඇති තමන්ට තමන් ඇසුරු කරන පුද්ගලයින් කෙරෙහි පමණක් අප්‍රසාදයක් හා අසන්තෝෂයක් පහළවන්නේ නම් තමන්ගේ දයා කරුණා ගුණයෙහි අඩු ලුහුඬුකමක් තිබිය යුතු ය. මෛත්‍රිය ප්‍රථමකොට තමන් කෙරෙහිත්, අනතුරු ව අවට සිටින්නවුන් කෙරෙහිත්, අසල්වැසියන් රට වැසියන් ලෝවැසියන් හා සියලු සත්ත්වයින් කෙරෙහිත් පතුරන්නේ තමන් ඇසුරෙහි සිටින්නවුන් නිසා පැරෙන සිත සමනය කිරීම සඳහා නොවේ ද? තමන් පිරිසිදු නම් අනුන් හෙළන රැවුම් බැලුම්, නෙළුම් පතෙහි ජලය නොරඳන්නා සේ ම නොඇලෙයි. සහෝදර නන්දරාම උපහාස මුඛයෙන් තමන්ට "හෙණ රාජයෙකැයි" නමක් පටබැඳ ඇති බව සිංහැප්පු කී අවස්ථාවේ ද තමන් ගේ සිත නොසංසුන් වූවා පමණක් නොව, නන්දරාම කෙරෙහි දැඩි අප්‍රසාදයක් ද හටගත්

බව රාහුල තෙරණුවන්ට මතක ය. එය සිදුවූයේ උදය කාලයේ ය. නන්දරාම ගේ උපහාස විඳන තමන් විසින් හාරගන්නා ලද බව තේරුම් යන්නේ තමන්ට සසලවීමට සිදුවූ නිසා ය. සිංහප්පුට සිනාවක් පමණක් පෙන්වා ඒ කාරණය එ තැතින් අමතක කර දමන්නට තිබුණා. නොවේ ද?

තරුණ වයසේ පසුවන නන්දරාම තමන් ගේ සහෝදර භික්ෂුව ය. ඔහුට අනුකම්පාවක් දයාවක් දක්විය යුතු ය. ඔහු අතින් නොදන සිදුවන වැරදිවලට සමාව දිය යුතු ය. “නන්දරාම නිදුක්වෙන්වා නිරෝගි වෙන්වා සුවපත් වෙන්වා, ඔහුට යහපත් සිතිවිලි පහළ වෙන්වා, ඔහු කෙරෙහි මා සිත් තුළ කිසිදු වෛරයක් ද්වේශයක් නැත” යයි අවංක චේතනාවෙන් කිහිප වරක් සිතා රාහුල තෙරණුවෝ, මළ ගෙදරට පැමිණි සියලු භික්ෂූන් කෙරෙහි ද මෙත් සිත පැතිරවූ හ.

බන්ධනයකින් නොහොත් බරකින් සිත නිදහස් වූ කලෙක මෙන් තෙරණුවන් ගේ සිත ප්‍රබෝධයට පත්වි ය. තවදුරටත් යහනෙහි රැඳීසිටින්නට කැමැත්තක් නූවූ හෙයින්, උන්වහන්සේ යහනින් නැගිට මැද මිදුල දක්වා ගිය හ.

නන්දරාම ගේ කාමරය දෙසින් අවිනීත සිනා හඬක් නැගිණි. පේමාලෝක භික්ෂුව තවමත් ආපසු ගොස් නැත. නන්දරාම විනෝදවන්නේ ඔහු සමඟ ය. පේමාලෝක භික්ෂුව ද නන්දරාම භික්ෂුවට සමාන ය.

ඉදිරියට යාමට හෝ ආපසු හැරෙන්නට හෝ ශක්තියක් නැත්තකු මෙන් මොහොතක් බිම බලාහුන් රාහුල තෙරණුවෝ තමන්ගේ සිත යළි නොසංසුන් වූ බව සිතා සිත සමනය කරගනු වස් පුහුදුන් ගති ඇති තරුණයින් දෙදෙනා කෙරෙහි අනුකම්පා සිත් උපදවාගත් හ.



සිනා හඬ අතරින්, කරන කතාබහ ද ශ්‍රවනය වෙයි.

“නිස් පනාරෝමක් වෙන්න ඇති ඕයි තියෙන්න ඇත්තෙ. එහෙම නැත්නම් කළුව පළල හෙණරාජ් තෙලක් දගෙන ඇති......”

“කුප්පියක් නෙමෙයි කාලෙ බෝතලයක්!” නන්දරාම ගේ කතාවට නන්දරාමත්, පේමාලෝකත් එක්විට සිනාසුන හ. මුවුන් කතාකරන්නේ තමන් ගැන බව රාහුල තෙරණුවන්ට පැහැදිලි ය.

සිත යළිත් සංසුන්කර ගැනීමට මහ වෙහෙසක් ගත් ස්ථවිර තෙමේ, ගිනි නිවිය හැක්කේ ජලයෙන් පමණක් බව සිතා, සිත සංසුන් කරගැනීමට වෙර දරමින්ම ඉදිරියට ගමන් ගත්තේ ය.

නන්දරාම ගේ කාමරයේ දොර අඩවන්කොට තිබේ. දොර ඇරගෙන එන්විට ම කාමරයට ඇතුල්වීම නුසුදුසු ය.

“නන්දරාම, මම රාහුල. ඇතුළට එන්න ද?”

ඝෝෂාව නැවතී කාමරය තුළ දැඩි නිහැඩියාවක් හටගත්තේ ය. රහස් හෙපළන හඬක් දෙවනුව ඇසිණි.

“මම රාහුල. ඇතුළට එන්න ද?”

අඩවන් දොර හෙමින් ඇරිනි. නන්දරාම ගේ හිස පළමු ව මතුවිය.

“එන්න එන්න. මගේ කාමරයට එන්න අවසරයක් ඕනෑයි?”

පේමාලෝක භික්ෂුව හිටගෙන සිටියේ ය. රාහුල තෙරණුවෝ උන්වහන්සේ දෙස බලා සිනා පහළකළෝ ය. “මට ඇහුනා ඔබ වහන්සේලා ලොකු සතුටකින් හිනා වෙනවා. මාත් කැමතියි

සතුටින් ඉන්න. ඒකයි මං ආවෙ"

"කොච්චර හොඳ ද ආපු එක........" පේමාලෝක කීයේ ය.

"ඔබ වහන්සේ මගෙ කාමරයට කවදාවත් එන එකක්යෑ?"

"ඔබ වහන්සේ විහිළුවක් කොලොප්පමක් කරනවා මම කවදාවත් දැකල නෑ. හරියට හැට පිරුණු නායක හාමුදුරු නමක් වගේනෙ. ඒ වගෙ ඇත්තන්ට අපේ බජනෙ හරියන්නෙ නෑ කියල මම හිතාගෙන හිටියා!"

රාහුල තෙරණුවන් සමඟ කතාකරන්නේ පේමාලෝක තෙරණුවන් පමණි. මඳ සිනා මුහුණින් යුතු ව නන්දරාම පසෙක සිටී. තමන් අවුරුද්දකිනුදු නන්දරාම තෙරණුවන් ගේ කාමරයට නොපැමිණි බව රාහුල තෙරණුවන්ට පිහිපත්වෙ යි. අන්තිම වරට තමන් මෙහි පැමිණ ඇත්තේ අවුරුද්දකට තරම් උඩ දී නන්දරාම උණගැනී සිටි අවස්ථාවේ ය. නන්දරාම ගේ පොත් රාක්කයත් ඔහු ගේ වැඩ වගේ ම ය. කිසිදු ගොනුවක් නැත. එක සිවුරක් ඇඳ උඩ ය. තවත් සිවුරක් පුටුවක් මත ය. අඳනයක් බිම ය. හිටපු රාජ්‍ය නායිකාවත් හිටපු ඇමති තුමාත් එකට හිඳ ගත් ඡායාරූපයක් බිත්තියේ එල්ලා ඇත. චිත්‍ර කතා පත්‍රයක පිටු කිහිපයක් ඇඳ මත දිගහැර තිබේ.

"මිනීමරුවො තුන් පැරයක් වෙඩි තියලත් එක වෙඩිල්ලක් පත්තුවුණේ නැතිලු නේද? මට මේ නන්දරාම දනුයි කිව්වෙ. හරි පුදුමයි නේද හාමුදුරුවනේ........."

ඉතා ප්‍රවේශමෙන් කතාකළ යුතු යයි රාහුල තෙරණුවෝ සිතූ හ.

"ඒක සාමාන්‍ය සිද්ධියක් විදියට යි මම සලකන්නෙ"



"කොහොම ද සාමාන්‍ය සිද්ධියක් වෙන්නෙ හාමුදුරුවනේ? එක පැරයක් පත්තුවුණා නම් මොකද වෙන්නෙ? එහෙනම් අද අපිත් එක්ක මේ වගෙ කතාකරන්න ඔබ වහන්සේට ලැබෙන එකක් නෑ"

"තුවක්කුවේ තිබුණෙ හිස් පතරොමක් නම්?" රාහුල තෙරණුවෝ කී හ. "බල්ලට එක වෙඩිල්ලක් තියනවා මං අහගෙනයි. හිස් පතරොම අයින්කරල තවත් හිස් පතරොමක් දල මට කොකා ගැස්සුව නම්? මං හිතන්නෙ කොතැන හෝ වැරැද්දක් සිද්දවෙන්න ඇති ඒ මනුස්සයට. තුවක්කුවෙ කොකාගෙ හරි, පතරොමේ හරි වැරැද්දක් තියෙන්න ඇති. කවුරුවත් කියනවා නම් මගෙ වාසනාවට ඒ නැත්නම් භාස්කමට තුවක්කුව පත්තුවුණේ නැතේ ය කියල මම ඒ කතාවට එකඟවෙන්නෙ නෑ"

නන්දරාමත් පේමාලෝකත් රාහුල තෙරණුවන් ගේ ඒ කතාවට සතුටුවූහ. වඩාත් සතුටුවූයේ නන්දරාම ය. සිද්ධිය ලඝුකොට හඟවනු පිණිස මේ ඒ ගැන පළමු වරට කතාකෙළේ ය. "සමහර විට බල්ලට වෙඩි තියල හිස් පතරොම තුවක්කුවෙ තියෙද්දිම අපේ හාමුදුරුවන්ට කොකා ගස්සන්න ඇති?"

"එහෙනම් සිංඤප්පු කියන්නෙ හතර වැනි පාර අහසට තුවක්කුව එල්ලකරල පත්තු කළාම වෙඩි ගාල පත්තුවුණා ය කියල? මිනීමරුවො හරියට අවතාරයක් දැක්ක වගෙ දුවන්න ගත්තෙ ඊට පස්සෙලු......."

"අම්මකාකර දන්න ඔය තුවක්කු කතාව. පොලිසියටවත් ඔය කතාව වැදගත් වුණේ නෑ. අපි වෙන දෙයක් ගැන කතාකරමු."

"එහෙනම් වෙන දෙයක් ගැන කතාකරමු" පේමාලෝක

තෙරණුවෝ යෝජනා කළෝ ය. යෝජනාව ක්‍රියාත්මක කිරීම උන්වහන්සේ විසින් ම ක්‍රියාත්මක කරන ලදි.

"මං කියන්නම් මට වෙච්ච සිද්ධියක් බස් එකේදී. දන් දවස් කුනකට වැඩිය නෑ මේක වෙලා. කොළඹ කැම්පස් එක ළඟින් අපි හාමුදුරුවරු තුන් දෙනෙක් බස් එකට නැග්ගා. ඉස්සරහ සීට් එක අපි නගිනකොට ම හිස්වුණා. අනික් දෙන්නා ඒකෙ ඉඳගත්තා. ඊළඟ පස්සෙ සීට් එකේ කලිසම්කාරයෙක් අයිනෙ ඉඳගෙන ඉන්නවා. මම එතැනින් ඉඳගත්තා. මං දිහා මිනිස්සු බලනවා. මිනිස්සු දිහා මං බලනවා. මා ළඟ ඉන්න කලිසම්කාරයා නැගිටල පණින්න හදනවා.........."

නන්දරාම සිනාසෙන්නට වූයේ ය. ඔහු මේ කතාව මීට කලින් අසා තිබෙන්නට ඇතැ යි රාහුල තෙරණුවන්ට සිතිණි.

"බැලින්නාම් කා ළඟින් ද මම වාඩිවෙලා තියෙන්නෙ, කලිසම් ඇඳගත්තු කෙල්ලක් ළඟින්. කොණ්ඩෙත් කපලා. කෙළින් මූණ දිහා බැලුවාමයි මට තේරුණේ"

රාහුල තෙරණුවෝ මඳ සිනාවක් පෑහ. මෙය සිනා නගන්නට තරම් සිද්ධියක් නොවේ යයි උන්වහන්සේට සිතේ.

"ඉතිං........?" නන්දරාම ඒ ගැන තවත් විමසුවේ ය.

"වැදගත් මිනිස්සු ටිකක් බස් එකේ හිටියෙ. කවුරුවත් මට හිනාවුණේ නෑ. පහුවද කැම්පස් එකට ගියාම අරුන් දෙන්නා කැම්පස් එකේ කොල්ලන්ටයි කෙල්ලන්ටයි ඒක කියල මා මැඩෙව්වා. මම ඕනැකමින් ම කෙල්ලක් ළඟින් වාඩිවුණා ය කියල කොල්ලො කියන්න ගත්තා. ඒක එහෙම නොවෙයි කියල වැඩක් තියෙනවැයි. මාත් කිව්ව, මොකක් ද එකෙක්, මොකක් ද එකක් අතරින් මොකක් ද එකක් දුටුවැයි කියන්න වගෙ මාත්



මට ලැබිච්ච චාන්ස් එකෙන් ප්‍රයෝජනයක් ගත්තා ය කියල"

"කොල්ලො ඒ කතාවටත් හොඳ උත්තරයක් දෙන්න ඇති?" නන්දරාම සිනාසෙමින් ම කීයේ ය.

"මාව නොකවුට්වෙන්න උත්තරයක් දුන්නා. ඒවා රාහුල හාමුදුරුවොත් එක්ක කියන්න බෑ, රාහුල හාමුදුරුවො උපාධි පාස්කෙළේ විද්‍යාරත්නයේ ඉගෙනගෙන නොවැ?"

ප්‍රේමාලෝක තෙරණුවෝ වටපිට බලා පුපු ඇන්ද උඩ තිබූ සිවුර ඇඟේ පටලවා ගත්තෝ ය.

"යන්න ද?" රාහුල තෙරණුවෝ ඇසූ හ.

"ඔබ වහන්සෙ අපේ පන්සල පැත්තෙ එනවැයි? දුශ්ශීලයො කියල අපිව කොන්කරන්න එපා. අපිට අනුකම්පා කරන්න. ඔබ වහන්සේ අද අපි ලඟට ඇවිත් කතාකළාට අනේක වාරයක් ස්තුති යි. ඉදිරියටත් අපි අපේ මිත්‍ර සන්ධානය තරකර ගනිමු"

කුඩයත් දිනපොතත් අතට ගත් භික්ෂුව කුරුල්ලෙකු මෙන් ඉගිල මිදුලට ගොස් ආපසු හැරී බලා සිනාසුණේ ය.

"ප්‍රේමාලෝකයා හරි හොඳ එකා හාමුදුරුවනේ......."

* * *

චන්ද්‍රරූ නාඩය රකාර් වත්තේ පහළ අතුවල ලැගසිටියහ. බෝධි ද සියලු දෙනාට ම පිටුපසින් ඉනා ම පහන අත්තක හිඳසිටියේ ය.

"බෝධි ඉතිං කොහොම ද?"

රාහුල තෙරණුවන් දෙස හැරී බැලූ වඳුරා ඉවත බලා ගෙන පිය උකුළ කසන්නට විය. වැදිරියෝ සිය දරුවන් බඩ බැඳගත් හ. බෝධි කෝප වූ කලෙක මෙන් ගුගුරන හඬක් අනතුරු ව ඇසිණි. මුලු වඳුරු රැළ ම සී සී කඩ දුවන්නට වූ හ. බෝධි එක වැදිරියක පසුපස එළවා යයි. අහුං දෙහංකරමින් වැදිරිය පස්සෙන් එළවන්නට වූ වඳුරා රබර් වත්තේ මැදක් යාමට ප්‍රථම වැදිරිය ළඟට පැන ඇගේ කුස හුන් පැටවා උදුරා ගොරවමින් බෙල්ල විකා බිම අතහැරියේ ය.

වඳුරු පැටවාට කෙළේ කුමක් දැයි තෙරණුවන් නුදුටු නමුත් ඈත යමක් බිම ඇද වැටෙනු උන්වහන්සේට ඇසිණි. බිම ඇද වැටුණේ කුමක් දැයි හැඳුණු හෙයින්, උන්වහන්සේ කම්බිය පැනගොස් මැරී හුන් පැටවා අතට ගෙන පරීක්ෂාකර බැලූ හ. ඌ පිරිමි සතෙකි. වඳුරු නඩයක පසුවන්නේ එක වඳුරෙක් පමණකැ යි රාහුල තෙරණුවන් අසා ඇත. පිරිමි සතුන් බහුල ව ඇතිවුවහොත් පසු ව නායක වඳුරාට ඔවුන් අභියෝගයක් වන හෙයින් මෙ සේ පිරිමි සතුන් හඳුනාගත් මොහොතේ ම ඔහු ඔවුන් මරා දමන බව උන්වහන්සේ අසා ඇත.

මෙය කැලෑවේ රීතිය යි. නැතහොත් තිරිසනුන් ගේ නීතිය යි. මෙ වන් අමන රීති ඇතැම් අමන මනුෂ්‍යයින් අතරත් පවත්නා බව තෙරණුවෝ දනිති. බලය අත ඇති ඇතැම් බලකාමී දේශපාලනඥයෝ, ධනය අත ඇති ඇතැම් ධනකාමී ව්‍යාපාරිකයෝ තමන්ට අභියෝගයක් විය හැකි ප්‍රබල දක්ෂ ප්‍රතිවාදීන් කල්යල් බලා රහසේ මරාදමති. බලකාමී ධනකාමී ඒ අමන මිනිසුන් ගැනත් උපේක්ෂාසහගතවන්ට පුලුවන. බල පිටියේ ධන පිටියේ ගති ලක්ෂණ කෙබඳු ද යි එයට



පිවිසෙන්නට ප්‍රථම ඔවුන් ඉඳුරා දන සිටිය යුතු හෙයිනි. එහෙත් සංවේගයට කාරණය නම් සසුන්ගත පැවිද්දන් අතරත් මේ වනයේ රීතිය ක්‍රියාත්මක වනු අසන්ට දකින්ට ලැබීම ය. තුන් වැන්නා විසින් දෙවැන්නාට වස දී මරාදමනු ලැබේ. ඇතැම් තැනෙක දෙවැන්නා මරනු සඳහා කොන්ත්‍රාත්කරුවකුට පවරනු ලැබේ.

බලය ධනය පැවැත්ම සඳහා පවත්වන මේ තිරිසන් අරගලය කවර සද්ධර්මයක් ලෝකයේ පැවතුන ද කෙළවරක් නොවනු ඇති යි රාහුල තෙරණුවෝ සිතූ හ.

බෝධි ධර්මිෂ්ඨයකු කරන්නට ගත් සියලු උත්සාහයන් අසාර්ථක වී ඇතැ යි යන්න රාහුල තෙරණුවන් ගේ කල්පනාව විය. තිරිසන් සතකු මනුෂ්‍යයකු කරන්නට තමන් නිශ්ඵල ප්‍රයත්නයක් දැරුවේ, එක වහලය යට සිටින මනුෂ්‍යයින් යහමගට ගැන්මට තැකීමක් නොකරද්දී ය යන හැඟුම අනතුරු ව පහළ වූ නිසා උන්වහන්සේට ඇති වූයේ ලජ්ජාබර හැඟීමකි. බෝධි නම් වූ වඳුරාට දක් වූ දයා කරුණාවෙන් හා ඒ වෙනුවෙන් කැප කළ කාලයෙන් අඩකින් අඩක් නන්දරාම භික්ෂුව වෙනුවෙන් කැප කළා නම් ඔහු මේ වන විට ඉතා යහපත් භික්ෂුවක වන්නට ඉඩ තිබුණා නොවේ ද යි උන්වහන්සේ සිතති.

*  *  *

විහාර මලුවේ විසි තිස් දෙනෙක් පමණ තමන් පැමිණෙන තෙක් රැඳී සිටිනු දුටු රාහුල තෙරණුවෝ පුදුමයට පත්වූ හ. පසළොස්වක දිනක වුව ද මේ තරම් සෙනඟක් මෑත කාලයේ නම් විහාර භූමියට පැමිණ නැත. පැමිණ සිටින්නවුන් සියලු දෙනා විහාරස්ථානයේ දායකයෝ ය. ඔවුන් පැමිණ ඇත්තේ බෝධි පූජාවකට හෝ සෙත් කවියකට හෝ විය නොහැකි ය. එසේ පැමිණෙනවා නම් ඔවුහු කල් ඇතිව දනුම් දෙති. විහාර මලුවේ පහන් දල්විය යුතු හැම තැනක ම පහන් දල්වා ඇතත්, පහන් දල්වන්නට තරම් අඳුරකුත් තවම නැත. සඳුන් දුමින් මුලු විහාර මලුව ම සුවඳවත් ය. පිරිස මෙහි පැමිණ ඇත්තේ බොහෝ වේලාවකට පුථම බව, විහාර ගේ ඉදිරියේ වැලි මලුවේ තණපත් සියල්ල උගුල්ලා ගෙම්දුල මනා සේ අතුගා තිබීමෙන් පැහැදිලිවෙ යි.

"අද පෝය දිනයකුත් නොවන නිසා මම මේ කල්පනා කෙළේ අද මේ විශේෂය ඇයි කියා....."

අපවත්වී වදාළ නායක ස්ථවිරයින් වහන්සේ සිටිය දී පන්සල දෙවේලේ ඇසුරු කළ, නව විහාර මන්දිරයේ ඉදිකිරීම් කටයුතු සඳහා සම්මාදමේ යෙදුණු, ජේන් උපාසිකාව රාහුල තෙරණුවන් ඉදිරියේ සළුව එළා දණ නවා වැන්ද ය. අනතුරු ව මුලු පිරිස ම උපාසිකාව අනුගමනය කළ හ.

සුවපත් වේවා යි සියලු දෙනාට ම ආශිර්වාද කළ තෙරණුවෝ මහත් වූ ප්‍රසාද සිත් ඇති ව විහාර ගෙට ගොස් දොර ඇරියෝ ය.

සිනාවෙන් පිරිගිය මුහුණින් යුතු ජේන් උපාසිකාව තෙරණුවන් පසුපසින් ගියා ය. "අපිට හිතුනා පොඩි හාමුදුරුවනෝ අද පන්සල් පැත්තෙ එන්න. ඉස්සර නම් අධිගානෙ හතර



පෝයවලුත් ආවා. අපිට ඔබ වහන්සේ වාසනාවන්. ඔබ වහන්සේ නිසා මේ පන්සලයි මේ ගමයි බැබලෙන්න ඕනැ. අපේ දුක් කරදර තුනීවෙනවා ඔබ වහන්සේ දුටුවා ම.........."

"ඇයි එක වරම පෙරළියක් වෙන්න හේතුව උපාසක අම්මෙ? මම හිටියෙ මේ පන්සලේ ම යි. හැමදාමත් උදේ සවස මේ විහාරස්ථානයට ආවා. මම බුදුහාමුදුරුවන්ට පූජාකරන අරලිය මල්වලට තවත් මල් එක්කාසුවුණේ ඉතාම කලාතුරකින්. පූජා කළ පර මල් ඉවත දැම්මෙ මම ම යි. යළිත් නව මල් පූජාකළෙත් මම ම යි. ඒ යුගය අවසානවෙලා මම පූජාකරන මල්වලට තවත් මල් එක්කාසු වෙනවා නම් කොපමණ ආශිර්වාදයක් ද?"

පන්සල කෙරෙහි ඇතැම් ගම්වාසීන් ගේ පැලකිල්ල අඩුවීමට ප්‍රධාන හේතුව විහාරාධිපති සෝමාරාම ස්ථවිරයන් සම්බන්ධයෙන් ඔවුන් තුළ පැවති කලකිරීම ය. එ සේ වූයේ දේශපාලනය නිසා ය. සෝමාරාම ස්ථවිරයෝ දේශපාලන පක්ෂයක නිල නොලත් ප්‍රාදේශීය සංවිධායක වශයෙන් ක්‍රියාකරමින් එම දේශපාලන පක්ෂයේ රැස්වීම්වල දී කතා පැවැත්වූ හ යි ද, තමන්ට ඇනුම්පද කී හ යි ද, බොහෝදෙනා කී හ. පැත්තක් බදගැනීම සම්බන්ධයෙන් සෝමාරාම ස්ථවිරයින්ට චෝදනා කළවුන් අතර ජේන් උපාසිකාව ප්‍රධාන තැනක් ගන්නා ය. බෞද්ධ භික්ෂුවක වශයෙන් තමන් ගන්නේ හරි පැත්ත යයි ඒ දවස්වල චෝදනා නඟන්නවුන්ට සෝමාරාම ස්ථවිරයෝ පිළිතුරු දුන්හ. ජේන් උපාසිකාව උපන් යූ. ඇන්. පී. කාරියක නිසා ඒ දවස්වල ඇයට හාමුදුරුවන්ගෙන් ඇනුම්පද එල්ලවුණා වන්නටත් පුලුවන. කෙසේ වෙතත් පක්ෂ විපක්ෂ සියලු දෙනා හුදු චාරිත්‍රයක් වශයෙන් මුරදනය පන්සලට ගෙන එති. හාමුදුරුවෝත්

පක්ෂ භේදයක් නොතකා මරණයට දනෙට ඔවුන් සියලු දෙනාගේම ගෙවල්වලට වඩිති. සම්බන්ධය එපමණ ය. සෝමාරාම ස්ථවිරයන් විහාරාධිපති ධූරයට පත්වූ අලුතම, අක්කර තුනහමාරක් වූ පන්සල් වත්තේ අක්කර එක හමාරක් වූ පොල් වගාව උගුල්ලා රබර් වගා කිරීම, දයකයින්ගේ බලපෑම අඩු කරන්නට උන්වහන්සේ ගත් එක් උත්සාහයක් විය. දත් වෙල් සියල්ල වැරදුනත් තමන්ට පාඩුවක් නැතැ යි කිරි මිටි අටක් දහයක් වැටෙන්ට පටන්ගත් මුල් දිනවල උන්වහන්සේ කියා තිබිණි.

නායක හාමුදුරුවන් නිසා පන්සල එපා වී සිටි බොහෝ දයකයින්ට යළි පන්සල සිහිපත්වීමටත්, තම පන්සලේ සිල්වත් ගුණවත් භික්ෂුවක වැඩ වාසය කරන බව සිහිපත්වීමටත් යසපාල ගේ මරණය හේතුවී ය. හාස්කම් කෙරෙහි ගැමියන්ගේ සිත දුවයි. රාහුල තෙරණුවන්ට වෙඩි නොවැදුනේ උන්වහන්සේ ගේ සීල ගුණය නිසා ය යන කතාව ගමේ පමණක් නොව, අවට ගම්වලද පැතිරයාමට ගත වූයේ පැය කිහිපයකි.

"මගෙ මේ අත් දෙකෙන් කන්ද පල්ලමේ ඉඳන් ගඩොල් උර දස් ගාණක් මේ අලුත් විහාරය හදනකොට අදින්න ඇති.හැම ගමක් ගානෙම ගොහිං රුපියල් හත් අට දහක් සම්මාදන් කරන්න ඇති. එහෙව් මට ලොකු හාමුදුරුවො විහාර ගෙයි යතුර දුන්නෙ නැ මලක් පූජා කරන්න දොර ඇරගන්න. මේ ගමන අපි ආවෙ ඔබ වහන්සේ නිසා" ජේන් උපාසිකාව රාහුල තෙරණුවන්ට තව දුරටත් කීවා ය.

"ඔය කාරණාවල දී සිත් වේදනාව ඇතිවීම ස්වාභාවිකයි" රාහුල තෙරණුවෝ කීහ. "නමුත් අපි පන්සල් හදන්නෙ පන්සලට පැමිණෙන්නෙ ජීවත්ව සිටින පුද්ගලයෙක් නිසා



නොවෙයි. බුදුරජාණන් වහන්සේත් උන්වහන්සේගේ ධර්මයත් වෙනුවෙනුයි. අපි එකිනෙකාගෙන් වෙච්ච වැරදි අමතක කර දලා ගමක් වශයෙන් අපි එක්වෙමු. නායක හාමුදුරුවො විරුද්ධවෙන එකක් නැ. පන්සල වෙනුවෙන් මේ ඇත්තන්ට ඉටුවිය යුතු යුතුකම් සියල්ල ඉටුකරන්න මම සූදනම්"

පැමිණ සිටි පිරිස පන්සිල් ගන්වා, මල් පහන් පූජාකරවා, එම පිරිස සමඟ ම, රාහුල තෙරණුවෝ ආපසු පැමිණිය හ. පිරිස විහාර ගේ සිට කෙළින්ම පාරට බැස ගෙවල්වලට යාමට අදහස් කළත් තෙරණුවන් ගේ ඉල්ලීම පරිදි පන්සලට පැමිණ නායක ස්ථවිරයින්ට වැඳ නමස්කාරය කොට අවසර ගෙන පෙරළායාමට ඔවුහු කැමති වූහ.

"අපි ඉස්සෙල්ලාම නායක හාමුදුරුවොත් එක්ක සමගිවෙමු. මතභේද ඇත්වෙලා විසඳන්න අපහසුයි. එකිනෙකා ළංවෙලා කතාබහ කළොත් තේරෙව්, ඇත්ත වශයෙන් ම භේදයක් විරුද්ධතාවක් නැති බව. අපි නායක හාමුදුරුවන්ට ළංවෙමු. නායක හාමුදුරුවො අපිට ළංවේවි. මුණට මූණ බලාගෙන හිටපු දෙදෙනෙක් දෙපැත්තට හැරිලා ගමන් කළොත් අඩියෙන් අඩිය දෙන්නට දෙන්නා ඈත්වෙනවා මිස, කවදවත් ළංවෙන්නේ නැ"

"ඔබ වහන්සේ කියන නිසාවෙනුයි අපි එන්නෙ."

"මං ඔය ඇත්තන්ට කවදවත් නරකක් නපුරක් වන යමක් කියන්නෙ නැ. කරන්නෙත් නැ. ඒක මගෙ ප්‍රතිඥවක්. පොරොන්දුවක්"

* * *

සිහිවිලි ගමන්කර යි. එය කෙනෙකුගෙන් තවත් කෙනෙකුට විහිදවිය හැකිය. එයින් අනෙකා ගේ මනස තුළ චලනයක් ඇතිවේ.

රාත්‍රියේ සිය යහන මත එරමිණිය ගොතා හිඳගත් රාහුල තෙරනුවෝ තමන් සමීපයේ සිටින තම සහෝදරයා වූ නන්දරතන තෙරණුවන් මෙනෙහි කරමින් සාධු චේතනාවෙන් යුතු ව ඔහු කෙරෙහි මෛත්‍රිය පැතිරවූ හ. රාහුල තෙරණුවන් ගේ පැතුම වූයේ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙහි උන්වහන්සේ පිහිටන්වා ය යන්නයි.

රාහුල තෙරණුවෝ නන්දරාම තෙරණුවන් කෙරෙහි මෛත්‍රී සහගත සිහිවිලි විහිදුවමින් සිටිය දී, නන්දරාම තෙරණුවන් ගේ මනස තුළ චලනයක් ඇති වී යහපත් සිහිවිලි වැඩෙන්නට විය. තමා තම සහෝදර රාහුල තෙරණුවන් කෙරෙහි මෙතෙක් දක්වා ඇත්තේ පැවිද්දෙකුට නොව, ගිහියෙකුට ද තරම් නොවන ප්‍රතිචාරයකැ යි ද, ඒ අයපහත් ප්‍රතිචාරයේ විපාක වශයෙන් තමා පිරිහීමට පත්විනැ යි ද නන්දරාම සිතයි. තමා බෞද්ධයකු ලෙසින් ආරාමය ඇතුළත දී හැසුරුණු අවස්ථාවේ තමා කෙරෙහි තම සහෝදරයා හැසුරුණේ සාන්තුවරයකු ගේ විලාශයෙනි. එද ඔහු තමාට මෛත්‍රී පූර්වක ව හැලකූ ආකාරයත්, තමා කෙරෙහි කරුණාවෙන් ඒ පුවත නායක ස්ථවිරයින්ට වසංකළ ආකාරයත් හේ පුන පුනා මෙනෙහි කෙළේ ය. භික්ෂු ජීවිතයට නොසරිලන තම අසත් පැවතුම් කෙරෙහි ද අනතුරුව සිත යොමුකළ භික්ෂු තෙමේ, පළමු ව තම පාප මිත්‍රයින්ගෙන් ඈත්වීමටත්, දෙවනු ව තමා ගේ පෙම්වතියගෙන් අත්මිදීමටත් කල්පනා කෙළේය. සිවුරු දරා සිටින පාපතරයින්ගෙන් ඈත්වීමට ඒ තරම් අමාරුවක්



නොවෙතත්, සුජාතාගෙන් ඈත්වීම පහසු කාර්යයක් නොවේ. නන්දරාම මෙසේ සිතුවේ ය. "සුජාතා ආදරය කරන්නෙ මට නොවෙයි. මගෙ සිවුරට. බාගෙට කෙස් තියෙන හට්ට ගෙඩියට, මට සිවුරු අරින්න එපාය කියල කියන්නෙත් හොඳ හාමුදුරු කෙනෙක් වෙන්න කියන්නෙත් එයා. අනේපිඩු සිටාණන්ගේ දේවිය බුදුහාමුදුරුවන්ට උපස්ථානය කළා වගෙ මට උපස්ථානය කරන්නයි එයා ආසා. බැලුවාම එයා හරි. මම යි වැරදි. මම මෙච්චර කලක් ආදරය කෙළේ සුජාතාගෙ මූණට. පපුවට. හිනාවට. කොටින්ම ලේ මස් තියෙන ශරීර කූඩුවට. එයා මට තියෙන විශේෂ ඇල්ම සංසාරික සැබෑ ප්‍රේමයක් නම්, මාත් කැත හිත අතහැරල එයා ගෙ ශ්‍රේෂ්ඨ ගති පැවතුම්වලට ගරු සැලකිල්ලක් ඇල්මක් තබාගත්තාම නරක ද? එතකොට සුජාතා පමණක් නොවෙයි ශ්‍රේෂ්ඨ ගතිපැවතුම් තියෙන සියලු දෙනාටමත්, ඊටත් පස්සෙ හොඳ නරක සියලු දෙනාටමත් ආදරය කරුණාව දක්වන්න මට පුලුවන් වේවි"

විශ්ව විද්‍යාලයේ ශිෂ්‍යයින් කිහිප දෙනෙකු සමඟ කැලණි විහාරය නරඹන්නට ගිය අවස්ථාවේ දී විහාරය ඇතුළේ හේමමාලා හා දන්ත කුමරු ගේ ශ්‍රේෂ්ඨ බිතු සිතුවම ඉදිරියේ දී තමාත් සුජාතාත් අතර ඇතිවූ සංවාදයක් නන්දරාමට මේ අවස්ථාවේ සිහිපත්වී ය.

"අනේ බලන්න සාදු හරි ෂෝක්" සුජාතා කීවා ය. "මට හිතෙනවා අපි දෙන්න ද මය ඉන්නෙ කියල."

"මේ ළමයො හේමමාලයි දන්ත කුමරුයි. දන්නෙ නැද්ද. අයියයි නංගියි"

"ඉතිං අපි දෙන්නටත් අයියයි නංගියි වගෙ ඉන්න බැරි ද? මට ඕනෑ ඔන්න ඔහොම ඉන්න. ලංවෙලා එකට යන්න එන්න.

එක තැන ඉන්න. හැබැයි කසාද බැඳපු ජෝඩුවක් වගෙ එකට ඉන්න නෙමෙයි"

"මන්න මල්මාදෙ හැදුනා"

"අනේ සාධු නරකවෙන්න එපා, බොරු නොවෙයිනෙ, ඇත්තනෙ මම කිව්වෙ"

"ඔයාගෙ ඔය ඇත්තෙන් මට වැඩක් නෑ"

තමා ආධ්‍යාත්මික වශයෙන් පූජාතාට වඩා පහත් යයි නන්දරාම සිතුවේ ය. විශ්ව විද්‍යාලයේ සිටිනතාක්, තමාත් පූජාතාත් අතර පවත්නා බැඳීම නොනැසී තිබුණත්, අනතුරු ව එය ගහල කොළේ වතුර බිංදුව මෙන් ඇද හැළෙනු යි ඔහුට කල්පනාවෙයි. ගහල කොළය උඩට වැටෙන වැසි බිංදු එක් තැනකට එක්කාසු වේ. අනතුරුව රවුමට ලොකු වතුර බිංදුවක් සැදේ. පැද්දි පැද්දි මොහොතක් තිබෙන එය එක්විට ම ඇද වැටේ. වතුර බිංදුව තිබුණු තැනකවත් එයට පසු දකගත නොහැකි ය. එය එසේ ම විය යුතුව ඇතැ යි නන්දරාම දුන් සිතයි. පිනත් ගහල කොළයක් කරගත යුතු ය. සිතට මොක වැටුණත් අලවා බඳ ගත යුතු නැත.

විහාරස්ථානයේ අධිපතිකමට තමා දක්වන කෑදරකමට හේතුව බලකාමය යි, ධන කාමය යි. තමා අනෙකකු සතු අයිතිය උදුරාගැනීමේ අදහසින් මුලසිට ම ක්‍රියාකොට ඇත. රාහුල වැනි සිල්වත් ගුණවත් පැවිද්දෙකු සමග එක වහලක් යට වාසය කරන්නට ලැබීම ගැන තමා සතුටු විය යුතු වුවත්, තමා කර ඇත්තේ උන්වහන්සේ කෙරෙහි ඊර්ෂ්‍යා, කුහකකම් පැතිරවීම පමණකි. ඇත්තවශයෙන් ම සිත කය වචනය බොහෝදුරට හික්මී වූ මෙවැනි වෙනත් භික්ෂුවක් තමා කිසි



කල් නුදුටු බව කල්පනා කළ නන්දරාම, සිහිනෙන් අවදිවුවකු මෙන් යහනෙන් නැගිට පුදුමයෙන් වටපිට බැලුවේ ය.

නිදනවිට පමණක් දල්වන, නිල් එළියක් විහිදුවන කුඩා බල්බයෙන් මන්දලෝකයක් පැතිරෙයි. නන්දරාමට තම සිරුර සෙනුහේ සෙවනැල්ලක් පරිද්දෙනි. රාහුල තෙරණුවන් කෙරෙහි පිබිදුනු භක්තිමත් සිත ඇති භික්ෂුව දොර ඇරගෙන ඉදිරිපස කාමරයේ වසන රාහුල තෙරණුවන් ගැන විපරම් කරන අදහසින් ගොස් එහි දොර ඇර එබී බැලුවේ ය.

කාමරයේ විදුලි පහන නොදල්වේ. කන්දේ විහාර මළුව මතින් වැතු වූ හඳ එළිය ජනේලය තුළින් ගලාවුත් ජනෙල් පඩිය පුරා වැතිර තිබූ හෙයින් කාමරයේ තිබෙන සියල්ල සෙවනැලි ලෙසින් පෙනේ. ඉම්හිරි පිච්ච මල් සුවඳ ගලාඑයි. රාහුල තෙරණුවන් පිය යහන මත එරමිනියා ගොතා හිඳ නිහඬ ව පසුවන අයුරු නන්දරාමට දක්නට ලැබිණි. වශී වූ කලෙක මෙන් රාහුල තෙරණුවන් දෙස ම මොහොතක් බලාසිටි නන්දරාම, තුන් තැනම පහත් ව වැතිර වැද, හිස මත වූ මහ බරකින් නිදහස් වූ කලෙක තමන් නැගිසිටියේ ය. තෙරණුවන් ගේ සමාධියට බාධා නොකළ යුතු යයි හැඟීමක් ඇති වූ නිසා කතාවක් නොකර ම කාමරයෙන් පිට ව යාමට නන්දරාමට වුවමනා ව තිබුණත් දොර වෙත යාමට පෙර රාහුල තෙරණුවන් ගේ කටහඬ ඇසිණි.

"ඇයි නන්දරාම......"

"එහෙමයි"

"ඇයි?"

"ම්. ආගිය මෙතෙක් කල් මගෙන් ඔබ වහන්සේට සිදු වූ

වැරදිවලට සමාව ගන්නයි. මම ඔබ වහන්සේගෙන් සමාව ඉල්ලුවා. මම ඉතා පහත් තත්ත්වයක මනුෂ්‍යයෙක් ව සිටියා හාමුදුරුවනේ. මම ඔබ වහන්සේ නියමාකාරයෙන් දුටුවේ අදයි. මට ඔබ වහන්සේ ඉදිරියේ දණින් නොවැටී සිටින්න අපහසුවුණා. මම ඔබ වහන්සේ ඉදිරියේ දණින් නොවැටුණා නම්, සමාව නොඉල්ලුව නම් මට අද නින්ද යන්නෙ නෑ"

රාහුල තෙරණුවෝ දෙපා පහතට දමා යහන මත හිඳගත් හ.

"නිතල බලන්න. නන්දරාම ද්‍රෝහිවෙලා හිටියෙ මට නොවෙයි. තමන්ගෙ ම සිත තුළ වෙසෙන දෙවියා සමඟ යි. සිත පිරිසිදුව තබාගත්තොත් කවදාවත් සිත තුළ වෙසෙන දෙවියා පලා යන්නෙ නෑ. යක්ෂයා ආවේශවෙන්නෙ නෑ. පිරිසිදුව සිතන්න. පිරිසිදුව ක්‍රියාකරන්න. එය ඔබටත් හොඳයි. මටත් හොඳයි. මේ පන්සලටත් හොඳයි. ගමටත් රටටත් සාන්තියක්"



# 7

කමලාවතී දරු දෙදෙනා ද සමඟ යළි යසපාල ගේ ගෙදර ජීවත්වෙයි. ජීවත්වීමට ඇයට ආධාරයක් කළ යුතු යයි සිතූ පන්සලේ ලොකු හාමුදුරුවෝ කිරි කට්ටි දෙකින් එකක් ඇයට පැවරූ හ. විශේෂ කාරණාවක් වශයෙන් තමා කපන කිරි කට්ටියේ ඔට්ටුපාලුද ගෙදර ගෙන ගොස් විකුණා ගැනීමට ඇයට අවසරය ලැබ තිබිණි.

කමලාවතීට කලින් ඒ කිරි කට්ටිය කැපුයේ ඩිලින් නෝනා ය. ඇගේ කැපුම් හොඳ නැති නිසා ගස් තුවාළ වී ඇතැ යි ලොකු හාමුදුරුවෝ ඇයට කී හ. අනෙක් කිරි කට්ටිය කපන්නේ සිංඤප්පු ය. කිරි කට්ටිය කපනවාට සිංඤප්පුට සතයක්වත් නොගෙවන නිසා ඔහු අයින්කර එය කමලාවතීට දීමට ලොකු හාමුදුරුවන් ගේ කැමැත්තක් නොතිබිණි.

කමලාවතී ගේ කිරි කැපුම පරීක්ෂාකරන අදහස පෙරදැරි ව යන ගමනකැ යි තමන්ට ම සහතිකකොට කියා පළමු දිනයේ

දී ම කමලාවතී ගේ කිරි කට්ටියට ගිය ලොකු හාමුදුරුවෝ, කපන ලද එකිනෙක ගස් පරීක්ෂා කරමින් ගොස්, කමලාවතී ළඟ නැවතුන හ. කිරි ගසකට නිකමටවත් කිරි පිහියක් තියා නැති හාමුදුරුවෝ ඒ වගක් කමලාවතීට නොඅඟවා මෙ සේ කී හ.

"මෙයා මීට ඉස්සෙල්ලා කොහේද කිරි කපල තියෙන්නෙ, කියමු බලන්න"

ප්‍රශ්නයට කමලාවතී උත්තරයක් දෙන්නට ප්‍රථම ලොකු හාමුදුරුවෝ ඊට වඩා වැදගත් ප්‍රශ්නයක් මතු කළ හ. කමලාවතී ගේ ළමයින් දෙදෙනා ද ගසින් ගසට මාරුවීම ඒ ප්‍රශ්නය අසන්නට හේතුවී ය. "ඇයි මේ ලොකු ළමයා ඉස්කෝලෙ යවන්නෙ නැත්තෙ? කීය ද මේ ළමයගෙ වයස?"

"දැන් හතක් පනුවෙලා හාමුදුරුවනේ, මං මෙහෙ ඉන්න කොටයි ඉස්කෝලෙ දැම්මෙ. දැන් බලාපුවාම ගෙදර පොතක්වත් නෑ"

"මේ ඔක්කොම වුණේ මෙයා නුසුදුසු ගමනක් ගිය නිසා නොවැ"

"එහෙමයි හාමුදුරුවනේ. මං කල්පනා කෙළේ ලබන වාරේ ඉඳන් ම යවන්න. මොකද හෙට අනිද්දා දිහාට අවුරුදුවලට නිවාඩු දෙනවයි කියනවානෙ"

ළමයින් දෙදෙනා ම ලොකු හාමුදුරුවන්ට බය ය. මේ ලොකු හාමුදුරුවෝ ඒ දවස්වල තමන් පන්නාගත් බව ළමයින්ට මතක ය. රාහුල හාමුදුරුවන් නම් කවදත් එක වාගෙ තමන්ට ආදරය කළ බව ඔවුහු දනිති. ළමයින් දෙදෙනා හාමුදුරුවන් ළඟ රැඳිසිටීමට කැමැත්තක් නොදැක්වූ හෙයින්, හාමුදුරුවන්ගෙන්



ඈත් ව කරන්ට වෙන වැඩක් නැති හෙයින්, ඉරිමුසු පැළයක් උගුල්ලන්ට වූ හ. ලොකු ළමයා සරම ගුලිකරගෙන බිම හිඳ කෝටුවකින් පස් බුරුල් කරන්ට වූ අතර, කුඩා ළමයා දැත් ඉණට ගසාගෙන පහත් වී සිටියේ ය. ළමයින් ඈත් ව සිටීම හාමුදුරුවන්ට සතුටකි.

"මෙයාට මං කියන්නයි උන්නෙ. ඉස්සර වගෙ මෝඩ වැඩ නොකර ළමයින් දෙන්නත් එක්ක තනිවම ගෙදර උන්නොත් හොඳයි. මටත් බැරියැයි පුළුවන් විදියට උදව්වක් කරන්න. වෙන පිරිමි ගැන නොසිතුවට කාරි නෑ........"

උඩ සිට පහළට කැපුම් කට්ටය දිගේ එන කිරි, පිහිය පුහුබඳී. කිරි පාර වේගයෙන් අවුත් කිරි පිහියේ හැපී බිම වැටෙනැ යි හාමුදුරුවන්ට සිතුනත්, කමලාවතී පළමු බිංදුව බිම වැටෙන්ට ඔන්න මෙන්න කියා තිබිය දී පොල් කට්ට පිල්ලේ රැඳවූවා ය. කමලාවතී කිරි කැපිල්ලට ද ඉතා දක්ෂ බව සෝමාරාම ස්ථවිරයෝ නිගමනය කළහ.

"මෙයා කිරි කැපිල්ලටත් බොහොම ශූරයි වගෙ........?"

"කිරි කැපිල්ලටත් කියල කිව්වෙ හාමුදුරුවනේ......."

"නෑ ඉතිං කිරි කැපිල්ලත් නැමෝරටමත් බෑ"

"බැරිය කියල දෙයක් නෑ හාමුදුරුවනේ"

"මං හිතන්නෙ කොච්චර ඉගෙනගත්තත් මෙයාට වගෙ කිරි කපන්න මට කවදාවත් පුළුවන්වෙන එකක් නෑ. මං හිතුවෙ ගලාගෙන ආපු කිරි පාර දැන් බිමට වැටෙයි දැන් බිමට වැටෙයි කියල නොවැ. කොහේද කමලාවතී කිරි පාරට ඉස්සරවුණා. හරි හපන්කමක් ඒක......"

"ඕක මොන හපන්කමක් ද හාමුදුරුවනේ......."

"හා එහෙම කියන්න එපා. කමලාවතී බොහොම දක්සයි නොවැ. හැඩ වගෙ තමයි වැඩත්! ඉතිං මොකක්ද මං කිය කියා හිටියෙ........ හරි. කමලාවතී වෙන පිරිමි ගැන නො හිතුවාට කාරි නැ.........."

ඔට්ටපාලු උන්ඩිය ද රැගෙන අනෙක් ගසට මාරු වන්නට ප්‍රථම, පිරිමි ගැන වූ හාමුදුරුවන්ගේ කතාවට කමලාවතී උත්තර දුන්නා ය. "වෙච්ච දේ මදැයි මට......... මං ආයිත් නම් කිසිම මිනිහෙක් වැද්දගන්නෙ නෑ. මට ඕනැ්නෙ මගෙන් මගෙ මැරිච්ච මිනිහට වෙච්ච වැරැද්දටත් හිලව්වෙන්න ළමයි දෙන්නවත් හදගෙන, උන්ට උගන්නාගෙන මගෙ පාඩුවේ ඉන්න. කාත් කවුරුවත් නැති අපිට අනුකම්පා කළාට ඔබ වහන්සේට පිංසිද්ද වෙන්න ඕනැ"

"ඒක පෙර ආත්මෙක කරපු කුසල කර්මයක්. මං කියන විදියට කටයුතු කළොත් තව තවත් කුසල් රැස් කරගන්න මෙයාට ලැබේවි"

කමලාවතී ගිය ඊළඟ ගස ළඟටත් හාමුදුරුවෝ වැඩිය හ. අනෙක් කිරි කට්ටියේ කිරි කපන සිංඤප්පු හැම ගසක ම ඇති හැම පොල් කට්ටක් ම ගලක හෝ මුලක ගසන නිසා ශබ්දයක් ඇති වේ. ඔහු එ සේ කරන්නේ පොල් කට්ටේ වැලි රැඳී ඇත්නම් ඒවා ඉවත්කිරීමට ය. කමලාවතී එසේ කරන්නේ නැත. ඕ වැලි තිබේ නම් ඒවා අතින් පිසදමයි.

ගස් ගොන්න නිසා මහ පාරේ යන කිසිවෙකුටවත් තමන් නොපෙනෙන බව හාමුදුරුවෝ දනිති. දකිතොත් දකින්නේ සිංඤප්පු පමණ ය.



"හොරණ රජමහා විහාරයේ පිරිත් පිංකමත් පටන් ගන්නා නොවැ"

"එහෙමයි. මටත් ආරංචියි. අපිට කොයින්ද හාමුදුරුවනේ ඉව්වායේ යන්න වාසනාවක්?"

"හොරණ රජ මහා විහාරයේ පිරිත් පිංකම පටන් ගන්නාය කියල කියාපුවාම ඉස්සර නම් කොහොම ද? මට මතකයි කොප්පැණි කාලෙන් රෑ එළිවෙනකල් බස් දිව්වා. සෙනඟ ඝූ ගාලා රැස්කනවා. ඇඟිල්ලක් ගහන්න ඉඩක් නෑ. රටට වෙච්ච දේ කියල මම මේ කල්පනා කෙළේ. හොරණ ඕනැයි....... මේ පන්සලේ හතළිස් හතේ අවුරුද්දෙ තිබුණු පිරිත් පිංකම බලන්න එපැයි. මේ පන්සල් වත්තෙත් එකක් පිරෙන්න හැමදාමත් සෙනඟ ආවා. ඒකෙන් ලැබිච්ච ආදායමෙන් තමයි ඔය අලුත් විහාර ගෙයි හැදුවෙත්. එතකොට ලොකු හාමුදුරුවො ඉන්නවා. මම මහණවෙච්ච අලුත. කමලාවතීට මතක ද ඒ පිරිත් පිංකම?"

"හපොයි මට කොයින්ද මතක හාමුදුරුවනේ....... මං ඉපදුනේ පනාහෙනෙ"

"එහෙම ද? එතකොට කමලාවතීට තාමත් තිස්තුන නොවැ වයස? වෙන්න ඇති. අපේ පොඩි උන්නාන්සේලා දෙන්න නම් ගිහිං පිරිත් පිංකමට. මායි සිංඤප්පුයි විතරමයි ඉන්නෙ. උන්නාන්සේලා දෙන්නා පන්සලේ නැතිවාම හරි පාලුයි, කුසල් සිද්දකරගන්න පිරිත් පිංකමට නොගියාට බැරුවැයි....... හ්ම්.... ආව නම් නවයට දහයට විතර පන්සල පැත්තෙ. ඒ වේලාවට ළමයි දෙන්නා නිදගන්නෙ නැතැයි?"

හිස වටා අත යවා නාසය ඇල්ලුවකු ලෙසින් නායක ස්ථවිරයෝ වෙහෙසට පත් ව සිටිය හ.

හාමුදුරු නමකට දෙන්න පුළුවන් උතුම්ම ම දනය කුමක් ද යි මේ ලොකු හාමුදුරුවන් ම ඒ කාලයේ තමාට කියා දුන් බව කමලාවතීට මතක ය. ඒ දනය දෙන්න ඒ කාලයේ පැදීපැහැදී සිටියත් පුදුසු අවස්ථාවක් උදා නුවූ නිසා දිගන්න බැරිවී ය. හාමුදුරුවෝ එය දත් ආයින් ඉල්ලති. ඒ දවස්වල තමාට ඒ ගැන තුබූ ඕනෑකොම දත් නැතත් හාමුදුරුවන්ගේ උදව් උපකාර නිසා ඕනකොමක් නොතිබ්බත් ඉල්ලනවා නම් නොදී බැරි ය. එහෙත් ඒ බරපතල වැඩකැ යි කමලාවතීට සිතෙයි.

"අනේ හාමුදුරුවනේ, මං බණ දන්නෙ නෑ. ඒ වුණාට ඕක පව් සිද්දවෙන වැඩක් නේද? මං කටුඉඹුලෙ ගියාම මොකද, මං පව්කාරියක්. ඔබ වහන්සේ ගැනයි මං කල්පනා කෙළේ"

"කවුද කමලාවතීට කිව්වෙ ඔය වගේ?"

"ඔය ගැන කල්පනා කරන කොට අපේ අම්මා ඉස්සර කිව්ව කතාවක් මට මතක්වුණා. පන්සලක උන්නු හාමුදුරු නමක් ගෑනු කෙනෙක් එක්ක ඉඳල අහුවෙලා ඒ දයකයො ඒ හාමුදුරුවන්ව පන්සලෙන් පන්නල වෙන හාමුදුරු නමක් ගෙන්නල පන්සල භාර දුන්නලු........"

"ඒ දනෙ දයකයො දැනුවත්තෙත් භුක්තිවිඳින්න කැප නෑ. කිසිම කෙනෙකුට කියන්න නාකයි. එහෙම දැක්කොත් වස් වදිනවා ගානයි. ඒක නොවැ ඒ උන්නාන්සේලාට වෙලා තියෙන්නෙ. ඒ නැත්නම් ඒ කටයුත්ත කොකාත් සුදුයි, කොකාගෙ වර්චස් පිඩත් සුදුයි කියන්නනෙ තමා!"

"එහෙමයි" කමලාවතී කීවා ය. ඇයට හිනායන්නට ආවත් ඕ ඒ හිනාව වැයමින් මැඩගෙන තව ගසකට සේන්දුවෙද්දී



සෝමාරාම ස්ථවිරයෝ මෙ සේ ඇසූ හ.

"කමලාවතී රාත්‍රියට බය ද?"

"නෑ හාමුදුරුවනේ"

"කොච්චර හොඳ ද? එහෙම තමයි ඉන්න ඕනෑ"

ලොකු හාමුදුරුවන් ගිය පසු ළමයින් දෙදෙනා මව ළඟට දිව ආහ. පොඩි දරුවා ඉරිමුසු මුලක් හපමින් සිටියේ ය.

"මොකද අම්මා හිනාවෙන්නෙ?" ලොකු ළමයා ඇසුවේ ය.

"මොකුත් නෑ"

කමලාවතීට හිනාගියේ කොකාගේ වර්චස් පිඩේ සුදු ගැන හාමුදුරුවන් කී කතාවට ය. හාමුදුරුවො හිතා ඉන්නෙ මං එළදෙනෙක් කියල. කොහොම වෙතත් හිතෙනවා බඩගිනි ඇත්තෙකුට කන්න දීම පිං සිද්දවෙනව කියන එක. පවක් වෙතත් වෙන්නෙ හාමුදුරුවන්ට. මගෙ මොකෝ. වෙන දන දුන්නාම කුසල් සිද්දවෙන්නෙ මතු ආත්මභවවලදි. මේක එහෙමැයි? දනෙ දෙන්නත් ඉස්සෙල්ලානෙ පළදෙන්න පටන්ගන්නෙ. මං මේ ගස් කට්ටිය කපන්නෙ, ඔට්ටුපාලු ටික මට විකුණගන්න ලැබෙන්නෙ ඒක නොවැ"

"අම්ම ඒ ගමන කල්පනා කරනවා" ලොකු ළමයා කීය.

"උඹලට නම් මොකද? කන්න දුන්නාම ඔහේ දුව පනින එකයි තියෙන්නෙ. මට එහෙම ද? කොච්චර දේවල් කල්පනා කරන්න තියෙනවද?"

* * *

හොරණ රජමහා විහාරස්ථානයේ පිරිත් පිංකමට වැඩමකළ තෙරණුවෝ උදය ආපසු විහාරස්ථානයට වැඩම කළ හ. නන්දරාම ආ සැණින් නින්දට ගොස් හෙ පැයකින් අවදිවී ය. හොරණ දී පැයක් හෝ දෙකක් නිදසිටි රාහුල තෙරණුවන්ට නින්දක අවශ්‍යතාවක් නොවී ය. උන්නාන්සේ නැමට ළිඳට ගොස් හොබෝ වේලාවකින් නන්දරාම ද ළිඳට පැමිණියේ ය. වෙන ද රාහුල ළිඳ ළඟ පසුවන විට නන්දරාම නොපැමිණෙයි.

"මට නම් මළා වගෙ නින්ද ගියා. සිංඤප්පු අවදි කෙළේ නැත්නම් තාමත් නිදි. ඔබ වහන්සේ නිදගත්තෙ නැද්ද?"

"පැය දෙකකට කිට්ටු කාලයක් මම එහෙදි නිද ගත්තා. නිදිමතක් නෑ මට"

"පිරිත් පිංකම ගැන ඔබ වහන්සේ ගේ අදහස කොහොම ද? මට නම් ඇතිවුණේ කලකිරීමක්. අපේ හාමුදුරුවන් ගැන අපේ ගිහි උදවිය ගැන කවදාවත් නො හිතුනු දේ මට හිතුනා. ඒක පිරිත් පිංකම් පොළක් නෙමෙයි, කානිවල් පොලක්, නායක උන්නාන්සේලාවත් ඇයි මේ ගැන නොහිතන්නෙ?"

තම සහෝදර නන්දරාම තෙරණුවන්ට සම්‍යග්දිෂ්ටිය පහළ ව තිබීම ගැන රාහුල තෙරණුවෝ අපමණ සතුටට පත්වූ හ. භික්ෂු ජීවිතය හැඩගසාගැනීමට මේ හරිදැක්ම අත්‍යාවශ්‍යවේ යි. මෙයට පෙර නන්දරාම මේ විදියට කතාකර නැත. වෙන ද මෙන් ඔහු තරුණ භික්ෂූන් සමඟ කදේ වැටී කොක්හඬලා සිනාසෙමින් ද, දුම් වැටි උරමින් ද කාලය ගතකෙළේ නැත, පඤ්ඤදස්සි ස්ථවිරයින් වහන්සේ ගේ කාමරයේ උන්වහන්සේ ගේ පොත් රාක්ක අතර, තම විවේක කාලය ගතකරන්නට කැමති වූ නන්දරාම උන්වහන්සේගෙන් පොත් කිහිපයක් ඉල්ලාගෙනවුත් තිබුණේ ය.



තමන් ගේ අදහස් රාහුල තෙරණුවන් ද අනුමත කරන බව නන්දරාම තෙරණුවෝ දනිති.

"කතා කරල බලන්න එපැයි, පඤ්ඤාදස්සි හාමුදුරුවො විශ්ව කෝෂයක් වගෙයි. නොදන්නා විෂයක් නෑ. පරමාණුව – කොම්පියුටරය එක්ස් කිරණ – සිතිවිලි – ඔක්කෝම දන්නවා. පුදුමෙ කියන්නෙ ඒ හාමුදුරුවො ගැන වුණත් මට ඇතිවුණේ සැකයක්. නිරාමිස ප්‍රීතිය තියෙන්නෙ නිර්මල සිතක ය කියල ඒ හාමුදුරුවො කියනවා. ඇයි එහෙම නම් ඒ හාමුදුරුවො තමන්ගෙ කාමරයේ ලොකු ටේප් රෙකෝඩරයක්, ටෙලි විෂන් යන්ත්‍රයක්, කැසට් රේඩියෝවක් තියාගෙන ඉන්නෙ. සිත පිරිසිදුකර ගන්න – අනවශ්‍ය අරමුණුවලින් සිත මුදාගන්න – මේ මෙවලම් වලින් වැඩක් නෑ නේද? ඔබ වහන්සේ මොකද මේ ගැන කියන්නෙ?"

රාහුල තෙරණුවෝ මඳ හස පෑ හ. උන්වහන්සේ සිතමින් සිටියේ පඤ්ඤදස්සි ස්ථවිරයින් ගැන නොව, නන්දරාම ගැන ය. ගෙවීගිය දවස් කිහිපයකට ඔහු පුදුමාකාර ලෙස වෙනස් ව ඇත. තමන් ඔහු කෙරෙහි සැලකිලිමත්වීම, ඔහුට ප්‍රේම කිරීම නිසා ම මේ පෙරළිය පහළවිණි ද යි උන්වහන්සේ සිතති.

"පඤ්ඤදස්සි හාමුදුරුවන් ගැන මට පුදුමයක් නෑ. දනුම ගොඩගසා ගැනීමෙන් ඒ හාමුදුරුවො සියුම් වින්දනයක් ලබනවා. ඒක විමුක්ති මාර්ගයක් නොවන බවත් ඒ හාමුදුරුවො දන්නවා. කොහොම වෙතත්, අපේ බොහෝ සංඝයා වහන්සේලාට වඩා උන්වහන්සේ ශ්‍රේෂ්ඨ යි. මට පුදුම ඔබ වහන්සේ ගැන. ඔබ වහන්සේ ගේ මේ පෙරළියට මුල මොකක්ද? කුමක් වුණත් මම ඔබ වහන්සේ ගැන සතුටුවෙනවා. බොහෝ කලකට පසු අලුත් ප්‍රීතිදායක ආරංචියක් ලැබුණාවගෙ සතුටට පත්වෙනවා"

අඳනකඩය ඇඳ සිටි නන්දරාම, පනිට්ටුව පුරවාගත් වතුර හිස මත වත්කරගන්නේ ය.

"මං ධම්මපදය කියෙව්වා. දනට තුන් වරක් කියවා තිබෙනවා. තවත් විසි තිස් වරක්වත් කියවන්න ඕනැ, ඒ අදහස් මගෙ සිතට කිඳ බැස්සෙ ඔබ වහන්සේ නිසා. මම ඉස්සරත් ධම්මපදය කියවල තියෙනවා. ඒ වුණත් ඒ දවස්වල මගෙ හිත අනම්මනම් සිතිවිලිවලින් පිරිල තිබුණයි කියලයි මට හිතෙන්නෙ. ධම්මපදයෙ එක වචනයක් වත් පත්තියම් කරගන්න මට ඒ දවස්වල පුලුවන් වුණේ නැ"

* * *

තමන් ද පිරිතට වඩින බව අහවා, දවල් දනය ද වළඳ ආවාස ගෙයින් නික්මගිය සෝමාරාම ස්ථවිරයෝ දෙ පැයක් ඇතුළත මෝටර් රථයකින් ආපසු වැඩිය හ. උන්වහන්සේ ගේ මුහුණ උද්දාමයෙන් පිරී පැවතිණි. මෝටර් රථයෙන් බැස පොඩි හාමුදුරුවන් දෙනම අසලක සිටින් දැයි විපරම් කළ ස්ථවිරයෝ ඔවුන් බණ මඩුවේ සිට තමන් දෙසට එනු දැක සතුටුවූ හ. තම ගෝල දෙනම එක්වර ම ප්‍රීතියටත් පුදුමයටත් පත්කිරීමට සෝමාරාම ස්ථවිරයන්ට වුවමනා වී තිබිණි. "දෙන්නම ආවනම් ඉක්මණට......."

නන්දරාම තෙරණුවෝ පළමු ව පැමිණි අතර, රාහුල තෙරණුවෝ දෙ වැනි ව මෝටර් රථය සමීපයට පැමිණියහ. රියැදුරාත් තවත් කෙනෙකුත් මෝටර් රථයෙන් බිමට බැස සිටිති.



"පෙට්ටිය බාගන්න උදව්වුණා නම් දෙන්නත් එක්ක. කෝ සිංඤප්පු? සිංඤප්පුටත් කතාකළානම්......."

නායක ස්ථවිරයෝ අහල් විස්සේ වණ් රූපවාහිනියක් ගෙනවුත් තිබේ. පොඩි දෙනම ප්‍රීතියෙන් ඉපිල යනු ඇතැ යි උන්වහන්සේ සිතති. පෙට්ටිය තිබුණේ කාරය ඇතුළේ නොව, දිගහරින ලද ඩිකියේ ය. පෙට්ටිය ඇතුළේ තිබෙන්නේ රූපවාහිනියක් බව නන්දරාම පළමුව හඳුනා ගත්තේ ය. රියැදුරාත් පැමිණ සිටි තරුණයාත් ලොකු පෙට්ටිය බිමට ගන්න උත්සාහ කරද්දී නායක ස්ථවිරයෝ පොඩි දෙනමට යළිත් කතාකළ හ.

"ඕක හරි බර ඇති....... ඔය දෙනමත් දෙපැත්තෙන් ඇල්ලුව නම්......."

රූපවාහිනි සේවය පටන් ගත් ද සිට සිතේ නලියමින් තිබු ලොකු හාමුදුරුවන් ගේ බලාපොරොත්තුව සඵල ව තිබේ. සිංඤප්පු ද පැමිණියේ ය. ඔහු ගේ කට ඇරුණු ගමන් ය. පෙට්ටිය විවෘත කරනතෙක් ඔහුට ඉවසිල්ලක් නැත.

"මොකක් ද මහත්තයා මේ පත පෙට්ටිය?"

"ටෙලිවිෂන් එකක්" තරුණයා උත්තර දුන්නේ ය.

"අම්මපා. පන්සලට ද? ඒක හොඳයි. හරි හරි මට දනුයි තේරුණේ. ලොකු හාමුදුරුවෝ හීන් දිග උණ ගහක් කපල තියන්න ය කියල කිව්වේ මේකට තමා"

"ලොකු හාමුදුරුවනේ........ දුවල ගිහිං උණ ගහ මං ගේන්න ද?"

"උණ ගහ එපා. මං ඒකට පයිප්පයක් ගෙනාවා.......... උණ

ගහ දිරල යනව නොවැ බොහොම ඉක්මණට''

නන්දරාම හා රාහුල එක වචනයක් හෝ කතා නොකිරීම ගැනත්, ඔවුන් ගේ මුහුණුවල අමුතු උද්දාමයක් නොපෙනීම ගැනත් ලොකු හාමුදුරුවෝ පුදුමවූ හ.

ධාතු කරඬුව තබා ඇති අල්මාරිය ළඟ, ශක්තිමත් හතර ප් ටීපෝව උඩ අලුත්ම යන්ත්‍රය තැබිණි. තිබූ ලොකු අඩුපාඩුවක් සම්පූර්ණවීමෙන්, මුලු පන්සල ම ඒකාලෝක වූ කලෙක මෙන් ලොකු හාමුදුරුවන්ගේ සියොළඟ ප්‍රීතියෙන් පිනාගියේ ය. ඇන්ටනාව සවි කරනතෙක් මඳ විවේකයක් ගතකිරීමට කැමති වූ උන්වහන්සේ හාන්සි පුටුවේ ඇල වී කකුල් දෙක ද වතන් දෙක උඩ තබා ගත්තෝ ය.

''මේ ඇත්තො දන්නවද මේකට කීයක් ගියා ද කියන්න?'' නායක ස්ථවිරයෝ ගෝල දෙනම ගේ මුහුණු දෙක දෙ වරකට බලා ප්‍රශ්න කළ හ. ප්‍රශ්නයට උත්තරය උන්වහන්සේ විසින් ම ප්‍රකාශයට පත්කරන ලදී. ''ඔක්කෝම දහතුන් දහට දෙසීයයි අඩු..........''

සිංඤප්පු යන්ත්‍රය වටා යමින් එය තවදුරටත් තරඹමින් සිටියේ ය. නායක ස්ථවිරයන්ට හිනා ය.

''සිංඤප්පු, හොඳට මතක තියාගන්නවා හොඳයි. මේකෙ තියෙන ඇණ මුරිච්චි කරකවනව හෙම නෙවෙයි''

''එහෙමයි. එහෙමයි''

නායක ස්ථවිර රිළඟට කතාකෙළේ එක්කෙනෙකුට දෙන්නෙකුට නොව මුලු රටට ම ය.

''මේ ආණ්ඩුව කරපු එක හොඳ වැඩක් තමා මේ ටෙලිවිෂන්



පටන්ගත්තු එක. අනික ඉස්කෝල ළමයින්ට පොත් දීපු එක. හතුරා වුණත් හොඳ වැඩේට හොඳයි කියන්න ඕනැ. දැන් ඉතිං නුවර පෙරහැර බලන්න නුවර යන්න වුවමනා නෑ. සුවිච් යතුර කරකවනවා විතරයි. මේවා හදපු මිනිස්සුන්ගෙ මොළේ තමයි මොළේ කියන්නෙ...... මට නම් හිතාගන්නවත් බෑ, මේ පෙට්ටිය ඇතුළට පණ තියෙන පින්තූර කොහොම එනවද කියල........''

රූපවාහිනියේ සියලු අංගෝපාංගයන් සවිකරන තෙක් රාහුල තෙරණුවන් ඒ අසල රැඳී සිටියේ නායක ස්ථවිරයන් සතුටු කරන අදහසිනි. රූපවාහිනී යන්ත්‍රයකට ළංවීම සමාධිය ඇත්වීමට හේතුවකැ යි ද කරදරයක් පවලවා ගැනීමකැ යි ද උන්වහන්සේට සිතිණි. ගිහි ගෙයින් නික්ම පැවිදි බිමට එළැඹෙන්නේත්, පැවිදි බිමට එළැඹි පසු ලෞකික අපේක්ෂාවන්ගෙන් ඈත්වන්නේත් පරම සුවය පිණිස ය. ඒ පරම සුවය ඇත්තේ යන්ත්‍රසූත්‍රවල නොව, නිර්මල චිත්තසන්තානය තුළ ය. නිර්මල සිතක් පහළකර ගැනීමට මෙ වැනි මෙවලම් මහත් බාධකයකි. එයින් සමාධිය බිඳීය යි.

මහ මුදලක් ගෙවා නැති කරදරයක් ළංකරගත් බව නන්දරාම තෙරණුවන්ටත් තේරෙයි.

රූපවාහිනිය ක්‍රියාත්මක කෙරිණි. වැඩ සටහන් ප්‍රචාරය නොවී ය. තිරයේ වැටුණේ බෞද්ධ කොඩියේ පාටවලට සමාන පාට පාට තීරු ය. යන්ත්‍රය ක්‍රියාත්මක කරන ආකාරය හා පාලනය කරන ආකාරය තරුණයා, තෙ නමට ම ඉතා පැහැදිලි ව විස්තර කර දුන්නත්, නායක ස්ථවිරයෝ ඔහුට යාමට අවසරයක් නුදුන්නෝ ය.

''තව මහ වේලාවක්යැ ළමයෝ. වැඩ සටහන පටන් ගන්නාම බැරියැයි යන්න. රූප කොහොම වැටෙයි ද කවුද

දන්නෙ? ඒව්ව ගැන අපිට දනුමක් තියෙන එකක්යැ? සිංඤප්පු, මේ දෙන්නට හොඳ තේ දෙකක් හදල දීපන්, කෝලිකුට්ටුත් ඇති. සිංඤප්පු, මේකත් හිතේ තියාගන්න ඕනැ. පන්සලට රූපවාහිනියක් ගෙනාව කියල කිසිම කෙනෙකුට කියන්න එපා. දන්නව නොවැ කලු මහත්තයගෙ ගෙදෙට්ට වෙච්ච දේ. පුටු ටිකත් ඉවරයිලු. මල්පෝච්චි ටිකත් ඉවරයිලු. ගෙදර මිනිස්සුන්ට නිදගන්නවත් ලැබුණෙ නැතිලු........"

සාඩම්බර සිත පෙරදැරි ව, පුවඳ, ද්‍රව්‍ය ද මුසුකොට බුලත් විදන්ටවන් නායක ස්ථවිරයෝ තනිවම සිතන්නට වූහ. "හිතේ තිබ්බිච්ච ඒ කාරණාවත් ඉෂ්ටකරගත්තා. තව මට ඕනැ කාරෙකක්. වැඩිය ලොකු නැති, පැට්රෝලුත් වැඩ කරන, හොඳ පුරුවම් කාර් පොඩ්ඩක්. අහසෙ නිල තමා හොඳ ම පාට. අද ඉඳන් ඒකට සල්ලි එක්කාසු කරන්න ඕනැ. පන්සලේ වැඩවලට මං මගෙ සල්ලි වියදම් කරන්නෙ මොට ද? දයකයින්ට ඕනැ දෙයක් කරගත්තාවෙ........"

* * *

රූපවාහිනියත් ගැනැතිය වගේ යයි සියලු වැඩ සටහන් අවසානවන තෙක් නැරඹූ ලොකු හාමුදුරුවෝ සිතූහ. මැති ඇමතිවරුන් ගේ හා ඔවුන් ගේ බිරින්දෑවරුන් ගේ මුහුණු දකීමෙන් හා දෙමළ වැඩ සටහන්, දෙමළ සිරස්තල දකීමෙන් වරෙක උන්වහන්සේ කෝපයට පත්වූ හ. විදුලි බුබුලු මැද අඩ නිරුවතින් නටමින් සිංදු කියන සුද්දියන් ද, කාපිරි ගැහැනුන් ද දක තවත් වරෙක උන්වහන්සේ ලජ්ජාවෙන් හා පිළිකුලෙන්



ඉවසිට බැලූහ. කොටින් ම මුල සිට අග දක්වා තිබුණේ, ලෝකයේ සියලු දන ජරාවට ලුණු ඇඹුල් එශයෙන් හොඳ පොඩ්ඩක් කළවම් කරනලද කසළ සලාදයකැ යි නායක ස්ථවිරයෝ නන්දරාමට කීහ. සිංහල භාෂාවටත්, සිංහලකමටත් එහි දක්වා තුබූ කුඩම්මා ගේ සැලකිල්ල උන්වහන්සේ ගේ දැඩි උදහසට හේතුවී ය. "මදයි මාත් අච්චාරු පෙට්ටියක් උස්සන් ආවා. මේක රට ජාතිය නහන්න හදපු එකක්. මුලා ජාතික ඇඳුම් ඇඳගෙන මයික් එක ඉස්සරහ පේවෙනකොට නම් දසපිල් ඇත්තො වගෙ. මුන්ට දන්න දේවල් නැතිවට ද තෝර තෝරා මේවා දන්නෙ. අපේ මිනිසුන්ගෙ ගුණධර්ම ශීලාචාරකම ඔක්කොම නැති බංගකරල මේ රට සිංගප්පූරුවක් කරපු දව අන්න උන්ට නින්ද යාවි. මුං කළ හොඳ වැඩේ මේකයි කියල මං හිතාගෙන හිටියට මුත් කරපු අන්තිම දහබත්දූරා වැඩේ නොවැ මේක! රුපියල් දහතුන් දහක් දීල මද යි මාත් උස්සං ආව අච්චාරු පෙට්ටියක්. මුලගෙ මූස්පේන්තු මූණු ටික බලන්න"

නායක ස්ථවිරයන් නින්දට ගියේ කෝපයෙන් වුවත්, රූපවාහිනියේ දර්ශන බොහොමයක් නැරඹූ රාහුල තෙරණුවන්ට එ වැනි කෝපයක් ඇති නොවී ය. සමාජයේ වැඩි දෙනා පහත් රුචියට හා පැවතුමට නතුවූවෝ ය. මෙ වැනි මෙවලම්වලට ඔවුන් උදෙසා වැඩි වැඩ සටහන් නිෂ්පාදනය කෙරේ. වරද, ලෝකාස්වාදයෙන් ඈත් වූ පැවිද්දෝ දන දන ම එ වැනි දෑ ංකරගැනීම ය. සුදු ගායිකාව අඩ නිරුවතින් නිතඹ සොලවමින් නිවෙන දල්වෙන විදුලි බල්බ මැද කළ අනඟ රැ ඟුමත්, උච්ච ස්වරයෙන් කළ ගායනයත් දක නායක ස්ථවිරයන් පිළිකුලෙන් ඉවත බලාගත් සැටි රාහුල තෙරණුවන්ට මතක ය. උන්වහන්සේ කළ යුතුව තිබුණේ, තමන් ගේ ම යටි සිතට

බොරු කිරීම නොව, ඒ දෙස උපේක්ෂාවෙන් බලා එහි නිස්සාරත්වය උඩු සිතට ද පසක්කිරීම ය. නැත්නම් ඉවත්ව යාම ය. රහසින් එම දර්ශනය නැරඹුවා නම්, උන්වහන්සේ කිසිසේත් ම ඉවත නොබලන බව රාහුල තෙරණුවෝ දනිති.

බොහෝවිට හෘදය සාක්ෂියට එකඟ අදහස් ඇත්තේ යටි සිතේ ය. උඩු සිතත් යටි සිතත් කාසියක දෙපැත්ත මෙන් දෙ හිතක් නොකොට එකම සිතක් බවට පත්කර ගැනීමට රාහුල තෙරණුවෝ කලෙක සිට වෙහෙසෙති.

දුටු දෑ ග්‍රහණය නොකොට නිහඬ නිදහස් සිතින් යහනට වන් රාහුල තෙරණුවන්ට විනාඩි කිහිපයක් ඇතුළත නිදගැනීමට හැකිවුවත්, නායක ස්ථවිර නිදි නොලබමින් තමා සතු අති විශාල මුදලක් තමා කරදරයට පත්කළ සැටි සිතමින් තැවෙමින් සිටියේ ය.

බෝ මලුවේ තාප්පය කඩා වැටී ඇත. එය ප්‍රකෘතිමත් කිරීමට රුපියල් තුන් හාර දහසකට වඩා නොයයි. තමා ගේ මුදලින් එය ප්‍රකෘතිමත් කළා නම්, ඒ දකිනවිට තමාට නිරාමිස ප්‍රීතියක් අත්වෙන්නට තිබුණා නොවේ දැයි උන්වහන්සේට සිතුනත්, ඒ සිතිවිල්ල දයකයින් පිළිබඳ ව තමා තුළ පවත්නා අමනාපය නිසා මොහොතින් වෙනස් වි ය. අවසාන වරට නායක ස්ථවිරයන්ගේ නිගමනය වූයේ රූපවාහිනියේ යහපත් වැඩ සටහන් ඇතොත් පමණක් එය ක්‍රියාත්මක කිරීමට ය.

"වස විෂ තිබුණාට අපි ඒවා ගිලිනවැයි? නොහොබිනා දේ නොබලා ඉන්න එකයි තියෙන්නෙ. හරියට පැන්ට් බෝතලේ අල්මාරියේ තියෙන්නා වගෙ ඒකත් ඔහෙ තිබ්බාවෙ........"



# 8

ඊරිද උදය දහයට තම නිවසේ දී තමා හමුවන ලෙසට ප්‍රදේශයේ පාර්ලිමේන්තු මන්ත්‍රී තුමාගෙන් රාහුල තෙරණුවන්ට විදුලි පුවතක් ලැබිණි. විදුලි පුවත ලැබුණේ සෙනසුරාද ය. කාරණය කුමක් දැයි විදුලි පුවතේ සඳහන් ව නොතිබුණත්, ගුරු පත්වීම් දෙන ලැයිස්තුවක් මන්ත්‍රී තුමාට ලැබී ඇති බවත්, මන්ත්‍රී තුමා නිර්දේශ කරන අය පමණක් තෝරා ලැයිස්තුව ආපසු යැවූ කල අධ්‍යාපන අමාත්‍යාංශයෙන් ඊළඟට, ඔවුන්ට ගුරු පත්වීම් ලැබෙන බවත් නන්දරාම තෙරණුවන් විසින් රාහුල තෙරණුවන්ට දන්වන ලද්දේ ය.

පූජාරාමය වාමාංශික බලකොටුවකැ යි පනස් හයේ සිට ම හංවඩු ගැසී ඇති හෙයින් ද, රාහුල තෙරණුවන් දේශපාලන කටයුතුවල දී මධ්‍යස්ථ ව සිටි බවක් මන්ත්‍රී තුමා නොදන්නා හෙයින් ද රාහුල ගේ නම ලෙහෙසියෙන් නිර්දේශ කරනු ඇතැ යි නන්දරාම නොසිතයි.

රාහුල ගුරු පත්වීමකට ඉල්ලුම් පත්‍රයක් යවා තිබුණේ අවුරුද්දකට ද ප්‍රථම ය. ඒ උපාධිය ලද අලුත ය. දඩි හැලහැප්පුම්වලින් තොර ව, නිසල ව ගතවන තම ජීවිතය මේ ලද විදුලි පුවත නිසා මඳක් සසල ව ගිය බව තෙරණුවන්ට හැඟිනි. මන්ත්‍රීවරයා සාමාන්‍යයෙන් යහපත් පුද්ගලයෙකැ යි ප්‍රචාරය වී තිබුණත් ඔහු තමන් නොහඳුනන බව රාහුල තෙරණුවෝ දතිති. කවරදාවත් ඔහු පූජාරාමයට පැමිණ නැත.

විදුලි පුවත පිළිබඳ ප්‍රවෘත්තිය නායක ස්ථවිරයන්ට දන්වන ලද්දේ නන්දාරාම තෙරණුවන් විසින් ය.

"රාහුල අපි වගෙ දේශපාලනය කළැයි? රාහුල කාට ඡන්දෙ දුන්න ද කියල මමවත් නාම දන්නෙ නෑ. ඒ නිසාවෙන් දන් තියෙන්නෙ මේ පලාතෙ යූ. ඇන්. පී. සමිතියෙන් ලියුමක් අරගෙන යන එකයි. බලමු ලියුමක් දෙයි ද නොදෙයි ද කියල....... ලියුමක් නොලැබුණත් මන්ත්‍රී ලැයිස්තුවෙන් නම කැපුවත් බයවෙන්න දෙයක් නෑ. අපේ ආණ්ඩුවක් ආපු දට පළමුවැනි සුමානෙම රාහුල කියන තැනකට මම පත්වීම හදල දෙන්නම්. රාහුල කැමැත්තක් කරන්න. මම නම් මන්ත්‍රී පස්සෙන්වත් මන්ත්‍රීගෙ හෙන්වයියල පස්සෙන් වත් යන්නෙ නෑ"

තමන්ට රැකියාවක් කුමට ද යි රාහුල තෙරණුවෝ තනි ව ම සිතූ හ. ගුරු තනතුරක් සඳහා ඉල්ලුම් කළ දිනවල තමන් තුළ පැවතියේ ඈත නොදියුණු ප්‍රදේශයකට ගොස්, එහි ජනතාව ගේ ඇසුරට වැටී ඔවුන් ගේ දරු දැරියන්ට හුදෙකලාව සේවයක් කිරීමට ය. එ වැනි කැමැත්තක් තමන් තුළ පැවතියේ පන්සල ගැන එක්තරා කලකිරීමක් තුබූ බැවිනුත්, ස්වාධීන ව ජීවත්වීමට එය මාර්ගයක් වන හෙයිනුත් යැයි සිහිකළ රාහුල තෙරණුවෝ, තමන් වෙසෙන පන්සලටත්, ඒ අවටටත් ප්‍රථමයෙන්



තුමන්ගෙන් සේවාවක් වියයුතු යයි දත් තමන් තුළ පවත්නා සුසිවිල්ල යළි සමාලෝචනය කළෝ ය.

පැවිද්දෙක් නියමාකාරයෙන් තම පැවිද්ද රකිනවා නම් එ වැන්නෙකුට අමුතු රැකියා වුවමනා නැත. රජයෙන් පඩිනඩි අනවශ්‍ය ය. සිල්වත්කමට හා ගුණගරුකභාවයට බෞද්ධයෝ තවමත් ගරු සැලකිලි දක්වති. ඒ, එ සේ ද වුවත්, ගුරුවරයකු මඟ පෙන්වන්නෙකු ද වන නිසා ගුරුවෘත්තිය පැවිද්දෙකුට අකැප විය නොහැකි යයි උන්වහන්සේට කල්පනාවි ය. මෙහි දි ප්‍රශ්නය වී ඇත්තේ මේ සඳහා දෙතුන් දෙනෙකුට බැගෑවීමට සිදුවීම යි. රාහුල ළඟ උද්ධච්ඡභාවයක් නැත. තමන් මන්ත්‍රීතුමා ළඟට නොගියොත්, ඔහු තමන් වෙනුවට වෙනත් පුද්ගලයකු ලැයිස්තුවෙන් තෝරාගන්නවා ඇතැයි ද, එය ම රැකියා රහිත ගිහියෙකුට ජීවන වෘත්තියක් සැලසීමක් වනවා ඇතැ යි ද යන අදහස තෙරණුවන් ගේ සිතට තදින් කා වැදී ගියේ ය.

නිහඬ ව පසුවීම වඩාත් උචිත යයි රාහුල තෙරණුවෝ නිගමනය කළ හ.

*　　　　*　　　　*

ඉරිද මන්ත්‍රීවරයා හමුවීම වෙනුවට රාහුල තම සහෝදර නන්දාරාම ද සමඟ ගමේ ගෙවල් විසි තිස් ගණනකට ගියේ ය. ගමේ හැම ගෙදරකට ම යාම උන් වහන්සේලා ගේ බලාපොරොත්තුව විය. දඩාවතේ යන බල්ලන්ටත්, කිරි වවුලන්ටත් සෙවණ දෙන පන්සලේ බණ මඩුව ගමේ දරුදැරියන්

ගේ චරිතය හැඩගස්වන ආශ්‍රමයක් බවට පත්කළ යුතු යයි රාහුල නන්දාරාම සමඟ කතිකාකර තිබිණි. ගමේ දරුදැරියන්ට ගමේ බණ මඩුවේ දහම් පාසලක් පැවැත්වීම තෙරුන් වහන්සේලාගේ අභිලාෂය යි. ඒ දහම් පාසල රටේ වෙනත් බොහෝ දහම් පාසල්වලට වඩා වෙනස් විය යුතු යයි උන්වහන්සේලා සිතති. විෂයය අවබෝධයට වඩා දරුවකු ගේ චරිත ශක්තිය හැඩ ගැසීම කෙරෙහි වඩාත් පැලකිල්ලක් දක්විය යුතු යයි ද, දහම් පාසලේ කාලයෙන් වැඩි කොටසක් කැප කළයුත්තේ ඒ සඳහා යයි ද රාහුල තෙරණුවෝ කීහ.

ගමේ ධනවත් දරුපවුල්වලට වඩා උන්වහන්සේලා ගේ අවධානය යොමුවූයේ අන්ත දුගී තත්ත්වයේ පසුවන දරු පවුල් කෙරෙහි හා අයථා මාර්ගවලින් මුදල් උපයන දෙමව්පියන් ඇති දරු පවුල් කෙරෙහි ය. නැති බැරිකම නිසාම දුගී පවුල්වල දරුවෝ නොමගට යොමුවෙති. අයථා මාර්ගවලින් ජීවත්වන දෙමව්පියන් ගේ දරුවෝ දෙමාපිය ආභාෂය නිසා කෙලින් ම නොමඟ යෙති.

ගත වූ ආණ්ඩු සමයේ මහියංගනයේ පාසල් කිහිපයකට මාරුකර යවනු ලැබ, හැත්තෑ හතේ දී නිවාඩු දමා පැමිණ වේදිකාවට නැග්ග දක්ෂ කතිකයෙකු වූ හේමපාල මහතා ජයග්‍රහණයෙන් මසක් යන්නට ප්‍රථම උපන් ගම් ප්‍රදේශයේ ම මාණ්ඩලික අධ්‍යාපන නිලධාරියා බවට පත් වූයේ ය. පහස් පහෙන් විශ්‍රාම ගිය ඔහු දන් ගමේ පක්ෂ ශාඛාවේ සභාපති වන අතර, පක්ෂයේ ප්‍රාදේශීය බල මණ්ඩලයේ ලේකම්වරයා ද වෙයි. හේමපාල මහතාට මන්ත්‍රීවරයාගෙන් පමණක් නොව, ඕනෑම ඇමතිවරයෙකුගෙන් ඕනෑම වැඩක් කරවාගත හැකි යයි ගමේ අය සිතති.



ගමේ ගෙයක් ගෙයක් පාසා යන ගමනේ හේමපාල මහතා ගේ ගෙදරට ද ගොඩවන්නට තෙරුන්වහන්සේලාට සිදුවී ය.

හේමපාල මහතා ගෙදර නොසිටියේ ය.

රාහුල තෙරණුවන් තම ගෙදරට පැමිණියේ මන්ත්‍රී තුමා හමුවට යාම පිණිස සැමියාගෙන් ලිපියක් ලබාගැනීමට යයි සිතූ හේමපාල මහතාගේ බිරින්දෑ, ගමේ වාමාංශික බල කොටුවේ වාසය කරන පොඩි දෙනමට සමච්චලයක් කරන්නට මෙය අවස්ථාවක් කරගත්තා ය. ගුරු පත්වීම් සඳහා මන්ත්‍රී තුමාට නම් දහයක් එවා ඇති බවත්, එයින් නම් හයක් පමණක් තෝරා අමාත්‍යාංශයට යැවිය යුතු බවත්, ලයිස්තුවේ මුලට ම ඇත්තේ රාහුල තෙරණුවන් ගේ නම බවත් හේමපාල මහත්මිය දනී. හේමපාල මහත්මියත් ගුරුවරියකි. ඇයට ද මාණ්ඩලික ශ්‍රේණියක් ලැබී තිබිණි. ගුරුවර ගුරුවරියන් තිස් ගණනක් සේවය කරන මහා විද්‍යාලයක විදුහල්පතිනිය වන ඕ කොළ පාට සාරි ඇඳීමටත්, සිය ස්වාමිපුරුෂයා ගේ හපන්කම් ගැන කතාකිරීමටත් ප්‍රිය කරයි. ගුරුවරු ඇය “මැඩම්” යනුවෙන් අමතති.

ගෙයි ඉදිරි දොර වසා තිබිණි. ළමයින් කිහිපදෙනෙක් ඉඩකඩ ඇති මිදුලේ ක්‍රිකට් සෙල්ලම් කරති. ඔවුන් කහ සිවුරු ගණන්ගත් බව නොපෙනේ.

දොර ළඟට ගොස් බෙල් බොත්තම එබීමට රාහුල තෙරණුවන්ට සිදුවී ය. උන්වහන්සේ බොත්තමක් ඔබා මිනිසෙකුට කතාකළ පළමු අවස්ථාව මෙය යි. ඒ මිනිසා ගමේ මිනිසෙකු වීම ගැන උන්වහන්සේට කලකිරීමක් හටගත්තේ නැත. බොහෝ උදවිය දියුණුවේ ලක්ෂණ හැටියට දකින්නේ

මේවා බව උන්වහන්සේ දනිති.

සංඥාවට ඇතුළතින් පිළිතුරක් නැත. නන්දරාම බෙල් බොත්තම මිරිකාගත්වන ම සිට අතහැරියේ ය.

ගැහැනියකගේ කෝප මුහුණක් මුදුනැන් ගේ ජනේලයෙන් මතුවී ය. ඇය හේමපාල මහතා ගේ බිරින්දෑ බව නන්දරාම තෙරණුවෝ හඳුනාගත් හ. කුස්සිය පැත්තෙන් ගෙට ඇතුල් වූ ඕ, බොහෝ වේලාවකට පසු දෙර හැරියා ය.

"බෙල් එක, එක සැරයක් ඔබාපුවාම මදෑ හාමුදුරුවනේ. ඔබාගෙනම ඉන්න ඕනෑ නෑ!"

"සමාවෙන්න අපි හිතුවේ........."

"මම මහත්තයට කීප දවසක් කිව්වා, මේ බෙල්එක ගලවාදන්නය කියල. කුස්සියටනෙ හයිකරල තියෙන්නෙ. කුස්සියෙ ඉන්න මගෙ කන් අගුල් වැටෙනවා. හාමුදුරුවො නම් තව මොනද කිව්ව හැකි, ගමේ ගස් ගෙඩි කඩන එව්වොත් ඇවිත් මහේ ඔබාගෙන ඉන්නවා."

නන්දරාම තෙරණුවන්ට හිනායන්නට ආවත් උන්වහන්සේ හිනාව වැයමින් මැඩ බිම බලාගත් හ.

"කමක් නෑ. කමක් නෑ මේ බෙල් එක නිසා මට හැමදාමත් කේන්ති යනවා. ගෙට ඇවිත් වාඩිවෙන්න" හේමපාල මහත්මියගේ කේන්තිය මදක් නිවිනි. විරුද්ධ පක්ෂයේ දේශපාලන රැස්වීම්වල උගුර ලේ රසවනතුරු කතා පැවැත් වූ නන්දරාම තෙරණුවන් ගැන ඇයට කේන්තියක් නොගියේ, තමන් ගේ දෙපා මුලට ඒමට උන්වහන්සේට සිදුවීමෙන් දවී උඩඟු සිතක් හටගත් බැවිනි. නන්දරාමට දෙකක් කතාකිරීමට හොඳම අවස්ථාව එළැඹ ඇතැ යි ඕ සිතයි.



තෙරණුවෝ හේමපාල මහත්මිය විසින් පෙන්වන ලද පුටු දෙකක වාඩිවූ හ. ඇය පුටුවට පිරුවට ඇතුරුවේ නැත. වැඳ නමස්කාර කිරීමක් ද නොකළා ය.

"දැන් නම් හාමුදුරුවනේ අපිට නිදගන්නවත් නෑ. අපි දෙන්නා මයියංගනේ ඉස්කෝල දහ අටකට මාස තුනෙන් තුනට පන්නනකොට කවුරුවත් නෑ. ළමයි දෙන්නා නංගිට පවරල අපි දෙන්නා අභිකුණ්ටිකයො වගෙ කියන කියන තැනට දිව්වා දැන් කොහොමද? අපිව පන්නපන්න පෙත්සම් ගහපු උදවියත් එනව අපි පස්සෙන්. මාරුව හදගන්න ඕනැලු. පත්වීම හදගන්න ඕනලු. මහත්තයා මට කියල තියෙන්නෙ ඕනෑ කෙනෙක් ආපුවාම ඉඳගන්න දීල ආපු කාරණය අහගන්නය කියල. පුළුවන් දෙයක් නම් හතුරට වුණත් අපි කරනවා. ශ්‍රී ලංකා කාරයො වගෙ උගුල් අදින්නෙ, බෙලි කපන්නෙ නෑ අපි!" ප්‍රහාරය එල්ලකිරීමට සුදුසු අවස්ථාව එළැඹි හෙයින්, තවත් ප්‍රමාද නොකොට එම ප්‍රහාරය දියත්කිරීමට හේමපාල මහත්මිය තීරණය කළා ය.

"මහත්තයා නැතිවට අපි ආපු කාරණය මේ නෝනා මහත්මියට කියල ගියොත් හොඳයි" කතාව ඇරඹුවෝ රාහුල තෙරණුවෝ ය.

"ඔය හාමුදුරුවන්ගෙ වැඩක් ද? නැත්නම් ඔය ඉන්න අනික් හාමුදුරුවන්ගෙ වැඩක් ද?"

"මේක අපි දෙන්නගෙම අදහසක්. අපි දෙන්නා කල්පනාකළා ගිහියනුත් පැවිද්දනුත් අතර සම්බන්ධය දැන් බොහොම දුරයි. බණ ඔබුව හැමදම නිස්. හතර පෝයටවත් බුදුන් වඳින්න හත් අට දෙනෙකුවත් විහාරස්ථානයට යන්නෙ නෑ......"

හේමපාල මහත්මිය හරස්වූවා ය. "ඇයි හාමුදුරුවනේ, පන්සල්වල හාමුදුරුවරු දේශපාලනය බදගත්තාම එහෙම නොවී තියෙයි ද? ඔය පන්සලේ බිත්තියෙ ගාල තියෙන්නෙත් නිල් පාට. යූ. ඇන්. පී. කාරයින්ගෙන් දනෙ නැතිවට කමක් නෑ කියල ඔය පන්සලේ ලොකු හාමුදුරුවො කියල තියෙනවා. ඉතිං බණ මඩු බුදුගෙවල් පාළුවට නොයයි ද? කවුද වැරදිකාරයො හාමුදුරුවනේ? වැරදිකාරයො හාමුදුරුවොම යි"

"අපි වැරදි හදගන්නයි උත්සාහ කරන්නෙ" රාහුල තෙරණුවෝ කීහ.

"වැරදි හදගන්න උත්සාහ කරන්නෙ පරාදවුණාමයි!" එල්ල කළ පහර සැර වැඩිද යි හේමපාල මහත්මිය දෙවැනිව සිතුවා ය. විනාඩි බාගයක නිශ්ශබ්දතාවක් ඇතිවිය. හේමපාල මහත්මිය නිවුනු ස්වරයෙන් යළි කතාකළා ය. "ඔය හාමුදුරුවො ආවෙ ගුරු පත්වීම හදගන්න අපේ මහත්තයගෙන් උදව්වක් ඉල්ලාගන්න නේද?"

"ඇත්ත වශයෙන් ම නෑ" රාහුල තෙරණුවො පැහැදිලිව ම කීහ. "අපි දෙනම ගමේ හැම ගෙයක් ගානෙම යන ගමනෙ නමයි මෙහාටත් ගොඩවුණේ. මේ ගෙය පමණක් මගහැර යා යුතු නැතැ යි අපි කල්පනා කළා. අපේ අදහසක් තියෙනවා. ඉරිද දිනවල දහම් පාසලක් පවත්වන්න"

හේමපාල මහත්මිය රාහුල තෙරණුවන් දෙස අවිශ්වාසයෙන් බැලූවා ය. "එතකොට ඔය හාමුදුරුවො මන්ත්‍රීතුමා හමුවන්න ගියෙ නැද්ද?"

"නෑ"



"ඒ නොගියෙ මන්ත්‍රී තුමාට මුහුණදෙන්න බැරි යැයි කියා හිතුනු නිසා ද?"

"නෑ"

"එහෙනම් තමන්ගෙ ආණ්ඩුවක් බලයට පත්වෙච්ච දක ගුරු පත්වීම හදගැනීමේ බලාපොරොත්තුවෙන් ද?"

"නෑ"

"එහෙනම්? මට තේරුම්ගන්න බෑ හාමුදුරුවන්ගෙ අදහස........"

"ගුරු පත්වීමක් හෝ වෙන පත්වීමක් හෝ මම බලාපොරොත්තුවන්නෙ නෑ. ඒකයි මගෙ අදහස. මගෙ බලාපොරොත්තුව ගමේ ළමයින්ට දහම් පාසලක් පැවැත්වීමයි"

"එහෙනම් ඒකට ආධාරයක් බලාපොරොත්තුවෙන් ආවා වෙන්න ඇති?"

"නෑ. නෝනා මහත්මිය කැමති නම්, නෝනා මහත්මිය ගේ දරු දෙදෙනා ඒ දහම් පාසලට එවන්න කියල ආරාධනයක් කරන්නයි මේ ආවෙ"

"ලොකු පුතා යන්නෙ රෝයල් කොලෙජ්. දුව විශාඛාවෙ. දෙන්නම බෝඩිං කරලයි ඉන්නෙ. අපේ පාළුව මැකෙන්න සෙනසුරාදා ඉරිද ගෙදර එනවා. මහත්තයත් එක්ක කතාකරල බලන්නම් හාමුදුරුවනේ. මහත්තයා කැමති වේවි ද දන්නෙ නෑ. අනික, ආඩම්බරයට කියනවා නොවෙයි. අපේ ළමයින්ට අමුතුවෙන් බණ දහම් නුගැන්නුවාට ඒ ළමයි මං හිතන්නෙ නෑ නරක්වෙයි කියල........ හොඳ වැඩේ තමා පුලුවන් නම් මේ ගමේ අඩු ගානෙ ඉස්කෝලෙවත් නොයන දඩාවතේ ඇවිදින කොල්ලො ටිකක් ඉන්නෙ, අන්න උන්ව හදගන්න බැලුවොත්,

ඒක ගමට ම සේවයක්, අපේ මන්ත්‍රී තුමාත් බොහොම කැමතිවේවි, පුළුවන් උදව්වක් කරාවි''

හොඳට හැඳ පැළැඳගත් මහලු මනුෂ්‍යයකු අතින් අල්ලාගෙන පැමිණි තරුණියක ගේ ඉදිරියේ පෙනීසිටියා ය. මහලු මිනිසා තරුණිය ගේ පියා බවත්, ඔහු ගේ දෑස් අන්ධ බවත් පැහැදිලිවී ය. හේමපාල මහත්මිය ගේ දෑස් ඔවුන් වෙත යොමුවිය.

''මහත්තයා හම්බුවෙන්න ද?''

''ඔව් මැඩම්'' තරුණිය බයාදු ගතියෙන් උත්තර දුන්නා ය.

තරුණියටත් ඇගේ පියාටත් ගේ ඇතුළට අවුත් වාඩිවීමට අවසර ලැබිණි. ඔවුන් හිඳගත්තේ ඇඳි රහිත කුෂන් කරන ලද බංකුවක ය. හිඳගත් වේලේ සිට එක ම දිසාවක් දෙස බලාගෙන මහල්ලා කතාකරන්නට වූයේ ය. ඔහු කතාකෙළේ හේමපාල මහතාත් තමාත් අතර තුබූ සම්බන්ධතා ගැන ය. තමා විශ්‍රාමගිය ගුරු මහතකු බව හේ කියා හිටියේ ය. ඔහු හේමපාල මහත්මිය ඇමතුවේ ''හාමිනේ'' යන වදනිනි, ඒ ඇමතුමට හේමපාල මහත්මිය කැමති නුවූ නිසා ඔහු සමඟ කතාවට නොගියා ය.

හේමපාල මහතා කාරයකින් පැමිණ ගේ ඉදිරියේ බැස්සේ ය. කාරය ඔහු වෙනුවෙන් ම පැමිණි බව තේරුම් ගත හැකිවූයේ එය හරවන්ට වූ බැවිනි. කාරය එළවා ගෙන පැමිණි පුද්ගලයා දුටු හේමපාල මහත්මිය මිදුලට පැන කට ඇර සිනාසුනා ය. ''මේ අපේ ඩිරැක්ටර් තුමානෙ. ඇයි පර් බහින්නෙ නැද්ද? මොකද ඔය තරම් හදිස්සි?''

අමුත්තා අත ඔසවා ආචාරකරමින් ආපසු ගියේ ය.

''මං එපැයි කියැද්දිත් මාව ගෙනත් දන්නමයි ආවෙ.''



හේමපාල මහතා කියයි. ඔහු ගේ මුහුණ සතුටින් පිරී ඇත.

ගෙට ගොඩවන විට ගේ ඇතුලේ අමුත්තන් සිටින් නම් හේමපාල මහතා යන්තම් සිනාසීගෙන බිම බලාගෙන තමාගේ කාමරයට යයි. ඔහු අමුත්තන් ගේ මුහුණ බලන්නේ මුහුණ කට හෝදගෙන තේ කෝප්පයක් ද බීමෙන් පසුව ය. කහ සිවුරු දෙක හඳුනාගත්තත් හේ තම ප්‍රතිපත්තියේ වෙනසක් නොකෙළේ ය.

හේමපාල මහතා විනාඩි දහයක දී අමුත්තන් ඉදිරියට පැමිණියේ ය. ඒ අතරතුර, ඒ අමුත්තන් ගැන වාර්තාවක් හේමපාල මහත්මිය ඔහුට දී තිබිණි. උදවු කළ යුත්තේ කාට ද, උදව් නොකළ යුත්තේ කාට ද යි ඔහු දැනගත්තේ ඇයගෙනි.

රාහුල තෙරණුවන්ට කට පුරා සිනාසුනු හේමපාල මහතා නන්දාරාම තෙරණුවන් දුටු බවක්වත් නොඇඟවී ය. තමා දක නැගිසිටි තරුණියටත්, ඇඟවීමට නැගීසිටි ඇගේ පියාටත් හිඳගැනීමට අවසරය දුන් හේමපාල මහතා රාහුල තෙරණුවන් දෙස බැලුවේ ය.

''ඇයි හාමුදුරුවනේ මන්ත්‍රී තුමා හමුවන්න නොගියෙ?''

''මම ඒ අදහස අතහැරදගත්තා මහත්තයා........''

''ඔව්. තෝනා මහත්තයා මට කිව්වා ඒ ගැන. මම පුදුමවුණා'' හේමපාල මහතා කල්පනා කරන බවක් අඟවා, රාහුල තෙරණුවන් සමඟ පුද්ගලික ව කතා කිරීමට කැමති ව උන්වහන්සේ තම කාමරයට කැඳවූයේ ය. රාහුල තෙරණුවන්ට හිඳගැනීමට ලැබුණේ බිත්තියේ එල්ලන ලද දැවැන්ත අලියෙකු ගේ බතික් චිත්‍රයක් යට ය.

"අර අනික් හාමුදුරුවෝ ගැන නම් මට අබමල් රේණුවක විශ්වාසයක් පැහැදීමක් නෑ හාමුදුරුවනේ. අපි පුද්ගලික ව වැඩිපුර කතාකරල නැතිවාට ඔබ වහන්සේ ගැන මම අහල තියෙනවා. ඔබ වහන්සේ, ඔබ වහන්සේගේ ගරුත්වය තියාගෙන ඉන්න බව මම දන්නවා. ඇයි හාමුදුරුවනේ ගුරු පත්වීම ගැන උනන්දු නොවන්නෙ? මන්ත්‍රී තුමා මගෙන් ඇහුවා ඔබ වහන්සේ ගැන. මම ආවේ එහෙ ඉඳලා. මම කිව්වා ඔබ වහන්සේ ඡන්දය දුන්නෙ කාට ද කියන එක කිසිම කෙනෙක් දන්නෙ නෑ කියල. ඔබ වහන්සේ ගේ නම තාමත් කපල නෑ. මම කිව්ව කපන්න එපා ය කියල. අපේ ආසනයේ සංවර්ධන අරමුදලක් තියෙනවා. මාස දෙළහක් ඇතුළත ඔබ වහන්සේ ගේ පඩියෙන් රුපියල් පන්දහක් ඒ සංවර්ධන අරමුදලට දෙන්න පොරොන්දුවෙනවා නම් මට පුලුවන් ස්ථිර වශයෙන් ම මේ පත්වීම හදදෙන්න. මම හිතන්නෙ ඔබ වහන්සේ මේ තනතුර ගැන උනන්දු නොවන්නෙ ඒ උනන්දුවෙන් ප්‍රතිඵලයක් නොලැබේ ය කියා හිතාගෙන වෙන්න ඇති? එහෙම හිතන්න එපා හාමුදුරුවනේ. මම පොරොන්දුවෙන්නම්. මේ රුපියල් පන්දහ අල්ලසක් නොවෙයි. මේ සියලු මුදල් වැයකරන්නෙ පොදු වැඩවලට"

රාහුල තෙරණුවන්ට ලජ්ජාවකට සමාන හැඟීමක් ඇතිවි ය. ගුරු පත්වීම ගැන අල්පමාත්‍ර උදව්වක් ඉල්ලා නොතිබියදීත්, හේමපාල මහතා තමන් ඒ කෙරෙහි පෙළැඹවීම උන්වහන්සේට පුදුමයකි.

"මං මගෙ ජීවිතය ම පොදු වැඩවලට යොදන්න තීරණය කළ නිසයි රැකියාවක් නොසොයන්නෙ. කරුණාකර මගේ අවස්ථාව රැකියාවක් නැති ඉතාම දුප්පත් ගිහියෙකුට



ලබාදෙන්න. මහණදම තමයි පැවිද්දෙකුගෙ වෘත්තිය........"

"රැකියාව නොලැබෙයි කියල පහළවුණු කලකිරීම නිසා ද ඔබ වහන්සේ ඔය අදහස ප්‍රකාශකරන්නෙ?"

"නැහැ, සත්තකින් ම නැහැ. මම දේශපාලනයක් නොකළ නිසාත්, කිසිම දේශපාලන පක්ෂයකට ප්‍රසිද්ධියේ පක්ෂපාතීත්වය නොදක් වූ නිසාත් මන්ත්‍රී තුමා මාව ප්‍රතික්ෂේප නොකරන බව මට විශ්වාසයි"

හේමපාල මහතා තෙරණුවන් දෙස පුදුමයෙන් බලා සිටියේ ය. කිසිදු පුද්ගලයෙක් මෙලෙස කතා කරනු ඔහු මීට කලින් අසා නැත.

"මට පුදුමයි" හේමපාල මහතා කීය. "හිතේ කිසි කහටක් කිළුටක් නැතිව ඔබ වහන්සේ ඔය තීරණය ගත්තා නම් ඔබ වහන්සේ ශ්‍රේෂ්ඨයි. මම කැමතියි ඔබ වහන්සේ සමඟ තවදුරටත් කතාකරන්න. සමාවන්න, ඇවිත් ඉන්න අනික් දෙන්නා පිටත්කරල මම එන්නම්........"

ගේ ඇතුළට ගිය හේමපාල මහතා ගිලන්පස සූදානම් කරන්නැයි බිරින්දෑට කියා අමුත්තන් දෙදෙනා ළඟට පැමිණියේ ය. කාමරයේ හුදෙකලා ව සිටීමට අපොහොසත් රාහුල තෙරණුවෝ යළිත් නන්දරාම තෙරණුවන් අසලින් වාඩිවූ හ.

"වැඩිපුර දැකල හුරුකමක් නම් නෑ. ඒ වුණත් කියමු බලන්න ආපු කාරණේ"

"මං දුන් වයසට ගොහිං. ඒකයි මහත්තයාට මාව අඳුරගන්න බැරි. මහත්තයා හාපුරා කියල උගන්නන්න ගිය

ඉස්කෝලෙ මතකනෙ. හඳපාන්ගොඩ ඉස්කෝලෙ......."

"ඔව්. ඔව්"

"මහත්තයට මතක ඇති රෝමානිස් කියල උප ගුරු මහත්තයෙක් හිටියා? ඒ මම තමයි"

"හෝ හරි. දැන් මතකයි. මහත්තයා ගොඩාක් වෙනස්වෙලා?"

"මම දැන් පැන්ෂන් ගිහිං අවුරුදු අටක් වෙනවා. මගෙ ඇස් දෙකම පේන්නෙ නැ. මම දැන් අන්ධයෙක් මහත්තයා. මගෙ හාමිනෙත් නැති වෙලා අවුරුදු තුනක් වෙනවා" රෝමානිස් මහතා කතාකෙළේ හේමපාල මහතාගේ කටහඬ ඇසුනු තැනට හිය හරවාගෙන ය.

"සමාවෙන්න ඕනෑ ඉස්සරවෙලා අඳුරගන්න බැරිවුණාට. අපි දෙන්නා......... මම හිතන විදියට....... මේ දක්කෙ අවුරුදු විස්සකට තිහකට පස්සෙ. මම අවුරුදු දෙකකට උඩදී විශ්‍රාමගියා, පනස් පහෙන්. මහත්තයා විශ්‍රාම ගියේ උපගුරුවරයකු හැටියටමද?"

"එහෙමයි. මං අර මොනිටර් ගුරුවරයෙක්නෙ මහත්තයා..... මහත්තයා නම් හුඟාක් උසස් තත්වෙකට පත්වුණු බව මම දන්නවා. මට බොහොම සතුටුයි. මට ඉන්නෙ මහත්තයා මේ ඉන්න දූයි, මෙයාට වැඩිමාල් ඉලංදරියයි විතරමයි. එයා නම් හිතුවක්කාර කසාදයක් කරගෙන අයින්වෙලා. මායි මේ දූයි විතරයි ගෙදර ඉන්නෙ. මගෙ පැන්ෂන් එකෙන් තමයි බොහොම අමාරුවෙන් ජීවත්වෙන්නෙ. ගුරු පත්වීමකට මන්ත්‍රීතුමා මගෙ දූටත් අද එන්න කියල තිබුණ"

"ඉතිං ගියා ද? මාත් එහෙ ඉඳලයි මේ ආවෙ. මං දක්කෙ නෑ මහත්තයා එහෙ ඉන්නවා?"



පිය පියා වෙනුවට තරුණිය ඉතා සැලකිල්ලෙන් උත්තර දුන්නා ය. "අපි උදේ රැයින් ම ගියා සර්. ගමේ ශාඛා සමිතියෙන් ලිපියක් ගෙනාවද කියල මන්ත්‍රී තුමාගෙ ලේකම් මහත්තයා මගෙන් ඇහුවා. මං තිබ්බා නෑ කියල. ඒ ගමන ඒ ලිපිය අරගෙන එන්න කියල අපිව පිටත්කළා. අපි ඊට පස්සෙයි සර්ව හොයාගෙන ආවෙ"

"ඔය ගොල්ලන්ට කරන්ට තිබුණේ මාව හොයාගෙන එන එක නොවෙයි. ගමට ගිහිල්ලා ගමේ ශාඛා සමිතියෙ සභාපති මහත්තයා හම්බුවෙලා ලියුමක් අරගෙන එය මන්ත්‍රී තුමාට දෙන්නයි"

මහල්ලා හඬන්නට ආසන්න වූවෙකු මෙන් කතා කරන්නට වන්නේ ය.

"මගෙ පුතා අනික් පැත්තෙ ඡන්ද රැස්වීමක් මං එපා ය කියද්දී මගෙ මිදුලෙ තිබ්බා. එද කරපු වැඩේ නිසා ඡන්ද ප්‍රතිඵල කියාපු ද ගෙයි උළු කැටත් බිඳුණා. මගෙ දූට ලියුමක් ගන්න බැරිවුණා, මං පසුවෙ අමාරුව තියෙන ඇස් දෙක ම පේන්නෙ නැති මනුස්සයෙක් මහත්තයා, මට අනුකම්පාකරල පුලුවන් කමක් තියෙනවා නම් මන්ත්‍රීතුමාට කියලා බලන්න. තමුන්නාන්සේට පිංසිද්දවෙනවා. මං හදිසියෙන් මළොත් මගෙ මේ දූට යන කල දවස මොකක් ද?"

මහල්ලා හඬන්නට වූයේ ය.

මහලු ගුරු මහතා හඬන්නේ හේමපාල මහතා ගේ අනුකම්පාව ලබාගැනීම අදහසින් නොව, සැබැවින් ම හිතට බියක් හා වේදනාවක් ඇති වූ නිසා බව රාහුල තෙරණුවන්ට පැහැදිලිවි ය.

සුදුසුකම් ඇති පක්ෂයේ අයදුම්කරුවන් සිටිය දී, ප්‍රබල විරුද්ධ පාක්ෂිකයනට උදව්දීම විනය විරෝධී ක්‍රියාවකි. මේ කටයුත්තට කෙසේවත් මැදිහත් නොවිය යුතු යයි හේමපාල මහතා තීරණය කෙළේ හඳපාන්ගොඩ පක්ෂ ශාඛාව දෙවනු ව තමාට සතුරු වෙති යි යන හැඟුම ද ඇති වූ හෙයිනි. හේ තම තීන්දුව ප්‍රකාශයට පත්කෙළේ ය.

"රෝමානිස් මහත්තයා මාත් එක්ක එකට වැඩ කරපු ගුරු මහත්තයෙක් බව ඇත්ත. දන් රෝගී තත්ත්වයක පසුවන අසරණ මනුෂ්‍යයකු බවත් ඇත්ත. නමුත් මහත්තයා මගෙන් උදව්වක් ගන්න ඇවිත් තියෙන්නෙ වැඩ ඔක්කෝම වරද්දගත්තට පස්සෙ. කවුද ගන්නෙ, කවුද නොගන්නෙ කියන එක මන්ත්‍රී තුමා දනටමත් තීරණය කරල හමාර ඇති. දන් ඉතිං දෙවනු අවස්ථාවක් ලැබෙනොත් එදාට බලමු......"

හේමපාල මහතා තීන්දුව ප්‍රකාශයට පත්කොට මහල්ලා ළඟින් නැගීසිටියත්, මහල්ලාටවත් තරුණියටවත් නැගිටගත නොහැකිවි ය. තරුණිය මලානික මුහුණින් බිම බලාගෙන අතේ තිබූ ලිපි ගොනුවේ කවරය හුරමින් සිටියා ය. විනාඩියක නිහඬතාවක් ඇතිවි ය. වෙවුලන සිරුර ඇති මහල්ලා අත දිගහැර සිය දියණිය ගේ අත අල්ලා නැගීසිටියේ ය.

රාහුල තෙරණුවන්ට තද දුකක් ඇතිවි ය.

මහල්ලා මිදුලට බසිමින් සිට නැවතී, ඇසිපිය වේගයෙන් ගසමින් සිට උඩ බලාගෙන කතාකෙළේ ය. "අපි යන්නම් මහත්තයා......."

"හොඳයි ගිහිං එන්න. පුලුවන්කමක් තිබුණා නම් මං උදව් නොකර ඉන්නෙ නෑ"

* * *



මහලු ගුරු මහතාත් ඇගේ දියණියත් සමග රාහුල තෙරණුවන් මන්ත්‍රී තුමා හමුවනු පිණිස ඔහු ගේ ගෙදරට ගිය අතර, නන්දරාම තෙරණුවෝ ආපසු පන්සලට වැඩිය හ. මේ ගමන නිසා රාහුල තෙරණුවන්ට දවල් දනය වැරදිණි.

ඡන්ද දයකයෝ දවල් එක වන විටත්, මන්ත්‍රීතුමා වටකරගෙන සිටියෝ ය. තමා වටකරගෙන සිටින පිරිස අතරින් කහ සිවුර දුටු මන්ත්‍රී තුමා නුහුරු මුහුණක් හෙයින් මඳක් කල්පනාකර බලා දහඩිය පිසදමා නැගීසිටියේ ය. ඔහු තෙරණුවන්ට ගරු සැලකිලි වශයෙන් නැගීසිටි බවක් අවට සිටියවුන්ට පෙනුනත්, ඇත්ත වශයෙන් ම ඔහුට වුවමනාකෙළේ පිරිසේ වදකරදරයෙන් මොහොතකට හෝ සැනසිල්ලක් ලබන්නට ය. හේ රාහුල තෙරණුවන් නිවස ඇතුළට කැඳවාගෙන ගියේ ය.

තෙරණුවන් කවු ද කොහේ ද කියාවත් නොඇසූ මන්ත්‍රී තුමා, උන්වහන්සේ අසුන්ගන්වා තම දුක කියාගෙන ගියේ ය. "අනේ හාමුදුරුවනේ මේ මන්ත්‍රීකම මේ ඇමතිකම ආපසු දෙන්න පුලුවන් දෙයක් නම් දිලදලා බොහොම කල්. තාම උදේට බිව්ව තේ කෝප්පය විතරයි. කෑමක් නෑ. බීමක් නෑ. නෑමක් නෑ. වැසිකිලියට ගියොත් එළියට බහිනකල් වටකරගෙන ඉන්නවා. පෞද්ගලික ජීවිතයක් ඇත්තේ ම නෑ........"

මන්ත්‍රී තුමා බොහෝ වෙහෙස ව සිටියේ ය. ඔහුගේ හැසිරීම හා පෙනුම අනුව බලන විට සැබෑවක් ම කියන්නේ යයි තෙරණුවන්ට සිතිණි. එහෙත් මෙලෙස කතාකරන එක ද මන්ත්‍රීවරයෙක් ඇමතිවරයෙක් බලය ආපසු දී නිදහස් වූ බවක් උන්වහන්සේ අසා නැත. බලය හා කීර්තිය පුද්ගලික නිදහසට ද වඩා මවුන් අගය කිරීම එයට හේතුව වියහැකි ය. තමන්

කවුදැ යි තමන් විසින් ම හඳුන්වා දුන් රාහුල තෙරණුවෝ තමන් පැමිණි කාරණය ද මන්ත්‍රී තුමාට පැහැදිලිකර සිටිය හ.

"උභතෝකෝටික ප්‍රශ්නයක්" මන්ත්‍රී තුමා කීයේ ය. ඔහු ගේ මුහුණ කල්පනාවෙන් බරවී ය.

"ඔබ වහන්සේ ගේ ගමේ සමිතිය ඔබ වහන්සේට විරුද්ධවුණේ නෑ. නමුත් මේ ගැනු ළමයට ගමේ සමිතිය තරයේ ම විරුද්ධ යි"

"මම ඒ කාරණය දන්නවා මන්ත්‍රී තුමනි, නමුත් මේ ගැනු ළමයා ගේ පියා දුන් මහලු අන්ධ මනුෂ්‍යයෙක්! ගෙදර ඉන්නේ මේ මහලු මනුෂ්‍යයාත් ඒ ගැනු ළමයාත් පමණයි. ඒ මහලු මනුෂ්‍යයා ගේ එකම බලාපොරොත්තුවත්, එකම බයත් මේ ගැනු ළමයයි. දේශපාලනය කර තිබෙන්නේ මේ ළමයාගේ සහෝදරයා. ඒ ඇන්නා විවාහයක් කර ගෙන පවුලෙන් අයින්වෙලයි ඉන්නෙ. මන්ත්‍රී තුමා මට ගුරු පත්වීමක් දෙන්න කැමති නම්, මා වෙනුවෙන් ඒ ගුරු පත්වීම මේ අසරණ ළමයාට දෙන්න"

"ඇයි ඔබ වහන්සේ රැකියාව එපා ය කියන්නෙ?"

"මගේ රැකියාව පැවිදි වෘත්තිය. ඒ හැර වෙන රැකියාවක් මට අවශ්‍ය නෑ, ගමේ දායකයො මට කන්න බොන්න අඳින්න දෙනවා. ඒ අය වෙනුවෙන් ගතකරන්න මට කාලය අවශ්‍ය යි"

හේමපාල මහතා ලෙසින් ම මන්ත්‍රී තුමා ද පුදුමයට පත් ව සිටී. "ඔබ වහන්සේ ගැන මට ආඩම්බර වෙන්න පුලුවන්, මම කොහොමද මේ වැඩේ කරන්නෙ? මේ වැනි කාරණාවලදී මට පක්ෂ ශාඛා විමසන්න සිද්දවෙනවා. ඒ අය විරුද්ද නම් මටත් සිදුවෙනවා විරුද්දවෙන්න, පක්ෂ දේශපාලනයේ තිබෙන



වැරැද්ද ඕකයි. නමුත් මට කරන්න දෙයක් නෑ. අපේ පක්ෂ ශාඛා තරහකරගෙන මට මේ මන්ත්‍රීකම කරන්න අමාරුයි"

දේශපාලන පක්ෂ ක්‍රමය කොතරම් අගතිගාමී දැයි රාහුල තෙරනුවෝ සිතූ හ. පක්ෂ ක්‍රමයක් තුල ධර්මිෂ්ඨකම් ක්‍රියාත්මක නොවේ. බෙහෙවින් සාධාරණ මනුෂ්‍යයකු වන මන්ත්‍රී තුමාට මේ නිසා සාධාරණය ඉටුකිරීමට අවස්ථාවක් නැත.

කලකිරීමක් හා වේදනාවක් මතුවුවත්, ඒ හැඟුම් වැයමින් මැඩගත් තෙරණුවෝ යළි කතාකළ හ.

"ප්‍රශ්නයක් ඇතිවුණොත් හඳපාන්ගොඩ පක්ෂ ශාඛාවට පෙන්වන්න මම මන්ත්‍රී තුමාට ලිපියක් දෙන්නම්. මම කියන්නම් මගෙ නම කපාහැර, ඒ වෙනුවට මේ ළමයාගෙ නම ඇතුළත් කරන්න ය කියා. එවිට ඒ පක්ෂ ශාඛාවේ විරෝධය ක්‍රියාත්මක වන්නෙ නෑ. මම මේ ප්‍රශ්නය මේ තරම් වුවමනාවෙන් මන්ත්‍රී තුමාට ඉදිරිපත්කරන්නෙ ඒ අසරණ පවුලට පිහිටවීමට යි. ඒ හැර, ඒ අය මගේ ඥාතීන්වත් හිතමිතුරන්වත් නොවෙයි"

ප්‍රශ්නයට පිළිතුරක් නැති මන්ත්‍රී තුමා නැගිට හිස අතගාමින් සිට, කතා නැතිව ම පිටව ගියේ ය. ඔහු කෑමට ගියාවතැ යි තෙරණුවන්ට සිතිනි.

තමන් ගේ උත්සාහය මුළුමණින් ම නිශ්ඵල වූයේ ය යන හැඟුම නිසා සිත් වේදනාවක් ඇතිවුවත්, තමන් වෙහෙසවූයේ අනුන් වෙනුවෙන් සෙතක් සැලසීමට පමණක් ම හෙයින්, ඒ ගැන පසුතැවිලි නොවිය යුතු යයි උන්වහන්සේ පසු ව සිතූ හ. තවදුරටත් මන්ත්‍රී නිවසේ පසුවීම තේරුමක් නැත.

රාහුල තෙරණුවෝ පසෙක තබනලද කුඩය අතට ගත්තෝ ය. මන්ත්‍රී තුමා ගේ ලේකම්වරයා තවත් තරුණයෙක් සමඟ

පැමිණියේ ය, ලේකම්වරයාගේත්, අනෙක් තරුණයාගේත් මුහුණුවල මඳ සිනාවකුදු නැත.

"මොකද හාමුදුරුවෝ ආපු කාරණේ හරිද?" ලේකම්වරයා ඇසුවේ ය.

"ආපු කාරණය ඉෂ්ඨ නොවන ආකාරයයි පෙනෙන්නෙ........"

"හාමුදුරුවෝ ආපු කාරණයත්, කිව්ව දේත් අපි අහගෙන. ඒ ගෑනු ළමයා ගැන මහන්සිවෙලා වැඩක් නෑ හාමුදුරුවනේ. ලැයිස්තුවේ තිබෙන නම් දහයෙන් අටක් ම අපේ පක්ෂයේ අය. හය දෙනයි රෙකමන්ඩ් කරන්නෙ. ගෙදර රැස්වීම් තියාපු ශ්‍රී ලංකා කාරයින්ව රෙකමන්ඩ් කරන්න මන්ත්‍රී තුමාට අපි ඉඩ දෙන්නෙ නෑ"

ලේකම්වරයා සමඟ සිටි තරුණයා රාහුල තෙරණුවන්ට අභියෝග බැල්මක් හෙළුවේ ය.

"මොකද මේ ගෑනු ළමයා හාමුදුරුවන්ගෙ යාළුවෙක් ද? මමත් හඳපාන්ගොඩ කොල්ලෙක්. හාමුදුරුවෝ නෙමෙයි, මහානායක හාමුදුරුවෝ කිව්වත් අපි ඉඩ දෙන්නෙ නෑ මේකට. මුං ශ්‍රී ලංකා කණ්ඩ. ගෙදර රැස්වීම් තිබ්බා. මන්ත්‍රී තුමාට කෙලින් වැඩකරපු අපේ කොල්ලො කෙල්ලො නිකං වේලෙද්දී අපිට පුලුවන් ද මුන්ව රජසාවලට යවන්න. ඇයි හාමුදුරුවන්ට මේ ගෑනු ළමය ගැන අමුතු සත්ව කරුණාවක් පහළවුණේ? තමන්ගේ අවස්ථාව ලස්සන ගෑනු ළමයෙකුට පූජාකරන්න සූදානම් වීම කොච්චර ලොකු සත්ව කරුණාවක් ද? ඇයි ඒ කරුණාව අපේ පක්ෂෙ අපේ කොල්ලො කෙල්ලො ගැන නැත්තෙ?"



රාහුල තෙරණුවෝ තමන් හුරුපුරුදු කළ ඉවසීම මේ අවස්ථාවේ මෙනෙහිකොට ලේකම්වරයාත් තරුණයාත් දෙස සිනාසී බලමින් ඉදිරියට ගමන්කරත් ම තරුණිය තම පියාට කණවැල අල්ලාගෙන ඔහු මිදුලට එක්කර ගෙන යනවා පෙනිණි. මන්ත්‍රී නිවසේ රැඳිසිටි සියලු දෙනා ගේ ම ඇස් ඔවුන් දෙදෙනා වෙත යොමුව තිබේ. ඒ මුහුණුවල රැඳී ඇත්තේ උපහාස සිනා ය, ලේකම්වරයා රාහුල තෙරණුවන්ට කී වචන පැමිණ සිටි පිරිසට නෑසුනත්, තරුණයා කී වචන සියල්ල පැහැදිලි ව ඇසිණි.

මහ පිරිස දෙවනුව බැලුයේ රාහුල තෙරණුවන් දෙස ය. තරුණයා පිරිස අතරට අවුත් සිනාසෙමින් කතාකෙළේ ය. "හාමුදුරුවෝ යාළු කෙල්ලට පත්වීමක් හද දෙන්න ඇවිත්......."

තරුණිය හා මහල්ලාත්, තෙරණුවෝත් ගේට්ටුව පසුකොට මහ පාරට පැමිණිය හ. මන්ත්‍රී නිවස දෙසින් සිනාහඬ ඇසෙයි. මෙතෙක් වේලා සිත දඩිකරගෙන ඉවසා සිටි තරුණිය මහ හඬින් හඬන්නට වූවා ය.

"දුක නමයි. ඉවසන්න. වෛරයක් ක්‍රෝධයක් ඇතිකර ගන්න එපා. ඔය ඇත්තො ගෙදර යන්න. මේ සිද්ධියෙන් රටේ හැටි මට දැනගන්න ලැබුණා" රාහුල තෙරණුවෝ තරුණියට කීහ.

"ඒ මිනිස්සු මට උදව්කරන්න ආපු ඔබ වහන්සේටත් අපහාස කළා" තරුණිය හඬමින් ම කීවා ය.

"ඒ ඇත්තො කතාකරන්නෙ ඒ ඇත්තන්ගෙ දැනීම පිළිගැනීම විශ්වාසය උඩ. ඒ ඇත්තන්ගෙ හැඟීම් ඒ ඇත්තන්ගෙ වචන පාලනය කරන්න අපට බෑ. උත්සාහ කළොත් අපිට පුලුවන්

අපේ හැහීම් පාලනය කරගන්න. මම මේ කාරණය ගැන තවත් උත්සාහ කරනවා. අපි ඉන්නෙ හැකි හැම අවස්ථාවක ම අනායින්ට යහපතක් ම කරන්නයි"

*  *  *

ගිය කාර්යයේ සාර්ථක අසාර්ථකභාවය රාහුල තෙරණුවන් ගේ මුහුණින් කීමට නන්දරාම තෙරණුවන්ට නොහැකිවිය. හිල් දනයට පසු සවස තුන දක්වා එක ඇල්දිය බඳුනකුදු නොලද නමුත්, කෑම කීම ගැන සිතිවිල්ලක් හෝ පහළ නොකළ හෙයින් රාහුල තෙරණුවන් ගේ ගතේ විඩාගතියකුදු ප්‍රදර්ශනය නොවී ය. කෙසේ වෙතත් තද පිපාසයක් තුබූ හෙයින් තම කාමරයට වත් තෙරණුවෝ ප්‍රථමයෙන් ඇල්දිය බඳුනක් පානය කළ හ.

"ගිය ගමන සාර්ථක ද හාමුදුරුවනේ?" නන්දරාම කාමරයට කරපොවා ඇසුවේ ය.

"සාධාරණය ඉෂ්ටකරන්න මන්ත්‍රී තුමා ගේ අකැමැත්තක් නෑ........ නමුත් සහචරයො එයට ඉඩ නොදෙන බවයි පෙනුනෙ. මගෙත් ඒ ඇත්තන්ගෙත් ගමන නිශ්ඵලයි. මට දුක මා කෙරෙහි විශ්වාසයෙන් ඒ ගමන ගිය ඒ අය නවත් සිත් වේදනාවට පත්වීම ගැන යි. කාරණය ඉෂ්ට නුනට ඒ අය වෙනුවෙන් උත්සාහයක් ගත්ත එක ගැන මට සැනසෙන්න පුලුවන්. මේ ගමන නොගියා නම් අනුන් වෙනුවෙන් උපකාරයක් කරන්නට මට ලැබුණු අවස්ථාවක් පැහැර හැරියා ය කියල පසුව මට වේදනාවක් ඇතිවෙනවා"

"ඔය කාරණය සිතින් අස්කරල දන්න හාමුදුරුවනේ, දවල් දනෙත් වැරදුනා නේද?"

"ඒක සුළු දෙයක්"



"මම සිංඤප්පුට කියන්නම් නෙස්ටෝමෝල්ට් එකක් හදල ගෙනත් දෙන්න ය කියල......"

නන්දරාම තෙරණුවන් ගිය පසු රාහුල තෙරණුවන්ට මතක්වූයේ තරුණියගේත්, මහල්ලාගේත් සහනය පිණිස තමන් ඔවුන්ට දුන් ප්‍රතිඥව ගැන ය. ඒ ප්‍රතිඥව නම් තමන් තවදුරටත් ප්‍රශ්නය නිරාකරණය කිරීමට ක්‍රියාත්මක වන බව ය. එය අනුකම්පාව නිසා ම තමන් ගේ කටින් පිට වූ වචන කිහිපයක් නොවීමට වග බලාගැනීමට ක්‍රියා කළ යුතුව තිබේ. අසරණයින් දෙදෙනා තවදුරටත් තමන් කෙරෙහි බලාපොරොත්තු රඳවා සිටිනැ යි සිතූ තෙරණුවෝ නන්දරාම අවවාද කළ පරිදි සිද්ධිය අමතක කර නිහඬ ව සිටීමට කල්පනා නොකළ හ. කාරණයට සම්බන්ධ මන්ත්‍රී තුමා ලවා ද ඒ ඉටුකර ගත නො හැකි නැන කිවයුතු වෙනත් පුද්ගලයකු ඇතැ යි නොසිතේ. මන්ත්‍රී තුමා අප්‍රමාද ව තම නිර්දේශය අදළ අමාත්‍යාංශයට යවන හෙයින් කළ යුතු යමක් ඇතොත් එය නොපමාව කළ යුතුව ඇත.

*  *  *

රාත්‍රියේ ගෙරවුම් සහිත මහවැස්සක් ඇද වැටිණි. වැස්සත් ගෙරවිල්ලත් නිසා රූපවාහිනිය ක්‍රියාත්මක නොකෙරුන ද එය නැරඹීම සඳහා වේලාසනින් ම පැමිණ සිටි කමලාවතී ගේ දරු දෙදෙනා ගෙදර යාගත නොහැකි ව සිමෙන්ති පොළවේ වාඩි වී සිටිය හ. නායක ස්ථවිරයෝ දෙකකුල් උඩට ගෙන හාන්සි පුටුවේ ඇල ව සිටිති. වහලය මත සවිකර ඇති ඇන්ටනාව මතට අකුණක් පතිත් ව, විදුලි සැර රූපවාහිනි යන්ත්‍රය කරා

අවුත් එය පුපුරා යනු ඇත යන බියක් ස්ථවිරයන්ට ඇතිවූ හෙයින්, වයරය යන්ත්‍රයෙන් ගලවා දමීමට උන්වහන්සේ නැගිසිටි්ත් ම, වාහනයක එළියක් කෙළින් ම පන්සලට වැටුණු හෙයින් ඒ දෙස බැලූ හ.

වැස්ස නොනවත්වා ඇද වැටේ. .අකුණු ද ගසයි. රථය පැමිණෙන්නේ ඉතා සෙමිනි. වයරය ගලවා දමා එන විට ජීප් රථයක් මිදුලේ නතරකර තිබෙනු පෙනිණි. පොලිස් ජීප් රථයට වඩා අලුත් වාහනයකි. කවුරුන් පැමිණියත් අධික වර්ෂාව නිසා කුඩයක් නොමැති ව පන්සලට ගොඩවිය නොහැකි ය.

පාට කුඩයක් ඉහළාගෙන සුදු කමිසයක් හා සුදු සරමක් හැඳගත් පුද්ගලයෙක් පන්සලට ඇතුල්වී ය. ඔහු මන්ත්‍රීවරයා බව නායක ස්ථවිරයෝ හඳුනාගත් හ. කවදාවත් බලාපොරොත්තු වූවෙකු නොවේ. තම සහායකයාට කුඩය භාරදුන් මන්ත්‍රීවරයා සාක්කුවෙන් ලේන්සුව ගෙන තෙමුණු දෑත් පිසදමා නායක ස්ථවිරයින්ට දෑත් එක්කොට වැන්දේ ය. අනතුරු ව කතාකෙළේ ය.

"හරි වැස්සනෙ හාමුදුරුවනේ....... දිගට ම වැස්ස"

තමන් කුමක් කිව යුතු දැයි ස්ථවිරයින්ට සිතාගත නොහැකිවී ය. මන්ත්‍රීවරයා පැමිණ සිටින්නේ සතුරුකමකට ද මිතුරුකමකට ද යි සිතාගැනීමටවත් උන්වහන්සේට නොහැකි යි. මන්ත්‍රී තුමා මෙන් තමන් ද වැස්ස ගැන කතාකිරීම හොඳ යයි උන්වහන්සේට සිතිණි.

"මන්ත්‍රී තුමා වාඩිවුණා නම්...... වහින්න වෙලා දැන් පැයකටත් වැඩියි. නවතින පාටක් නම් නෑ. මාස ගණනකට පස්සෙ අද තමයි පොළොව හොඳට තෙමෙන්න වහින්නෙ"



මන්ත්‍රීතුමා අමුත්තන් සඳහා වූ මිටි පුටුවේ වාඩිවූ අතර, නායක ස්ථවිරයෝ හාන්සි පුටුවේ හිඳගත් හ. නන්දරාම අමුත්තා තරඹා ආපසු ගියේ රාහුලට දැනුම්දීම සඳහා ය.

"රාහුල හාමුදුරුවෝ ඉන්නෙ මේ පන්සලේ නේද හාමුදුරුවනේ?" මන්ත්‍රීතුමා මාතෘකාවට එළැඹිණි.

"ඔව්. මගෙ පොඩි දෙනමගෙන් එක නමක් නොවැ රාහුල. මම දන්නෙත් පස්සෙයි, දවාලෙ මහත්තයා හම්බුවෙන්නත් ගොහිං තියෙනවා. දවල් දනෙත් වැරදිලා"

රාහුල තෙරණුවන් ඉදිරියට පැමිණෙත් ම මන්ත්‍රී තුමා අසුනින් නැගිට දෑත් එක්කොට වැඳ නමස්කාරය කෙළේ ය. සිටගෙන්වන ම කතාකෙළේ ය. "ඔබ වහන්සේ ගැන මම පැහැදුනා. ඔබ වහන්සේ සිත් වේදනාවෙන් ආපසු ආ බව මම දන්නවා. මම ආවෙ සමාව ඉල්ලන්නත් ඔබ වහන්සේ ගේ ඉල්ලීම ඉටු කළ බව කියන්නත් එක්ක යි"

රාහුල තෙරණුවන්ට සතුටක් ඇතිවී ය. නන්දරාම පුදුමයට පත්වී ය. නායක ස්ථවිරයින්ට කිසිවක් සිතාගත නොහැකිවී ය.

"මන්ත්‍රී තුමාට පිං! මන්ත්‍රී තුමා යුක්තිය සාධාරණත්වය හඳුනන මහත්තයකු බව මම දැන සිටියා. ඒ අසරණ ළමයාට සාධාරණයක් ඉෂ්ටවුණා නම් ඒක ලොකු දෙයක්. මන්ත්‍රී තුමාට පිංසිදුවේවා"

"මම දන්නෙ අපේ රාහුල හාමුදුරුවන්ගෙ හමුවන්න ගිය බව පමණයි. මොන කාරණයකට ගියා ද මොකක් කර ගත්තා ද කියල මං දැන හිටියෙ නෑ. කොහොම වෙතත් අපේ රාහුල නරක වැඩක් කරන්නෙවත් නරක වැඩක් හිතන්නෙවත් නැති බව මම

හොඳාකාර ව දන්නවා. මාත් කැමතියි සිද්දවෙච්ච කරුණාව දැනගන්න........"

සියල්ලන් ගේ ම මුහුණු සතුටින් පිරී ඇත. මන්ත්‍රී තුමා යළිත් පුටුවේ වාඩිවී ය. අල්ලෙන් අල්ල පිරිමදිමින් හේ නායක ස්ථවිරයන් ගේ මුහුණ බලාගෙන කතාකෙළේ ය.

"ඔබ වහන්සේ මේ සිද්ධිය දැනගතයුතු නිසා මම කියන්නම්. උපාධි ගුරු පත්වීම් හයක් සඳහා දහ දෙනෙකුගේ නම් මට එවා තිබුණා. ඔය කෑන පුරුද්ද කවුරු පටන්ගත්තත් ඔය ක්‍රමය ගැන මගේ කිසිම කැමැත්තක් නැති බව ඔබ වහන්සේට කියන්න ඕනැ. ජීවත්වෙන්නයි කවුරුත් රක්ෂාවක් කරන්නෙ, ඉස්සර වගෙ මන්ත්‍රීගෙ ඇඟිලිගැසීම්වලින් තොර ව දක්ෂයාට කෙළින් ම පත්වීම දෙනව නම් අපිට පව් වැඩවලට කරගහන්න සිද්ද වෙන්නෙ නෑ. මේ වැඩ පිළිවෙල මන්ත්‍රීවරයා අප්‍රසාදයට පත්වෙන එක ප්‍රධාන හේතුවක් වෙනවා. සමහරවිට පක්ෂයේ අයගෙ නම් කපන්න මට සිද්දවෙනවා. මෙතෙනදි වුණෙත් ඒකයි. එවාපු නම් දහයෙන් එක් කෙනෙක් තමයි මේ රාහුල හාමුදුරුවො. නම් දහයෙන් නම් හතරක් කෙළින්ම පක්ෂයට සම්බන්ධවෙලා වැඩ කරපු තරුණයො. පක්ෂ ක්‍රමය ගැන සිතනකොට ඒ අයගෙ නම් කපන්න මට පුළුවන්කමක් නෑ. දෙදෙනෙක්ගෙ දෙමාපියො පක්ෂයේ හිතවත්තු. දහ දෙනාගෙන් අටදෙනෙක් ගැන කෙළින්ම මට බලපෑම් ආවා. මාව හම්බුවෙන්නවත් නොගියෙ මේ රාහුල හාමුදුරුවො විතරයි. රාහුල හාමුදුරුවො ඉතා හොඳ හාමුදුරු නමක් නිසා නම කපන්න එපාය කියල හේමපාල මහත්තයා මට කිව්වා. මට බය නැතිව කෙළින්ම කපාහරින්න පුළුවන්කම තිබුණේ එක නමයි. ඒ හඳපාන්ගොඩ ගැනු ළමයෙකුගෙ නම. ඒ නම



නොකපන්න කියල නොවෙයි කෙළින්ම කපාහරින්න කියල මට බලපෑම් ආවා. බලන්න ස්වාමීන් වහන්ස අපිට මුහුණපාන්න තිබෙන ප්‍රශ්න? ඔබ වහන්සේ හිතන්න, ඒ ළමයා කොච්චර දුප්පත් අසරණ ළමයෙකු වුණත් මට පුළුවන් ද ඒ ළමයව තෝරන්න? මේ රාහුල හාමුදුරුවන්ගෙ නම කපාදමන්නත් මගෙ කැමැත්තක් තිබුණේ නෑ. එක හාමුදුරු නමයි ලැයිස්තුවෙ හිටියෙ. ඔය අතරෙදි තමයි රාහුල හාමුදුරුවො මාව හම්බුවෙන්න ගියේ. උන්වහන්සේ එක්ක කතාකළාමයි මට තේරුම් ගියේ, උන්වහන්සේ ගියේ තමන් ගැන කතාකරන්න නොවෙයි, අර ගැනු ළමය ගැන කතාකරන්න බව. ප්‍රථම වතාවටයි මේ වගෙ ප්‍රශ්නයකට මම මුහුණ දුන්නෙ........"

නායක ස්ථවිරයෝ රාහුල තෙරණුවන් ගේ මුහුණ සැකයෙන් බැලූ හ. ඒ සැකයට හේතුව ඒ ළමයා ගැනු ළමයකු වීම ය. තම ඊකියාව ගැනු ළමයකුට පූජාකරන්න රාහුලට අමුතු අනුකම්පාවක් කෙසේ පහළවිණි ද යි උන් වහන්සේ සිතති.

"රාහුල අඳුරනවාද ඒ ගැනු ළමයා?"

"නෑ නායක හාමුදුරුවනේ. අපි දෙන්නා දහම් පාසල ගැන කියන්න හේමපාල මහත්තයගෙ ගෙදරට ගිය වේලේ ඒ ළමයාගේ පියාත් ඇවිත් සිටියා හේමපාල මහත්තයගෙන් උදව් බලාපොරොත්තුවෙන්. ඒ මනුස්සයට ඇස් දෙකම පේන්නෙ නෑ. හොඳට ම වයසයි. හේමපාල මහත්තයාත් එක්ක එකට උගන්වපු ඉස්කොලෙ මහත්තයෙක්. විශ්‍රාම ගිහිල්ලා. බොහොම දුකසේ ජීවත් වෙන්නෙ. ඒ අවස්ථාව වෙනකොට ගුරු පත්වීම ගැන මගේ කිසිම බලාපොරොත්තුවක් තිබුණේ නෑ. තමාට කිසිම උදව්වක් කරන්න අවස්ථාවක් නැති බව හේමපාල මහත්තයා කියාපුවාම අර ගුරුවරයා පොඩි ළමයෙකු වගෙ

අඩින්න පටන්ගත්තා. ඇත්ත වශයෙන් ම මට ඇති වුණේ දුකක්, මම කල්පනා කළා. මගේ ගුරු පත්වීමවත් ඒ ළමයට හදදෙන්න ඕනැයි කියා. ඒකටයි මම මන්ත්‍රී තුමා හමුවන්න ගියේ"

"ඔන්න ඔතෙනදි මේ හාමුදුරුවො ක්‍රියාකළ ආකාරය ගැනයි මට විශාල පැහැදීමක් ඇතිවුණේ" මන්ත්‍රීතුමා කී ය. "පැවිද්දෙකුට ඊ.කියාවක් අවශ්‍ය නැත ය, ජීවත්වීම සඳහා දායකයො තමන්ට කෑම බීම ඇඳුම් සපයනවා ය කියල රාහුල හාමුදුරුවො මට කීවා. එහෙම කීවා පමණක් නොවෙයි. අසරණයෙකුට පිහිටවන්න ඉදිරිපත්වුණා. විශේෂයෙන් ම මේ හාමුදුරුවන්ගේ ඉල්ලීම උඩ දහසක් විරුද්ධතා මැද්දෙ මගේ නති මතයට මම ඒ ළමයට ගුරු පත්වීමක් දෙනවා. ඒ පක්ෂ ශාඛාවේ ලේකම් පක්ෂයෙනුත් ලේකම් ධුරයෙනුත් අස්වෙනවා කියල මට තර්ජනය කළා. කමක් නෑ. පක්ෂ දේශපාලනයෙන් තොරව හිතට එකග වී එක අසරණයෙකුට පිහිටවෙන්න ලැබුණාය කියල මම සන්තෝෂවෙනවා"

එක්සත් ජාතික පක්ෂයේ මන්ත්‍රීවරයාට ශ්‍රී ලංකා නිදහස් පක්ෂයේ බල කොටුවකැයි සැලකෙන පූජාරාමයෙන් උණුසුම් කෝපි කෝප්පයක් ලැබිණි. මන්ත්‍රීවරයා සතුටු සිතින් ආපසු ගිය අතර පූජාරාමයේ අධිපතින් වහන්සේ ඔහු ගැන සිතේ තුබූ කහට අප්‍රසාද සිතින් හළ හ.

යහපත් සිතිවිල්ලක් හා ක්‍රියාවක් කරණකොට යහපත් පරිසරයක් බිහි වූ සැටි නන්දරාම තෙරණුවෝ මෙතෙහි කළ හ.

පුද්ගලික ව හමුව කාරණය ඉෂ්ටකරගත නො හැකි නැත



තලකිරීමත් කෝපයත් පිටකරනු වෙනුවට රාහුල තෙරණුවන් කෙළේ, විහාරයට ගොස් බුදු හිමියන් ඉදිරියේ එරමිණිය ගොතා හිඳගෙන සිත එකහකොට තරුණියත් ඇගේ පියාත් මන්ත්‍රීවරයාත් අරමුණුකොට ඔවුන්ට යහපතක් ම වේවා, ඔවුන්නොවුන්ට එකිනෙකා කෙරෙහි යථාවබෝධය පහළ වේවා, යුක්තිසහගත සාධාරණ හැඟීමෙන් ඔවුනොවුන් ක්‍රියාත්මක වේත්වා යි ප්‍රාර්ථනය කිරීම ය. මන්ත්‍රීවරයා දුටු සැණින් නන්දරාම පුදුමයට පත්වූයේ රාහුල තෙරණුවන් ගේ මෙත් සිත හා මෙත් පැතුම ඉෂ්ට වූ ආකාරය දකිමෙනි.

# 9

යෝජිත ශ්‍රී සුචරිත දහම් පාසලට දරුවන් සොයමින් තෙරණුවෝ ගමේ ගෙයක් ගෙයක් පාසා දෙ වැනි දිනයටත් වැඩම කළ හ. හොරෙන් අල කොටු හෑරීම, කෙසෙල් කැන් කැපීම, පොල් කැඩීම් කොට, පසු ව ඒ අතහැර හොර මත්පැන් වෙළෙඳාම් කරමින් පවුල රකින, දරුවන් හය දෙනෙකු ගේ පියෙකු වන කලුවා නොහොත් සයිමන් යන අය ගේ ගෙදරට ද තරුණ භික්ෂූන් දෙදෙනා වැඩිය හ. ගෙය කටුමැටි පැල්පතකි. ගේ වටේ පොඩිසිංඤමරන් ලැහැබ ය. පටු අඩි පාර දිගේ යද්දී, ගෙමිදුලේ දෙතුන් දෙනෙකු සිටිනු දුටුවත්, මිදුලට යාමට පෙර ඔවුහු අතුරුදන් ව සිටිය හ.

කුඩා ළමයෙක් ගේ ඇඬුලේ හඬයි. ගේ පිටුපස සිට දිව ආ බල්ලෙක් බුරාහැළෙන්නට විය. සයිමන් ගේ බිරින්දෑ බල්ලා පන්නා දමා යළි ගෙතුළට ගියේ හාමුදුරුවන්ට අසුන් ගැනීම සඳහා පිරුවටයක් සොයනු පිණිස ය. සුදු රෙද්දක් ගෙතුළ නැති



නිසා එක ළඟට කළ පුටු දෙක මත චිත්තයක් ඇතුරු ගැහැනිය වැඳ පසෙකට වූවා ය.

ගැහැනියකගේ අපිරිසිදු වස්ත්‍රයක් පිරුවටක් කරගැනීමට නන්දරාම තෙරණුවන් කැමැත්තක් නොදක්වූවත්, රාහුල තෙරණුවෝ ඒ ගැන තැකීමක් නොකොට එක පුටුවක වාඩිවූ හ. අකැමැත්ත යටපත් කොට වාඩිවීමට නන්දරාමටත් සිදුවි ය. මතක ඇති කාලෙකින් තම ගෙදරට කහසිවුරක් නොපැමිණි නිසාත්, තමා පිල්ගන්නේ නැති නිසාත් මිලිනෝනාට සුදු රෙදි අවශ්‍ය නැත. කිරි අම්මලා ගේ දනයට යන විට මී සුදු රෙද්දක් හා හැට්ටයක් රෙදි නැන්දගෙන් ලබාගනී. -

"සයිමන් උන්නැහැ ගෙදර නැතිවා වගෙයි.......?"

"මේ දැන් හිටියා. ළඟම ඇති"

ගේ තුළින් ගුවන් විදුලි යන්ත්‍රයක හඬ ඇසිනි. තම ගෙදරත් ගුවන් විදුලි යන්ත්‍රයක් ඇති බව පැමිණ සිටින හාමුදුරුවන් දෙදෙනාට පෙන්වීමට සයිමන් ගේ ළමයින්ට වුවමනාවී ය.

"ඔය කරච්චලේ වහදපල්ලා ළමයිනේ......."

ශබ්ද නගා කතාකළ හෙයින් මිලිනෝනා වේගයෙන් හුස්මගන්නට වූවා ය.

"අපි ගමේ පන්සලේ පොඩි උන්නාන්සේලා දෙන්නා" රාහුල තෙරණුවෝ කීහ.

"අපි ගම රට හැරදල උන්නයි හාමුදුරුවනේ. මාසෙකට දෙකකට උඩදී කවුද වසවාර්තියෙක් ඔය හාමුදුරුවන්ට නොවැ වෙඩි තිබ්බා ය කියන්නෙ. ඔය හාමුදුරුවන්ගේ සීල ගුණේට වෙඩි වැදුනෙ නැතිලු. ඒ දවස්වල මෙහාට ආපු හැමෝම ඔය

ගැන තමයි කතාවුනේ"

"අපි ආපු කරුණය සයිමන් උන්නැහැ නැතිවාට ඔය උපාසිකාවට කිව්වට කාරි නෑ නේද?"

"කියන්න හාමුදුරුවනේ. ඒ මනුස්සයා මේ ඉන්නවා මේ නෑ. බණ මඩුවේ වැඩක් වුණත් විහාර ගේ වැඩක් වුණත් කාරි නෑ. අපිට ඇහැක් විදියට අපිත් ආධාරයක් කොරන්නම්"

"අපි ආවේ උපාසක අම්මෙ ආධාරයක් ඉල්ලාගෙන නොවෙයි. මේ ගමේ හැදෙන වැඩෙන ළමා පරපුර යහමග යවන්න දහම් පාසලක් පවත්වන්න අපි අදහස් කළා. අවුරුදු තුන හතරට වැඩි, දහය පහළොවට අඩු හැම ළමයෙකුම අපේ දහම් පාසලට එවන්න. අපි ඒ දරුවන්ට යහමග පෙන්වන්න ඕනෑ. ලබන මාසෙ තුන් වැනිදටයි අපි මේ කටයුත්ත ආරම්භ කරන්නෙ"

"කොච්චර එකක් ද හාමුදුරුවනේ, කොච්චර එකක්ද?" මිලිනෝනා කීවා ය. බණ පදයක් ඉගෙනගන්න ඇත්නම් ඒක කොච්චර එකක් ද? මාත් ඉරිද ඉස්කෝලෙ ගිහිං තියෙනවා. පුදුමෙ කියන්නෙ හාමුදුරුවනේ මේ කරුම ජීවිතේට අතගැහුවාට පස්සෙ ලෝවැඩ සඟරාවෙ එක කවි පදයක් මට දන් මතක නෑ. මගෙ කොල්ලො හරිමග යනවා නම් මට ඕනැත්තෙ එච්චරයි. ලොකු එව්වො හතර දෙනාම එවන්නම් හාමුදුරුවනේ. හාමුදුරුවන්ට කියන්න, මේ ඊයෙ පෙරේද දෙවැනි කොල්ලා තවත් එකෙක් එක්ක තිත්තයො අල්ලන්න ගොහිං ඉදල මගෙ අතට ම අහුවුණා. මං උංට ආයින් ඒ වගෙ ගමන් නොයන්න දුන්නා. එතකොට හාමුදුරුවනේ, දහම් පාසැලට එනකොට මොන මොනවද ගේන්න ඕනෑ? කිව්වාම මොකද මං ඉරිද



ඉස්කෝලෙ යනකොට අරංගියේ මොනවද කියලවත් මට දන් මතක නෑ. මල් අරං ගිය වග නම් මතකයි. කොපි පොතකුත් පැන්සලකුත් අරගෙන යන්න වෙයි නේද හාමුදුරුවනේ? පොත් නිකම් දුන්නා ද සල්ලි වලට ගත්තා ද කියන්න මට දන් මතක නෑ."

මිලිනෝනා කටකාර වුවත්, උගත්කමක ඡේයාවක් ඇගේ කතාවෙන් මතුවී ය. ඕ කතාව නවතා බිම දමා තිබුණු කොළ කඩා දැමූ අපිරිසිදු පාඩම් පොතක් අතට ගත්තා ය. "ඔන්න බලන්න හාමුදුරුවනේ, අපි ඉස්කෝලෙ යන කාලෙ මේ වගෙ පොතක් ඉස්කෝලේ අරංගියා නම් මොකද වෙන්නෙ? වේවැල් කසාය තමයි. මං ඔය කරුණාවට මේ කොල්ලන්ට කොච්චර නම් තඩිගහල තියෙනවද? වැඩක් නෑ, ගුරුවරුන්ගෙ තරවටුවක් නැත්නම් අපි කොච්චර ගැහුවත් බැන්නත් උන් ගණන් ගන්නෙ නෑ. දන් ඉස්කෝලවල ඉන්නෙ ගුරුවරුයැ? මොකටද ඉතිං එව්වා........"

කතා නොකර අසා සිටින්නේ නම් මිලිනෝනා තව බොහෝ වේලාවක් නොනවත්වා කතාකරන බව රාහුල තෙරණුවන්ට පැහැදිලිවි ය. යෝජිත දහම් පාසල ගැන ළමයින් ගේ මවට සුළු අවබෝධයක් දිය යුතු යයි අදහස් කළ උන්වහන්සේ මෙසේ කී හ:

"අපි අදහස් කරන විදියට දහම් පාසලක් කියන්නෙ බණ පද උගන්වන තැනක් පමණක් නොවෙයි. ප්‍රධාන වශයෙන් දරුවන්ට විනය හික්මීම ගුණයහපත්කම උගන්වන තැනක්. එවා පුරුදු පුහුණු කරන තැනක්. අපේ ප්‍රධානම අදහස එකයි. පිළිවෙත් සරම් පුද්දපවිත්‍රව ළමයින්ව එවන්න. මුලදී එක ද පොතක්වත් නොගෙනවාට කාරි නෑ. එවා අවශ්‍ය වේලාවේදී

අපි එක්කො කියන්නම්. නැත්නම් නොමිලයේම ලබාදෙන්නම්. එක ළමයා එක මල් වට්ටිය ගානේ, ඒ නැත්නම් මල් ගොට්ට ගානෙ ගේන්න ඕනැ. ඒක වැදගත්''

ගේ ඇතුළේ සිට අවුරුදු දෙළහ දහය අතර තරමේ පිරිමි ළමයින් තුන් දෙනෙක් ද, අවුරුදු හයක තරමේ ගැහැනු දරුවෙක් ද එක පෙරමුණකට සැදී දෙර ළඟ සිටගත් හ.

''අපිට බෑ පන්සල් ඉස්කෝලෙ යන්න'' දෙවැනි ළමයා පළමු ව කී අතර, මට බෑ. මට බෑ, මටත් බෑ යනුවෙන් සෙසු තිදෙනා ද ඒ සමඟ ම කීහ.

''කොපිට බෑ?'' දැන් ඉඟටියට ගසාගනිමින් මිලිනෝනා රවා බැලුවා ය.

''බෑ කියන්නෙ බෑ හින්ද'' දෙවැනියා නොබිය ව කීයේ ය.

රාහුල තෙරණුවෝ කතාකළ හ. ''ඇයි බබාල බෑ කියන්නෙ?''

''පන්සල් වත්තෙ තුත්තිරි උදුරන්න නේද අපිට එන්න කියන්නෙ? අපි දන්නවා හොරේ.........''

නන්දරාමට හිනාගියේ ය. මිලිනෝනාගේ නොලගත් සිනාවෙනි පිරිණි.

මිලිනෝනා කම්මුලට අත තබාගෙන කතාකළා ය. ''මේ කොලුවා ඔය කියන්නෙ මේකයි හාමුදුරුවනේ. අවුරුදු දෙකකට උඩදී මං සෝමපාලව නවත්තලා හිටියා අපේ අක්කලාගේ ගෙදර මාප ගණනක්. එහෙ දහම් පාසැලට මේ කොලුත් ඇරල තියෙනවා අක්කගෙ දූත් එක්ක, එහේදි කරලි තියෙන වැඩ තමයි ඔය කියන්නෙ''



''බොරු නෙමෙයි'' සෝමපාල කීවේ ය.

''ඉතිං බොල කොල්ලොත් එක්ක දඩාවතේ යන එකට නාකයැ පන්සල් වත්තේ තුත්තිරි උදුරන එක? පිංසිද්දවෙන වැඩක් නොවැ''

මිලිනෝනා රාහුල තෙරණුවන් දෙසට හැරුණා ය. ''ළමයි කියන විදියට වැඩ කරල බෑ හාමුදුරුවනේ. හතර දෙනාම මං එවන්නම්''

''අපි අඳින්නෙ මොනවද?'' ලොකු ළමයා ඇසුවේ ය. ඔහු සිටියේ සරමක් වලාපොට ගසාගෙන ය.

''ඇයි උඹල ඉස්කෝලෙ යනකොට අඳින ඇඳුම්?''

''ඉස්කෝලෙ අඳින්න තියෙන්නෙ එකයිනෙ. ඒක හෝදන්නෙ ඉරිදටනෙ........''

''ඒක මං බලාගන්නම්''

* * *

දහම් පාසලකින් ගම්බද දරුවනට ඉටුවිය යුත්තේ කවරාකාර සේවාක් දැයි නිගමනය කිරීමට සයිමන් ගේ ගෙදරට ගිය ගමන තමන්ට බෙහෙවින් උපකාරි වී යයි පැවිද්දන් දෙදෙනාම සිතූ හ.

* * *

ලොකු කුඩා ළමයින් හතළිස් එක් දෙනෙක් මල් වට්ටි හා මල් ගොටු ගෙන පන්සලේ බණ මඩුවට පැමිණ සිටිය හ. බණ මඩුවේ වෙස් පුටු නොතිබුණු නිසා මල් බඳුන්, කොට බිත්තිය උඩ තබා, බිම එළනලද පැදුරු මත වාඩිවීමට ළමයින්ට සිදුවි ය. පැමිණ සිටි ලොකුම ළමයා ගේ වයස අවුරුදු දහතරක් වූ අතර, බාලම ළමයාට අවුරුදු හතරකි. මේ උතුම් අවස්ථාවට සහභාගිවන ලෙස රාහුල තෙරණුවන් ගේ ආරාධනය ලැබ ග්‍රාමෝදය මණ්ඩල සභාපති මහතා ද පැමිණ සිටියේ ය. අමුත්තෙකුට වූයේ ඔහු පමණි. අමුත්තකට වූයේ විපෝවක් මත එළන ලද සුදු රෙද්දක් මත තබන ලද පිත්තල පහනකි. සුබ මොහොතට සභාපති මහතා පිත්තල පහන දල්වත් ම තෙරණුවෝ බිම අතුරන ලද මෙට්ට මත වරම්ණියා ගොතා සිඳ පිරිත් සජ්ඣායනය කරන්ට වන් හ.

පිරිත අවසානයේ රාහුල තෙරණුවෝ ළමා පිරිස ඇමතූ හ.

"පින්වත් දරුවනි, අද ඔය දරුවන්ගෙ ජීවිතයේ වැදගත් උතුම් දිනයක් කියල හිතාගන්න. සමාජයට බරක් නැති, සමාජයට වැඩක් ඇති හොඳ යහපත් දරුවන් වන්න, හොඳ යහපත් ගැහැනු මිනිසුන් වන්න අද අධිෂ්ඨානයක් ඇතිකර ගනිමු. උත්පත්තියෙන් ම ඔය දරුවො ඉතා හොඳ දරුවො. තවමත් ඔය දරුවන්ගෙන් සමාජයට වරදක් වෙලා නැ. තමා ගෙන් තමාට වරදක් වන්නෙ, තමාගෙන් සමාජයට වරදක් වන්නෙ ලොකු මහත්වුණාමයි. අපෙන් අපටත්, අපෙන් රටටත් වරදක් නොවන්නටත් හොඳකම වන්නටත් අපි හැඩ ගැසෙන්න ඕනැ. මේ පූජාරාම ශ්‍රී සුචරිත දහම් පාසල අපි ඇරඹුවෙ ඒ සඳහාම යි. දහම් පොත පතෙන් පමණක් නොවෙයි,



හැසිරීමෙන් පැවැත්මෙන් හොඳ දරුවන් වන්නේ කොහොම ද කියන එක ඉගැන්වීමයි, මේ දහම් පාසලේ පරමාර්ථය. ඔය දරුවන්ට අපි සැරකරන්නෙ නැ. ගහන්නෙ නැ. බලකරන්නෙ නැ. විහාරය වටේ තණ කොළ උගුල්ලන්න, පන්සල් වත්තෙ තුත්තිරි ගලවන්න, කොප් කොළ අහුළන්න අපි කියන්නෙ නැ. එ පේ කළ යුතු යයි තමන්ට සිතුනොත් පමණක් කරන්න. අපි දන් සියලු දෙනා ම බුදුන් වඳින්න - පන්සිල් ගන්න විහාරස්ථානයට යමු. දුවගෙන ගියොත් මල් ගොටුවල මල් වට්ටිවල මල් බිම වැටෙනවා. එක ගොඩේ ගියොත් ඇගේ හැපෙනවා. එතකොට කේන්ති යනවා. ඒ නිසා එක්කෙනා පස්සේ පෙළියට විහාරයට යමු"

මල් රැගෙන බණ මඩුවේ සිට එක පෙළියට විහාරයට ඇදෙන දරු පිරිස දෙස නායක ස්ථවිරයෝ සාවධානව බලාසිටිය හ. රාහුල, දරුවන්ට මග පෙන්වමින් ඉදිරියෙන් ම වඩින අතර, නන්දරාම හා ග්‍රාමෝදය සභාපති පසුපසින් ගමන් ගනිති. ළමා පිරිසට නැත්තේ සිල් රෙද්ද පමණි. ඔවුහු ඒ තරමට ශාන්ත ව ගමන් ගනිති. "රාහුල යමක් කරන්නෙ තේරුමක් ඇතිවයි. නිකම් ආවට ගියාට කරන්නෙ නැ" නායක ස්ථවිරයෝ සිතූහ.

* * *

සියලුම මල්, මල් දෝවනය කරන මේසය මත දමා එකම ගොඩක් සේ කලවම්කොට එකවර පැන් දෝවනය කරනු ලැබිණි. එ සේ කිරීමට හේතුවක් තිබිණි. ඒ හේතුවත්, බෝධියට හා බුදුරජාණන් වහන්සේට මල් පූජා කරන කාරණයත් රාහුල තෙරණුවෝ තමන්ගේ ශිෂ්‍යයින්ට පහදුන් හ.

"ඔය දරුවො වෙන වෙනම මල් ගෙනාවා. අපි ඒ මල් එකට

කලවම් කළා. බුදු රජාණන් වහන්සේ හොඳ මල් නරක මල් කියල මල්වල විශේෂයක් දකින්නෙ නෑ, හැමෝම සම්මාදන් වූ මල් ගොඩකින් ගන්නා මල් මිටකින් තමන් වහන්සේ පුදනවා දකින්න උන්වහන්සේ ඉතා ම කැමතියි. සමගියෙන් සාමදානයෙන් ක්‍රියාකරන්න ඔය දරුවො පෙළැඹෙන්නෙ එතකොටයි''

ළමයින් ගේ දෑත්වලට පැන් කෙන්ඩියෙන් පැන් වත් කරන ලද්දේ නන්දරාම තෙරණුවන් විසිනි. අත් දෝවනය කිරීම යන්නෙන් කුණු තැවරුණු අත් තෙත්කිරීමක් අදහස් නොකෙරිණි. මෙහි දී ළමෝ එකා පසු පස එකා බැගින් දෝත පාමින් සිටියහ.

පළමුවැන්නා ගේ දෑතෙහි වරදක් කිය නොහැකිවි ය. ඒ දෑත තෙත් වූ පසු සහාපති මහතා ඔහු ගේ දෑත මත මල් මිටක් තැබුවේ ය. දෙ වැන්න ඉතා අපිරිසිදු දෑතකි. එක ඇහිල්ලක තුවාළයකි. එයින් සැරව ගලයි. පසෙක සිටි රාහුල තෙරණුවෝ පාන්කඩ කැබැල්ලකින් දරුවාගේ තුවාළයෙහි සැරව පිස, දෑතම මනාව සෝද මල් මිටක් ගෙන දරුවාගේ අතේ තැබූහ. ''අපි පන්සලට ගිහිං තුවාළෙට බේත් දමු. දැනට ඔයාගෙ අත පිරිසිදුයි. මල් මිට අතට ගන්නකො''

අත්වල තුවාළ හෝ හොරි හෝ තිබුණු දරුවන් හය දෙනෙකු ගේ ම අත් සෝද පිරිසිදු කිරීමට රාහුල තෙරණුවන්ට සිදුවි ය. දෝත් මල්වලින් පුරවාගත් දරුවෝ විහාර ගෙයි බුදු පිළිමය ඉදිරියේ සවාකාර ව සිටගත් හ. දෙ වැනි වරටත් තෙරණුවෝ දරුවන් ඇමතූ හ. උන්වහන්සේ ගේ දෝත ද මලින් පිරී තිබේ.

''අපි දැන් බුදුරජාණන් වහන්සේට මල් පූජාකරමු. ඇයි අපි උන්වහන්සේට මල් පූජාකරන්නෙ? ඇයි අප උන්වහන්සේ ඉදිරියේ වැඳ නමස්කාරය කරන්නෙ? අපි උන්වහන්සේට



ගෞරව කරන නිස යි. උන්වහන්සේ අති පූජනීය නිස යි. උන්වහන්සේ මේ ලෝකයේ පහළ වූ ශ්‍රෙෂ්ඨතමයා නිස යි. උන්වහන්සේ බලවතෙක් ධනවතෙක් වූ නිසා නොවෙයි. ලෝකයා සිල්වත් කිරීමට ගුණගරුක කිරීමට ජීවිත කාලය ම උන්වහන්සේ කැපකළා. බලන්න උන්වහන්සේ ගේ මුව මඩල........''

ළමෝ සමාධි සුවයෙන් වැඩ වසන බුදු රජාණන් වහන්සේ ගේ වත කමල දෙස නෙත් හෙළූ හ.

''හොඳයි දැන් මේ මල්, බුදුරජාණන් වහන්සේට ගෞරව පිණිස. ආදර භක්තිය පිණිස පූජා වේවා යි කියා හිතාගෙන මල් අසුන මත සෙමින් තැන්පත්කර නමස්කාරය කරන්න. මම මේ කාර්යය පළමු ව කරන්නම්. මාව ආදර්ශයට ගෙන ඒ අනුව මල් පූජාකරන්න. මල් පූජා කරන ගාථාව, බුදුන් වඳින ගාථාව ඉගෙනගන්නට පසු ව ඒ ගාථා කියල බුදුන් වඳින්න අපිට පුලුවන්''

මල් දෝත තමන් ගේ පපු මතට ළංකරගත් රාහුල තෙරණුවෝ සෙමින් හිස ඔසවා බුදුරජාණන් වහන්සේ ගේ වත කමල දෙස මහත් ගෞරවයෙන් බලා, දෝත ක්‍රමයෙන් මුදුනට ගෙන ගොස් හිස පහත්කොට දෝත ද පහත් කළ හ. මලින් මල වෙන් නොකොට මල් දෝතම සෙමින් මලසුන මත තැබූ උන්වහන්සේ බිම වැතිර පසහ පිහිටුවා වැන්ද හ.

ළමයින්ගෙන් ''හ්ම්'' හඬක් නොනැගිණි. ඔවුහු කොතරම් සාන්ත ව ඒ කාර්යය කළෝ ද යත්: ශබ්දයකට ඇසුනේ දණි පොල් කටු පිහන් ගඩොල් මත ගැටෙන හඬ පමණි.

යළිත් මල් ගෙන බෝධිය ඉදිරියේ අඩ කවාකාර ව හිටගත් ළමයින් අමතා රාහුල තෙරණුවෝ තෙවන වරටත් කතාකළ හ. "බෞද්ධයින් වන අපි බෝධි වෘක්ෂයටත් ගරු කරනවා. බෝධි වෘක්ෂයටත් මල් පහන් පූජා කරනවා. මොන විදියේ කාර්යයක් කළත්, අප ඒ කාර්යය කළ යුත්තේ තේරුමක් ඇතිව යි. අවබෝධයෙන් යුක්තව යි. චාරිත්‍රයක් ඉෂ්ටකරනත්, ඒ චාරිත්‍රයේ තේරුම අපි දනගෙන තියෙන්න ඕනැ. අපේ බුදුරජාණන් වහන්සේ බුද්ධත්වයට පත්වුයේ, ලෝකය හා ජීවිතය තේරුම් ගත්තෙ ඉන්දියාවේ නේරංජනා නදිය අසල ගයා කියන පෙදෙසේ දී මෙ වැනි බෝධි වෘක්ෂයක සෙවණ යටදී යි. ගෙයක් දොරක් ඒ අසලක තිබුණෙ නැ. සාන්ත තැනිතලා ප්‍රදේශයක්. තමන් වහන්සේට සෙවණ දුන්න, තමන් වහන්සේට පිට දුන්න, තමන් වහන්සේ ගේ නතියට හුන්න බෝධි වෘක්ෂයට උන්වහන්සේත් ගෞරව කළ බව අපි දන්නවා. බෝධියට මල් පුද ගරු බුහුමන් දක්වන විට, කෙළෙහි ගුණය පිළිබඳ ව පමණක් නොවෙයි, බුදු රජාණන් වහන්සේ බුද්ධත්වය ලබාගැනීම සඳහා සය අවුරුද්දක් මුළුල්ලේ දරූ මහා උත්සාහයත් කළ කැපවීමත් සිහිපත් කළ යුතු ව තිබෙනවා. උන්වහන්සේ සය අවුරුද්දක් මුළුල්ලේ මොන විදියේ උත්සාහයක් ද දැරුවෙ, කවරාකාර කැපවීමක් ද කෙළේ කියා අපිට පසු ව ඉගෙන ගත හැකි යි. දහම් පාසැලේ දි අපි ඒවා ඉගෙනගමු. දැන් ඒ ශ්‍රේෂ්ඨ බුද්ධත්වය සිහිපත් කරමින් කෙළෙහි ගුණ දැක්වීමේ වැදගත්කම මෙනෙහි කරමින් බෝධි වෘක්ෂයට මල් පූජාකරමු"

* * *



බණ මඩුව සෞඛ්‍ය මධ්‍යස්ථානයක් බවට පරිවර්තනය විය. ග්‍රාමෝදය සභාපති මහතා නික්ම ගොස් සිටි අතර, තෙරණුවෝ, ඩෙටෝල ප්ලේවින් හා කපු පුළුන් ද පරණ සිවුරුවලින් ඉරාගත් තීරු පටි ද උපයෝගී කරගෙන දරුවන් ගේ අත් පාවල ලොකු කුඩා තුවාලවලට බෙහෙත් කරන්නටවන් හ. ශරීරයේ කොතැනක හෝ තුවාලයක් නුවූයේ ගැහැනු ළමයින් තිදෙනෙකු ගේ පමණි. එක ළමයෙක් අත්පාවල නියපොතු වවාගෙන සිටියේ ය. අත්පා වල වැඩියක් ම තුවාල වූයේ ඒ ළමයාට ය. සෞඛ්‍ය මධ්‍යස්ථානයේ වැඩ කටයුතු අවසාන වන විට එකොළහ වී තිබිණි. ලේඛණයට නම් ඇතුළත් කිරීමට තවත් පැය බාගයක් ගතවි ය.

මෙය මල් පූජාකොට තුවාලවලට බේත් දමන පාසලකැ යි පොඩි ළමයි සිතූ හ. එක් වරක් පමණක් බේත් දැමීමෙන් තුවාළ හොඳ නොවන බවත්, දින දෙකකට වරක්වත් බේත් දැමිය යුතු බවත් ළමයින් කිහිපදෙනෙක්ම දැන සිටිය හ.

"තුවාල තෙමුණාට කමක් නැද්ද හාමුදුරුවනේ?" එක ළමයෙක් ඇසුවේ ය.

"නොතෙමා හිටියොත් හොඳයි"

"ආයින් බේත් දන්න හෙට හවස එන්න ද? උදේට ඉස්කෝලෙ තියෙනවානෙ......"

නන්දාරාම තෙරණුවන්ට හිනාගියේ ය. මෙය රාහුල හාමුදුරුවන් විසින් පටලවාගත් අමතර කාර්යයකැයි උන් වහන්සේට සිතිනි. අනුකම්පාව පෙරදැරිකරගත් සිතින් රාහුල තෙරනුවෝ ළමයාට උත්තර දුන්නෝ ය. "අපිට ඕනැ කරල තිබුණෙ ඔය ළමයින්ගේ හිතේ හටගන්නා ලෙඩ රෝගවලට

කල් ඇතිව ප්‍රතිකාර කරන්න යි. හොඳයි කමක් නැ. හිතේ ලෙඩන් ගතේ ලෙඩට බලපාන නිසා ගතේ ලෙඩ සුවකරලාම හිතේ ලෙඩ සුවකරමුකෝ. හෙට හවස තුනට හතරට ලොකු තුවාල තියෙන අය ඔක්කෝම එන්නකෝ. ඒ එනකොට සුදු පාන්කඩ පටියකුත් අරගෙන එන්න අමතක කරන්න එපා"

# 10

නන්දරාම තෙරණුවන් හමුවනු පිණිස තරුණයෙක් හා තරුණියක පන්සලට පැමිණිය හ. ඇස් රෝහලේ ප්‍රතිකාර ලබන නමක්ගේ මහලු මව බැලීමට රාහුල තෙරණුවන් එහි ගොස් සිටි අතර, නායක ස්ථවිරයෝ ද පන්සලෙන් බැහැර ව සිටියෝ ය.

තරුණිය, නන්දරාම ගේ හිතවතිය වන සුජාතා ය. එන බව කල් ඇතිව ඇය නන්දරාම තෙරණුවන්ට දන්වා තිබුණත්, එන්නේ කා සමඟ ද යි කියා තිබුණේ නැත. සුජාතාට සහෝදරයින් ද සිටින බව දන සිටි නන්දරාම පැමිණි තරුණයා ඇගේ සහෝදරයෙකු යි සිතුවේ ය.

පෙම්වතිය පිළිබඳ හැඟීම් බොහෝ දුරට යටපත් කර ගෙන සිටි නන්දරාම තෙරණුවන්ට යළිත් හැඟීම් ඇවිස්සිගියේ ලිපිය ලද මොහොතේ සිට ය. සුජාතාට එන්න එපා යයි කියන්න කාලයකුත් නොතිබිණි. කොහොම වෙතත්, සුජාතා එනවිට

ලොකු හාමුදුරුවන් පන්සලෙන් බැහැරව ගොස් සිටීම නන්දරාම ගේ සැනසිල්ලට හේතුවී ය. රාහුල හාමුදුරුවන් නම් හිටියත්, නොහිටියත් එක ය.

සුජාතා තරුණයා සමඟ පන්සලට ආවේ නන්දරාම තෙරණුවන් රාහුල හමුදුරුවන් ගේ පිවිච පඳුර ළඟ සිටිය දී ය. සුජාතා කට පුරා සිනාසෙමින් ලංවූවා ය. ඇයට තෙරණුවන් ගේ දර්ශනය ප්‍රීතිය ගෙනදෙන්නක් වී තිබේ. කිසිදු බයක් හැකක් නැතිව ඈත සිට ම සිනා පහළකර ගෙන ළඟට ආ ඕ "මදැයි දක්ක කල්......... ඉතිං කොහොමද සාධු?" යයි කීවා ය.

"සැප දුක සමබර ව පවතිනවා. සුජාතාට කොහොමද?"

"මට මනක්වුණාට සාධුට දත් මාව මතක්වෙන්නෙ නැතිව ඇති?"

සිංඤප්පු ළිඳ ළඟ මවිත ව බලාසිටි. බිය මුසු හැඟීමක් තෙරණුවන්ට ඇති වූ හෙයින් උන්වහන්සේ වට පිට බැලූ හ. දෙ වනු ව තම හිතවතිය සමඟ පැමිණි අමුත්තා කවරෙක් ද යි විමසිලිමත් වූහ: ඔහු ඇගේ නවත් පෙම්වතෙක් ද යි ක්ෂණික සැකයක් මතු ව දෙදෙනා ගේ මුහුණුවර සසඳබැලූ හ: විනිශ්චයකට එලැඹුණු නොහැකිවි ය. තරුණයා තරුණිය ගේ වැඩිමහලු සහෝදරයෙකැ යි තෙරණුවෝ වාසියට හිත හදාගත් හ. සාරිය ඇඳ සිටින සුජාතා ඉතා ලස්සණ ය.

"මං බයේ හිටියෙ සාධු නො හිටි ද කියල........ බස් එකෙන් බහිනකොට ම දක්කා. හිත හිතා ඉඳල බැරිම තැනයි සාධු බලන්න ආවෙ........"

තරුණයාටත් තමන්ට මෙන් ලජ්ජාවක් ඇතිවිනැ යි නන්දරාම තෙරණුවන්ට සිතිණි. ඔහු යන්තම් සිනායි බිම



බලාගන්නවා පෙනිණි.

"යමු පන්සලට. ඔය ඇත්තන්ගෙ යාළුවෙකුගෙ ගෙදරට ගියාම වගෙ ආගන්තුක සත්කාර කරන්න නම් ඉඩක් නෑ"

"හරි කතාවක් තමයි. අපි එපැයි සාධුට සත්කාර කරන්න, නේද මහී?"

තරුණයා අවමානයට හිස වැනුවේ ය. තරුණයා සුජාතා ගේ සහෝදරයෙකු වීමට කොහෙත්ම අවකාශ නැති බව පෙනේ. තෙරණුවන් ගේ සිත මන්දෝත්සාහිවි ය. සමහරවිට තරුණයා තනියට එක්කරගෙන ආ අසල්වැසියකු හෝ ඥතියකු හෝ වන්නටත් පුලුවන.

ස්ථවිර තෙමේ තරුණයාත් තරුණියත් තම කාමරයට කැඳවාගෙන ගියේ ය. සිංඤප්පු දැන් ඉනටියට ගසාගෙන කාමරය ළඟට ම පැමිණ බලාසිටි.

සුජාතා කිසි වකිතයක් නැතිව නන්දරාම තෙරණුවන් ගේ යහන මත වාඩිවූයේ එ සේ කරන්නට බොහෝ කලක සිට පුරුදු පුරා සිටි පරිද්දෙනි. ඇගේ මුහුණේ සිනාරැල්ල දිගට ම දල්වෙයි.

"සාධුගෙ කාමරේ සුවඳයි. හරි ෂොක්. නවතින්න ද මං?"

තෙරණුවන් ගේ මුහුණ නරක්වූයේ, සුජාතා ගේ කතාව සිංඤප්පුට ඇසෙන්ට ඇතැ යි හැඟීගිය නිසා ය.

"මහි බලන්නකො අපේ සාධුගේ මූණ බයවෙලා වගෙ"

"ඒක නෙමෙයි, සාධු ආසයි නේද අර ලුණු රස පුංචි පුංචි කැලිවලට? මේසේ උඩ තියෙන පාර්සලේ පැකට් දෙකක් ම ඇති. හාදු මතක ද – අපි කට්ටිය කැලණි ගිය වෙලාවෙ විහාරෙ

ඇතුළේ දී උදුර උදුරා කෑවෙ. කජු පැකට් එකකුත් ඇති"

සිංසැප්පුට යන්න ය කියන්නත් බැරි ය. එ සේ කීවොත් ඔහු උදහස්වනු ඇත. ලාච්චුව ඇද රුපියල් පහේ කොළයක් ඇදගත් නන්දරාම සිංසැප්පු ළඟට ගියේ ය. පන්සලේ බීම බෝතල තිබෙන බව නන්දරාමට කල්පනාවක් නොවී ය.

"ඇයි හාමුදුරුවනේ ඔරෙන්ජ්ම්බාර්ලි තියෙන්නෙ"

"එහෙනම් බෝතලයක් කඩල වීදුරු දෙකකුත් එක්ක අරං එනව ද? විශ්ව විද්‍යාලයේදි මාත් එක්ක ඉගෙනගත්තු ළමයි දෙන්නෙකුයි ඇවිත් ඉන්නෙ"

ආපසු කාමරයට යද්දි, සුජාතා සිනාසෙමින් සිවුරක් ඉණ වටා පටළවමින් සිටිනු දුටු නන්දරාම ගල්ගැසිණි. විවරයට පමු සුවඳට ඇය දක් වූ ඇල්ම උන්මාදයකට පෙරළී ඇද්ද යි ඔහුට සැක සිතිණි. ඇයට උන්මාද නම් ඇය සමඟ පැමිණ සිටින්නේ ද පිස්සෙකි.

"ලස්සණ ද සාධු? අනේ කියන්නකෝ ලස්සණ නේද? මේං මේ වගෙ සිවුරක් ඇඳගෙන සාධුත් එක්ක ඉන්න ඇත්නම්........"

"ඕක කිළිටි සිවුරක්. පැත්තකට දාන්න"

"ඒ වුණාට මට සුවඳයිනෙ. මට හිතෙනව මේ සිවුර උස්සාගෙන යන්න. සාධුට නැතැයි සිවුරු ඕනෑපදං...... නිදගන්නකොට මට පොරවගන්න මේක දෙන්නකො සාධු......"

නන්දරාම හතරවැනි වරටත් තරුණියා ගේ මුහුණ බැලුවේ ය. තරුණියා ගොළුවෙක් ද, බිහිරෙක් ද නැත්නම් අන්ධයෙක් ද?

සැමියා විසින් නොසැලකිල්ලෙන් පැත්තකට දමූ ඇඳුමක්



නිශ්‍යාකාර ව නවා තබන දයාබර බිරිඳක මෙන්, සුජාතා සිවුර දිග හැර දෙකට හතරට අටට නවා යහන මත හිඳගෙන එය බද මත තබා මිරිකාගත්තා ය.

"ඉල්ලන්න එපා. දෙන්නෙම නෑ"

"සුජාතා පොඩි ළමයෙක් වගෙනෙ හැසිරෙන්නෙ. ඕක පැත්තකට දාල අපි වෙන දෙයක් කතාකරමු? මේ මහත්තය කවුද කියල මට තාමත් හඳුන්වාදුන්නෙ නෑ?"

"ඉස්සෙල්ලා මහීට සාධුව හඳුන්වා දෙන්නම්....... මහී, මේ සාදු තමයි මගෙ පූජනීය හිතවතා. කෙල්ලො කොල්ලො මට හිනාවුණා "පාසතේ ඇත්ති" කියල. මම කවදාවත් මේ සාධුත් එක්ක තරහවෙන්නෙ නෑ. හැබැයි සාධු සිවුරු ඇරියොත් අන්න එදාට මං තරහවෙනවා. ඉතිං සාධුට මම මෙයාව හඳුන්වා දෙන්නම්......."

සිංසැප්පු ගේ අඩි ශබ්දය ඇසුණු හෙයින් නන්දරාම තෙරණුවෝ කාමරයෙන් පිටවූ හ. සුජාතා ඉන්න ඉඳුම සිංසැප්පු දකගන්නවාට උන්වහන්සේ කැමති නුවූ හ. මූඩිය ඇරීන ලද බීම බෝතලය එක අතකින් ද, වීදුරු දෙක අනික් අතින් ද ගෙන යළි කාමරයට වත් තෙරණුවෝ ඒවා මේසය මත තබා රැලිගැසී තිබූ පෙර රෙද්ද දිග හැරියෝ ය.

තරුණියා සිටගන්වන ම සිටි. ඔහුට වාඩිවීම සඳහා මේස පුටුව ලං කළ ද ඔහු එහි වාඩිවූයේ නැත. බීම, වීදුරු දෙකට වත් කළ තරුණිය, මේසය මත වූ නන්දරාම ගේ කෝප්පය ගෙන එයට බෝතලයේ ඉතිරිව තිබූ සියල්ල හළා බීගෙන බීගෙන ගියා ය.

"ඕං සාදුට මම මෙයාව හඳුන්වා දෙනවා. මෙයා තමයි මං

කසාද බැඳපු මහත්තයා! නම මහින්ද රණවක. වැඩ කරන්නෙ මහජන බැංකුවෙ. මගෙ මස්සිනා පොඩ්ඩ"

තම මුහුණ තරුණයාට පෙනෙතැ යි සිතා තෙරණුවෝ මේසය මත වූ හිස් බෝතලය අතට ගෙන එය තවත් තැනෙක තබා, හිත දඩිකරගෙන අනෙක් පසට හැරුණෝ ය. හිතේ එකක් තබාගෙන එයට ඉඳුරා වෙනත් අදහසක් ප්‍රකාශ කරන්නට උන්වහන්සේට සිදුවී ය.

"බොහොම සන්තෝෂයි......"

අසාර්ථක රඟපෑමක් නිසා සුජාතාට තම හිතවත් භික්ෂුව ගේ හැඟීම් හඳුනාගත හැකිවි ය. ඇගේ සිනා රැල්ල පහ ව ගියේ ය.

තරුණයා බීම වීදුරුව තොලගාමින් පළමු වරට කතාකෙළේ ය, ඔහු ගොළුවකු නොවන බව පැහැදිලිවිය. "ඔබ වහන්සේ ගැන සුජාතා බඳින්න ඉස්සෙල්ලත් මාත් එක්ක කියෝනව. පෙර ආත්මෙක සම්බන්ධයක් වෙන්න ඇති, ඔබ වහන්සේට ඒ තරම්ම ලැදියි. සමහර විට මෙයා ඉස්සර ආත්මෙක මෙහෙණික් වෙලා ඉන්න ඇති......"

පැවිද්දෙකු වන තමන්ට වඩා ගිහියෙකු වන තරුණයා ආදරය සම්බන්ධයෙන් උපේක්ෂාවෙන් සිතති යි නන්දරාම තෙරණුවෝ සිතූ හ. තම බිරින්දෑගේ දඟකාර හැසිරීම් ඔහු ඉවසා සිටියේ සාන්තුවරයකු පරිද්දෙනි. සුජාතා මුග්ධ ගැහැනියකැයි ද, ඇගේ සැමියා වන මහින්ද මුග්ධ මිනිසෙකු යි ද තෙරණුවෝ සිතති.

මහින්ද සිගරැට්ටුවක් බීමට තෙරණුවන්ගෙන් අවසර ඉල්ලා සිටියේ ය.



"බොන්න මහත්තයා........"

"මං එළියට ගිහිං බීල එන්නම්. මං එනකල් සුජාතා එක්ක කතාකර කර ඉන්න හාමුදුරුවනේ"

මහින්ද එළියට යන ව්‍යාජයෙන් ගොස්, කාමරය පිට පැත්තේ සිට තමන්ට සවන්දෙමින් සිටිත් ද යි සැකයක් නන්දරාමට ඇති වුවත්, සුජාතා ඒ වැන්නක් ගැන සිතුවේවත් නැත. සිගරැට්ටුව දල්වාගත් මහින්ද කෙළින්ම ගියේ ගොටු කොළ පාත්තියට වතුර දමමින් හුන් සිංඤප්පු ළඟට යි.

"හාමුදුරුවන්ගෙ කාමරයේ ඉඳන් සිගරැට් බොන්න නරක නිසා ආවා"

"ඒක තව මොකද කිව්ව හැකි. නාක, ගෑනු කෙනෙක් හාමුදුරුවො එක්ක කාමරේ දල ආපු එක නොවැ? ඒක හොඳ වැඩක් ද මහත්තයෝ"

"ඒ මගෙ නෝනා ලොකු උන්නැහැ"

"නෝනා මහත්තයා උනත් ගෑනු කෙනෙක් නොවැ මහත්තයෝ"

"ලොකු උන්නැහැ කසාද බැඳල නැතිව ඇති.......?" සිංඤප්පු ගේ කතාව වෙනතක යොමු කරනු කැමති මහින්ද කීයේ ය.

"ගෑනු ගැන කියන්න බඳින්න ඕනැද? මේ ළඟදි අර අල්ලපු වැටේ මනුස්සයා මැරුම් කෑවේ ගෑනි නිසා. පොඩි හාමුදුරුවො ගෑනු කෙනෙක් එක්ක තනිපංගලමෙ කාමරේ ඉන්නවා දකින්න කවුරුවත් කැමතිවෙන එකක් නෑ. අනික, කාගෙ නෝනා වුණත් හාමුදුරුවන්ගෙ ඇඳ උඩ නොවෙද ඉඳගෙන ඉන්නෙ?

මං මේ කෝනිතියෙන් ඉන්නෙ. ගැනු පන්සලට ඇවිත් ඔහොම වාඩිවෙලා ඉන්නවා මං දැකල නෑ. ලොකු හාමුදුරුවො එන්න ඉස්සරින් ඒ ඇත්තිව දෙක්කාගෙන යනව නම් හොඳයි මහත්තය. චික් චිතරක්!"

*            *            *

තටු සලමින් කිරිල්ලියක මෙන් පන්සලට ආ සුජාතා හොබෝ වේලාවකට පසු තම සැමියා ද සමඟ ආපසු ගියේ තටු හකුලාගත් කිකිළියක මෙනි. තම බිරිඳ සිත් වේදනාවෙන් පසුවන බව අනුන් දැනගන්නවාට මහින්ද මහතා කැමති නො වී ය. බස් රථය එනතුරු තණ බිස්සේ නිහඬ ව පසුවන සිය බිරිඳට හේ සිහින් හඬින් කතාකොළේ ය.

"සුජාට මොකද වුණේ? කතාකරන්න. ඔයා කොච්චර සන්තෝසෙන් ද එනකොට ආවෙ?"

"ඔයාට තේරෙන්නෙ නෑ මහී. මට හරියට දුක හිතුනා. ඔයා මගෙ මහත්තයා කියල මං කියාපුවාම දක්කද සාදුගෙ මූණට වෙච්ච දේ. සාදු මට ආදරය කරල තිබුණෙ නෑ මහී......."

"නැත්තෙ මොකද, මට තේරෙන්නෙ හාමුදුරුවො ඔයාට ආදරය කරපු නිසයි මූණ ඒ වගෙ නරක්වුණේ"

"මං හාමුදුරුවන්ගෙන් බලාපොරොත්තුවුණේ එහෙම ආදරයක් නෙමෙයි. එහෙම ආදරය කරන්න මට ඔයා ඉන්නෙ, හාමුදුරුකෙනෙක් ඕනැයි........"



# 11

පින්සලේ බැල්ලට බණ මඩුවේ බණ මණ්ඩපය ඇතුළේ පැටවුන් හතර දෙනෙකු ලැබී ඇති බව සිංඤප්පු නායක ස්ථවිරයන්ට පැළකර සිටියේ ය. "කරුමෙ කියන්නෙ හාමුදුරුවනේ. එක බලූ පැටියයි. බැල්ලියොම තුන් දෙනයි"

නායක ස්ථවිරයින්ගේ සමාධිය කෙළවරවීමට සිංඤප්පු ගෙනා පුවත හොඳට ම ප්‍රමාණවත්වි ය. "ඔය බැල්ලී නිසා මත්තට ලොකු කරදරයක් වෙයි කියල සිංඤප්පුට මං මතක්කර දීල ඇති කීප වතාවක්......."

"මං මක්කොරන්නද හාමුදුරුවනේ........ මය බැල්ලී පැටිය කාලෙ මං කී සැරයක් නම් ඈතට ගිහිං දැම්ම ද? කොච්චර ඈතට ගිහිං දැම්මත් ඒකි යස අපුරුවට ආපසු ආවා. "ඕන්න මහේ ඔය සතාට ඉන්න දෙන්න සිංඤප්පු උන්නැහැ......." කියල රාහුල හාමුදුරුවො නොකියන්න, මං හිතාගෙන උන්නෙ ඈත යන වාහනේක උඩ පටෝල අරින්න"

"අනුකම්පාව භූමිකම්පාව වෙනවා කියන කතාව උඹ අහල නැද්ද සිංඤප්පු? මේ බලු පැටව් මරාදන්න කියලවත්, ඈතට ගිහිං දල එන්න කියලවත් මං කියන්නෙ නෑ. මේ පැටව් රොත්ත පන්සලේ උන්නොත් වෙන දේ මං කියන්නම්........ පස්දුන් කෝරළේ පන්සලක් තියෙනවා. ඉන්නෙ එක උන්නාන්සෙයි. ඒ උන්නාන්සෙ ඉබාගාතෙ ආපු බැල්ලි පැටියෙකුට අනුකම්පාකරල කන්න බොන්න දීල හැදෙන්න ඉඩදුන්නා. අද ඒ පන්සලේ බල්ලොයි බැල්ලියොයි විසි ගණනක් ඉන්නවා. සැර බල්ලන්ට වෙනම කූඩු, ලෙඩ බල්ලන්ට වෙනම කූඩු, මනුස්සයෙකුට පන්සලට යන්න බෑ. බුරා හැලෙනවා. බල්ලන්ට කන්න දෙන්න ඒ උන්නාන්සේ බත් උයනවා. ලෙඩ වුණාම බේත් ගිහිං දෙනවා. බල්ලන්ගෙ වැඩ ඇරෙන්න වෙන වැඩක් කරන්න උන්නාන්සේට ඉඩක් නෑ. උන් හාමත් වෙනව කියල හාමුදුරුවො ඈතට එඩින්නෙත් නෑ. 'බලු පන්සලය' කියල සමහරු උපහාසෙට කියනවා. නව පහුවෙනකොට "බලු හාමුදුරුවො" ය කියල කියන්නත් බැරි නෑ. ආවාස ගේ ගරා වැටෙන්න ගිහිං. ඒ උන්නාන්සේට වෙලා තියෙන දේ ගැන දුකයි. මේ පන්සලටත් ඒ තත්වෙ උදකරන්න ඉඩ කියන්න එපා. තේරුණා ද සිංඤප්පු?"

බලු පැටවුන් මරාදැමීමට සිංඤප්පු කැමති නැත. ඒත් වද කරදරයෙන් නිදහස් විය යුතු ය. රාත්‍රිය එළැඹෙන තෙක් ඉවසා සිට ඔවුන් හතර දෙනා ඈතට ගෙන ගොස් දැමීමට සිංඤප්පු අදහස් කෙළේ ය. ඇස් අරින ලද පැටවුන් නොවන නිසා ඔවුන්ට ආපසු එන්නට බැරි යයි හේ සිතයි.

මහ බැල්ලිය පැටව් කාලයේ පන්සලේ රැඳුණේ මංගොනෝනා උපාසිකාව ගේ අනවශ්‍ය අනුකම්පාව නිසා යයි සිංඤප්පු සිතයි. සැතපුම් බාගයක් තරම් දුරින් පිහිටි ඇගේ නිවසට



පැටවුන් හතර දෙනා ගෙන ගොස් දැමිය යුතු යයි සිංඤප්පු තීරණය කෙළේ ඒ නිසා ය. මංගොනෝනාත් බැල්ලි පැටවාත් පිළිබඳ සිද්ධිය සිංඤප්පුට මතක් විය.

කුඩා බලු පැටවකු පන්සලේ ඉදිරි දොරට පිටපැත්තේ පාපිස්ස උඩ ගුලිගැසී නිදසිටිනු මාස හත අටකට පෙර පාන්දරක සිංඤප්පුට දක්නට ලැබිණ. බෝල ගෙඩියක වන් ලස්සණ බලු පැටවා ළඟට ගිය සිංඤප්පු පළමු ව බැලුයේ ඌ බැල්ලක් ද බල්ලෙක් ද කියා ය. බැල්ලකි. කවුරුන් විසින් හෝ බැල්ලි පැටියා හොරෙන් ම පන්සලට ගෙනවුත් දමා ඇතැ යි සිතාගත් සිංඤප්පු, අනුකම්පා කළහොත් අනාගතයේ පන්සල් වත්ත බලු විමානයක් වන බව සිතා ඌ ඔසවාගෙන ගොස් මහ පාර අයිනෙන් තබා ආපසු ආවේ ය. තමා බලු පැටවා පාර මැද්දේ නොතබා පාර අයිනේ තබා ආවේ වාහනවලට යටවන නිසා බව බණ දහම් දන්නා සිංඤප්පු තමාට ම කියාගත්තේ ය. ඔහු ඒ වේලාවේ මෙ සේ ද සිතා තිබිණි. 'කාගෙවත් දේවල් පන්සලට මොවෝ...... පාර අයිනෙන් තිබ්බාම මහ බැල්ලි හරි, බැල්ලි පැටියගෙ අයිතිකාරය හරි ඇවිත් අරංයන්නෙ නැතැයි.........'

එද බැල්ලි පැටියා ගැන දිගින් දිගට සිතන්ට සිංඤප්පු අකැමැති වුවත්, ඔහුට වරින් වර ඌ මතක් විය. ඌ පාර අයිනේ හිඳ වරින්වර කෑගසන හඬ ද පන්සලට ඇසිනි. වාහන කීපයක් ම නවත්ව නවත්වා ගියේ ය.

කාර් බස්වලට යටවීමට තරම් පවක් කර නොතිබුණු බැල්ලි පැටවා, පන්සලට දනෙ ගෙනා මංගොනෝනා පසුපස ඉව අල්ල අල්ලා වැටි වැටී ආවා ය. "අනේ පව්. හොන්ද හුලතල් පැත්තා. වලෙන් වලෙන්. දනෙ පොද්දක් දෙන්ද බැලුවයි........"

දනෙ පෙට්ටිය බිමට බාගන්නට මංගොනෝනා උපාසිකාවට උදවු කළ සිංඤප්පු, බලු පැටවා මිදුලේ කැඟසනු අසා උපාසිකාවට රැව්වේ ය. "මොටද බලු පැටියා පන්සලට එක්කොරාගෙන ආවෙ?"

සතර පෝයට සිල් ගන්නා මංගොනෝනා ළතෙත් හද ඇත්තියකි. අවුවෙන් පුටුවට වැටී, පුටුවේ සිටි ලේ පාටැති කුඩා මී පැටවුන් හතර දෙනා අල්ලට ගෙන "කාගෙ දව්වත් දව්වා........." යයි කියමින් තමා ගේ පැදුරු වාන අස්සේ උන් තබා සත්ව කරුණාව දක්වීමට තරම් ඕ මෛත්‍රිය සිත් ඇත්තියක වූවා ය. මී පැටවුන් පැදුරු වාන ඇතුලේ ඇති දඩි වී පසු කාලයේ පැදුරු වාන කා දමූ සැටි සිංඤප්පු අසා තිබේ.

ගොත කතා ඇති මංගොනෝනා සිංඤප්පුට පිළිතුරු වශයෙන් මෙ සේ කීවා ය. "ඒ දව්වා මගෙයැයි? මං මක්කොරන්නෙයි.......?"

"ආපසු යනකොට එක්කොරාගෙන යන එකයි ඇත්තෙ"

"නාකෙයි පන්දලේ උන්නාම? තින දේ කාල ඉන්දැ දිව්ව ලෝකෙ යා නොවැ?"

"පැටව් ගහන්න ගත්තාම මේකෙ වැඩුමක් වෙන්නෙ නෑ අපිට"

"බොලූ බොලූ, පංදලේ හත්තුන්ට දව්වො කෝමෙයි හම්බෙන්නෙ? පංදලේ ගාකොළෙන් හිල් නොවැ තින්නෙ"

මෝඩ උපාසිකාව සමඟ තව දුරටත් කතාවට නොගිය සිංඤප්පු බලු පැටියා පසු ව ඈතට ගෙනගොස් දමමි යි හිතිං හිතාගෙන එද නිහඬ වී ය. මංගොනෝනා උපාසිකාව ආපසු



යන ගමනේ බත් හැලියේ ඉතිරි ව තිබූ බත් දංකුඩ, තරෝල ඇතිළියට දමා පිසද හොඳට අනා පැටවා ළඟ තබා වතුර පොල් කටුවකුත් ළංකොට තිස අතගා ගියා ය.

මාස කිහිපයකට පසු දන් පෙට්ටිය ගෙනා මංගොනෝනාට බැල්ල වලිගය වනනු සිංඤප්පුට දක්නට ලැබිණි.

"අල බලූ පැත්ති ලොකු මාත් උනු ඉස්මත. දුකක් ඇතෙයි පංදලෙ......"

"උපාසක අම්මා උගෙ බඩ දක්කෙ නැද්ද? බැලුව නම් බඩ දිනා"

"කාල බීල බද පුලෝගෙන......."

"කාල බීල තෝන්නම්..... හෙට අනිද්ද කාපුවා වමාරයි. එතංකොට අපිට මේකෙ විඳුමක් වෙන්නෙ නෑ"

"බොලෙයි හැබෑත. බද ගැබ්බලවෙලා නොවැයි. පන්දලේ හත්තුං කෝමෙයි කෝමෙයි මේමෙයි මේමෙයි එන්නෙ? හත්තුංත පන්දලේ බණදම තේරුමක් නෑ නොවැයි කිව්වත් හැබෑත......."

රෑ බෝවී බොහෝ වේලාවක් ගිය පසු සිංඤප්පු බැල්ල මහ හැර පැටවුන් හතර දෙනා දැනට ගෙන කැලෑ පාරෙන් ගොස් මංගොනෝනා ගේ ගෙයි දෙර සාලයේ තබා වෙනත් පාරකින් පන්සලට පැමිණියේ ය. පැටවුන් නොදක බැල්ල කෑගාමින් සොයුවෙති යි ඔහු සිතුවත් ඇගේ කිසිදු ශබ්දයක් නැත.

නිදගන්න ගියත් සිංඤප්පුට නින්ද නොගියේත් බලු පැටවුන්ට තමා කළ දේ හරි නැතැයි ඔහු ගේ හෘදය සාක්ෂිය ඔහු සමග තර්ක කරන්නට වූ හෙයිනි. මංගෝනෝනා බලු පැටවුන් බලාගන්නවා ඇතැ යි හිත හදගෙන නිදගන්ට ඇස් පියාගෙන සිටිය දී බලු පැටවෙකු ගේ කෑගැමක් බණ මඩුව

දෙසින් ඔහුට ඇසුනේ ය. ඒ සමඟ ම අහස ගොරවන හඬකුත්, වැස්සක පෙර නිමිත්තක් වශයෙන් ගස්කොළන් අඹරවාගෙන සුළඟකුත් පැමිණියේ ය. සිංඤප්පු විදුලි පන්දම අතැති ව බණ මඩුව ළඟට යද්දී වැසි ඇදවැටෙන්ට විය. බලු පැටවෙක් පුරුදු තැන බිම බදගෙන කෑගාමින් සිටියේ ය. බැල්ලට සිටියේ පැටවුන් හතර දෙනෙකු පමණක් බවත්, ඒ බලු පැටවුන් හතර දෙනාම මංගොනෝනා ගේ ගෙදරට තමා ගෙන ගොස් දැමූ බවත් දන්නා සිංඤප්පු පුදුමවී ය. ඔහු වඩාත් පුදුමවූයේ ඒ හා සමඟ ම බැල්ල වැස්සෙ තෙමෙමින් ම තවත් බලු පැටවකු කටින් ගෙන අවුත් අර බලු පැටවා ළඟ තබන අයුරු දැක ය. එල්ලාගෙන ආ පැටවාත්, පළමුව තබාගිය පැටවාත් ළෙවකා සනසා සිංඤප්පු දෙස බැලූ බැල්ල ඔහුට වලිගය වනා යළි මහ වැස්සට පැන නොපෙනී ගියා ය.

බැල්ල සිංඤප්පුට වලිගය වනද්දී සිංඤප්පු ගේ ඇස් උඩගියේ ය. පැටවුන් ඈතට ගෙන ගොස්දැම්මේ තමා බව ඌ ඉවෙන් දැනගන්නට ඇතැ යි සිංඤප්පු සිතුවේ ය. 'හරි නම් ඒකිට තිබුණේ වලිගය වැනීම නොව, තමා දුටුවන ම හපාකන්න ය. බැල්ලි වුණත් තියෙන මනුස්සකම........' හේ සිතුවේ ය.

තවත් පැය බාගයක් ඇතුළත බැල්ල ඉතිරි පැටවුන් දෙදෙනා ද බණ මඩුවට රැගෙන එන බව සිංඤප්පුට පැහැදිලි ය. දරු පෙනෙහස දැක ඔහුට දුකක් ඇතිවී ය. පැටවුන් දෙදෙනා මහ වැස්සට විසිකරදමන්නට තරම් කුරිරු නූවූ හේ දැන් ඉතිං කළයුත්තේ කුමක්ද යි සිතමින් වැස්සේ තෙමෙමින් ම පන්සලට දිවගියේ ය. මොක කරන්නත් පළමු නන්දරාම හාමුදුරුවන්ගේ බිස්කට් පෙට්ටියෙන් බිස්කට් හත අටක් හොරාගෙන හෝ බැල්ලට ගෙන ගොස් දිය යුතු යයි සිංඤප්පු සිතයි.

* * *



"මතකනෙ සිංඤප්පු, බලු පැටව් තමුසෙට බාර කරලයි තියෙන්නෙ" පසු ද උදයෙ නායක ස්ථවිරයෝ සිංඤප්පුට කී හ.

"එහෙමයි....... ඊයෙ රාත්තිරියේ මං වැඩක් කළා. ඒක හරිගියෙත් නෑ........"

කළ වැඩේ කුමක් ද යි නායක ස්ථවිරයෝ නොවිමසූ හ. "උන් මරන්න එපා. පව් සිද්දවෙයි උඹට........"

"ඒක බැරි නිසා නොවැ මේ පුරප්පනෙ. ඊයෙ රාත්තිරියෙ මං උන් හතර දෙනාම හැතැම්ම බාගයක් දුරට ගෙනිහිං දැම්මා. කොහෙද....... පැය දෙකක් ඇතුළෙ බැල්ලි එක එකා හතර පාරකට උස්සං ආවා"

"මොනවා?"

"එහෙමයි. මට දුක හිතුනා"

"මතකනෙ ඊයෙ මං කිව්වා, අර පස්දුන් කෝරලේ හාමුදුරුවන්ට වෙලා තියෙන දේ. හොඳ දෙයක් කරන්න වෙයි අද හෙටම. අනුකම්පාව භූමිකම්පාව වෙනවා. අන්න ඒ කාරණය........ හොඳට මතක තියාගන්නනම්"

සිංඤප්පු දවල් දවස ම කල්පනා කෙළේ බලු පැටවුන්ගෙන් මිදෙන්නේ කෙසේ ද කියා ය. ලොකු හාමුදුරුවෝ කියන්නාක් මෙන් වැඩි අනුකම්පාව හොඳ නැත. ලොකු පවක් සිදුවන්නේ බලු පැටවුන් සියතින් මරා දැම්මොත් ය. ඔවුන් අතන මෙතන ගෙන ගොස් දමා අනුන්ගේ ඉඳුල් කමින් ගුටි කමින් කාලය ගතකොට දුක් විඳ මැරියනවාට වඩා, තිරිසන් ආත්මයේ උපත ලබා සිටින ඔවුන් ඇස් අරින්නත් කලින් මැරියන්ට වැඩක්

සැලැස්වූවහොත් එය ඔවුනට කරන එක්තරා සෙතකි. සිංඤප්පු බණ දනී. කර්මය කියන්නේ චේතනාව බව හේ දනසිටියේ ය. 'මගේ චේතනාව බලු පැටවුන්ට යහපතක් කිරීමය'යි හේ සිතාගත්තේ ය.

සිංඤප්පු ගේ අවසන් නිගමනය වූයේ බලු පැටවුන් හතර දෙනා කන්දේ විහාර ගෙට පහළින් ඇති පාළු ළිඳට අතහැරීම ය. ළිඳට වැටී මිය පරලොව යන බලු පැටවුන්ට ඊළහට හොඳ ආත්මයක ඉපදෙන්නට පිංදෙන්නට පුළුවන. පිං ලබාදෙන ස්ථානය පිහිටියේ පාළු ළිඳට උඩිං ය.

බැල්ල, එල්ලා වැටෙන තන් බුරුල බඳ දෙ පසේ "තග් තොග්" යන හඬින් වද්දවමින් නා වැවිය දෙසට දිවගිය අතරවාරයේ සිංඤප්පු බණ මඩුව දෙසට දිවගොස් එකට ගුලි වී නිදමින් සිටි බලු පැටවුන් හතර දෙනා රැගෙන කන්ද නැග නොපෙනී ගියේ ය.

දැතේ සිටින පැටවුන් දෙස නොබලන්නට ප්‍රවේශම් වූ සිංඤප්පු ළිඳ ළඟ පහත් ව, ළිඳේ ඉවුරුවල හැපී පැටවුන්ට රිදෙනැ යි උවමනාවෙන් හිතාගෙන එකිනෙකා හතර වරකට දකුණතින් ම ළිඳට මුදාහැරියේ ය. "ඩොග්" "ඩොග්" "ඩොග්" "ඩොග්" යනුවෙන් සිව් වරක් එක පිට එක වශයෙන් ළිං කට්ටින් දෝංකාර හඬ නැගිනි. ළිං කට්ටින් ශබ්ද පිටවන්නට වූයේ සිංඤප්පු දෑත පිසද ගැනීමෙන් පසු ය. ළිඳ ඒ තරමට ගැඹුර ය. ශබ්දය එ තැනින් අවසාන වෙතැ යි සිංඤප්පු සිතුවත්, ඔහු නැගිසිටින්නට පෙර ළිං පතුලේ සිට බලු පැටවුන් හතර දෙනා එක රොත්තේ හඬා වැටෙනු ඇසිණි.

සිංඤප්පු ගේ මුහුණ ආවේශයට පත්වූවෙකු ගේ මුහුණට



සමානවි ය. බෝ මලුව ළඟට දිවයද්දී ඔහු දෙවරක් වැටිණි. බලු පැටවුන් ගේ ශබ්දය කඳු මුදුණට වඩාත් පැහැදිලි ව ඇසෙයි. බලු පැටවුන්ට පිං දෙමි යි ඔහු කලින් සිතාසිටියත් ශබ්දය ඇසෙන සෙව්වකවත් රැඳිසිටීමට හේ කැමති නොවීය.

විහාර භූමියේ සිට පන්සල දෙසට සිංඤප්පු දිව එනු මිය යළි නුදුටු බව සලකාගත් නායක ස්ථවිරයෝ දන ශාලාව පිටුපස වූ ඔහු ගේ කාමරයට ගොස් කර පොවා බැලූ හ. සිංඤප්පු ඉහින් කණින් පොරවාගෙන බුරු ඇඳේ වෙවුලමින් සිටියේ ය. මේ අතර බලු පැටවුන් ගේ ඉව පාරේ ගිය බැල්ල කඳු මුදුනේ සිට කෑගාන හඬ ඇසිනි.

"මොකද සිංඤප්පු බයවෙලා වගෙ?"

"බලු පැටව් තාම කෑගානවා නේද හාමුදුරුවනේ? පව්, පව්, හෙණ ගහන අපරාධයක් මං කෙළේ. කුරා කුහුඹුවෙකුවත් නොමැරූ මං මේ අපරාදෙ කෙළේ හාමුදුරුවො මට කියාපු හින්ද"

"උඹ බලු පැටවුන්ට මොකද කෙළේ?"

"උන්ව මං පාළු ළිඳට අතෑරියා"

"බලු පැටවුන් පාළු ළිඳට අතාරින්න කියල මම උඹට කිව්වද මිනිහො? පව්කාරයා"

"ඇයි උන්ව මොනවාහරි කරන්න කියල උදේ හවස හාමුදුරුවොම නේද මට කිව්වෙ? උන් ළිඳ ඇතුලෙ ඉඳන් කෑගහනවා මට ඇහෙනවා. මාව පිච්චෙනවා! ළිඳට පැනලහරි මං උන්ව බේරාගන්න ඕනැ. අපොයි මං උන්ට කරපු අපරාදයක්! උන්ව කොහොමහරි ගොඩගන්නකල් මට හොඳක් වෙන්නෙ නෑ"

පොරෝනය පැත්තකට ද පිස්සුවෙන් මෙන් නැගිසිටි සිංඤප්පු එළියට පැන්නා මිස කොහේ දිව්වා දැයි ලොකු හාමුදුරුවන්ට දකගත නොහැකිවි ය.

නාගෙන එමින් සිටි තමන් පසුකරමින් සිංඤප්පු මහපාර දිගේ දිවයනු දුටු බව රාහුල තෙරණුවෝ කී හ.

*　　　　*　　　　*

බැල්ල ළිඳ තුළට කර පොවා බලමින් ද කෑගාමින් ද සිටියා ය. බලු පැටවුන් ළිං පතුලේ සිට නගන හඬ රාහුල තෙරණුවන්ට විහාර මලුව ඇතුළත දී ම ඇසිණි. සිංඤප්පු සිත්පිත් නැති මනුෂ්‍යයකු නොවේ. ඉතා යහපත් මනුෂ්‍යයෙකි. එවැන්නෙක්, දෙ දිනක් පමණක් වයසැති බලු පැටවුන් හතර දෙනෙකු පාලු ළිඳට අතහැරියේ කෙසේ දැයි තෙරණුවන්ට සිතාගත නොහැකි යි.

විහාරාධිපතීන් වහන්සේ කන්ද නැග ළිඳ ළඟට පැමිණීමට ප්‍රථම සිංඤප්පු ගස් අදින විශාල කඹයක් කර තබාගෙන හතිදමගෙන ආවේ ය. ඔහු පසුපසින් කොල්ලන් හතර පස් දෙනෙක් ද දිව ආහ. කඹය බිම දමා හති අරින්නටවත් ප්‍රමාද නුවූ සිංඤප්පු කඹ කෙළවරක් ළිඳ ළඟ රබර් ගසක ගැටගසා කෙළවර සිට අඩි දෙකෙන් දෙකට ගැට දමන්නට විය.

"කවුද ළිඳට බහින්නෙ සිංඤප්පු?" සෝමාරාම ස්ථවිරයෝ ඇසූ හ.

"මම"



"උඹට පුලුවනැ යි මේ ඌරා ළිඳට බහින්න?"

සිංඤප්පු පන්සලේ හැදී වැඩුනු පන්සලට ම නාකි වූ මිනිසෙකි. ඔහු ගේ වයස අනුවත්, ඔහුගේ අත්දැකීම් අනුවත් මේ බරපතල වැඩේ ඔහුට කළ නොහැකි යයි නායක ස්ථවිරයෝ සිතති.

"බැරිවුණත් මං ළිඳට බහිනවාමයි. මං මේ වැඩේ නොකළොත් කවදවත් මට හිත හොඳින් ඉන්න ලැබෙන්නේ නෑ. මම යි බලු පැටව් ළිඳට දැම්මෙ. උන් ගොඩගන්නවා නම් ගොඩගන්න ඕනැත් මමයි"

සිංඤප්පු මේ අපරාධය කෙළේ තමන් ගේ පෙළැඹීම නිසා බව දත්තා නායක ස්ථවිරයෝ ඔහු සමග දිගින් දිගට වාදකරන්ට කැමති නුවූ හ. මේ ගමන සිංඤප්පු ගේ අවසාන ගමන වේ දෝ යි උන්වහන්සේට බියක් ඇති ව තිබේ.

දඩිය දැතින් ම පිසදමින් තමන් සමඟ පැමිණි කොල්ලන්ගේ ද සහායය ඇති ව පැය බාගයක් තරම් වේලාවකදී කඹය දිගේ ගැට දමාගත් හේ කඹ කෙළවර ළිඳට බස්සා ළිං පත්ලට එය පහත් වූ බව සලකාගෙන තදින් හුස්මක් ගත්තේ ය, වට ව සිටින පිරිස දෙස බැලුවේ ය.

සිංඤප්පු ප්‍රකෘති තත්ත්වයෙන් පසු නොවන බව කාටත් පැහැදිලි ය. ළිඳට බැස්සත් මහල්ලාට ගොඩ ඒමට නොහැකි වෙතැ යි ඔවුනු සිතති. ඇතැම් පාළු ළිංවල ළිං පත්ලේ විෂ වායු තිබේ. ඒ වාතය ආශ්වාසය කළ වහාම සිහි නැතිවේ. එහෙත් එවැනි විෂ වායුවක් මේ ළිං පතුලේ ඇතැ යි සිතිය නොහැක්කේ බලු පැටවුන් තවම ජීවත්ව සිටින බව පෙනෙන හෙයිනැ යි තරුණයෙක් රාහුල තෙරණුවන්ට කීයේ ය.

සිංඤප්පු හොඳට වලාපොට ගසා, කඹය වැරයේ අල්ලා ළිඳට නැඹුරු වී කඹ ගැටයකට පා තැබුවේ ය. ඔහු ගේ දෑත් වෙව්ලනවා සියලු දෙනාට ම පැහැදිලි ව පෙනිණි. හේ තවත් අඩියක් දෙකක් පහතට බැස්සේ ය. බුරුල් වූ ගල් කැටයක් ළිං පත්ලට වැටී දෝංකාර හඬක් මතුවී ය. කිරි වවුලෝ තුන් හතර දෙනෙක් ළිං කටින් මතු ව වල්මත්වූවන් මෙන් රබර් කොළවල හැපෙමින් නොපෙනී ගියෝ ය.

"සම්බුදු සරණයි. දෙවි පිහිටයි. සිංඤප්පු ප්‍රවේශමෙන් බහින්න" සෝමාරාම ස්ථවිරයෝ අහස දෙස බලා කීහ.

කඹයේ තෙපුල් හඬට, බලු පැටවුන් ගේ ළතෝනියට හා කෙඳිරියට තවත් හඬක් එකතුවීය. ඒ සිංඤප්පු ගේ හති හඬ යි. ඒ ශබ්දය අසා කවුරුත් නැතිගත් හ. මයින හමකින් පිටවන ශබ්දයක් වගේ ය. කිසිවෙක් වචනයක් කතා නොකළ හ. එක් විට ම ළිං කටින් විශාල ශබ්දයක් මතුවේ ද යි සිතමින් සියල්ලෝ නැතිගෙන පසුවෙති.

විනාඩි දහයක් හෝ දෙළහක් ඇතුළත මහල්ලා ළිං පත්ලට බැස්සේ ය. කඹය බුරුල් ව තිබිණි. බලු පැටවි අමුතු විදියකට කෑගාති.

"මේ මිනිහා බැස්ස මියක් බලු පැටවුන් දගන්න මොකවත් අරංගියේ නැ හේද?" නායක ස්ථවිරයෝ කී හ. උන්වහන්සේ ගේ බියෙන් බාගයක් බැස තිබිණි.

"සරමේ වලාපොටට දගනීවි"

කඹ පොට යළිත් සෙලැවිණි. අනතුරුව එයට කිරි කිරි ගා බර වැටිණි. සිංඤප්පු බලු පැටවුන් රැගෙන උඩ එමින් සිටියේ ය. උඩ එන ගමන බහින ගමනට වඩා භයානක යයි කියනු ලැබේ.



බලු පැටවුන් ගේ හඬක් නැත. සිංඤප්පු ගේ හති හඬ හෝස් හෝස් ගාමින් ළිං කටින් මතුවේ. ලොකු කුඩා ගල් කැට පස් කැට නිරතුරුව ළිං පත්ලට වැටේ. සිංඤප්පු ඉතා අපහසුවෙන් උඩට නැඟ එන බව කාටත් පැහැදිලි වී ය.

විනාඩි විස්සක් ගතවී ය. බිම දිගා වී මහත් අපහසුතාවෙන් ළිඳට කරපොවා බැලූ තරුණයෙකුට දක්නට ලැබුනේ ළිඳේ අඩක් නැගසිටින සිංඤප්පු කඹය බදගෙන කැරකෙමින් සිටින බව ය. ළිං ගැට්ටේ බලාසිටින්නවුන් විසින් යමක් කළ යුතුව තිබේ.

කඹය ඉදිරියට සිටින සේ ළිං ගැට්ටේ හරහට ලීයක් දමා සියලු දෙනා ම එක් ව හෙමින් හෙමින් කඹය උඩට ඇද්ද යුතු යයි රාහුල තෙරණුවෝ යෝජනා කළ හ. පරණ විහාර ගෙයි ගොඩගසා තුබූ ඉරාපු ලී එකක් නොව කිහිපයක් ම ගෙනෙනු ලැබිණි. ළිඳ හරහට ලී දමා ඒ ලී උඩ හිඳ කඹේ එල්ලී සිටින සිංඤප්පු එසවීම ඇරඹිණි. ඒ කාර්යයට සෝමාරාම ස්ථවිරයෝත් අත ගසා සිටිති.

සිංඤප්පු කරකැවෙමින් උඩ එයි. තමා ගේ අවසන් ශක්තිය සිංඤප්පු වැය කරමින් පසුවන්නේ කඹයේ රැඳී සිටීම සඳහා ය. සිංඤප්පු හිස පැත්තකට හරවා පහත්වත් ම දෙ පා තදින් වෙව්ලාගිය හෙයින් යළිත් සිටගත්තේ ය. ඔහු ගේ මුවින් කෙඳිරියක් නැගෙන්ට වූයේ එවර ය. බලු පැටවි ද කෙඳිරිගාති. ඔවුන් පසුවන්නේ සිංඤප්පු ගේ ඔඩොක්කුවේ ය.

"ප්‍රවේශමෙන්..........." නායක ස්ථවිරයෝ යළි කීහ. මෙ වර උන්වහන්සේ එ සේ කීයේ සිංඤප්පු ගේ බාගිය හිස දක බියපත් වීමෙනි.

තවත් අඩියක් එසවෙත් ම සිංඤප්පු ගේ දෑත තරුණයින් දෙදෙනෙකු විසින් ද, හිස කෙස රාහුල තෙරණුවන් විසින් ද අල්ලා ගන්නා ලදි. දහඩියෙන් තෙත් ව ගිය දුබල දෑත ලිස්සා නොයාම පිණිසත්, ළිං පත්ළට ඔහුත් සමඟ ලිස්සා නොවැටෙනු පිණිසත් ඉතා ඉවසිල්ලෙන් කටයුතු කළ යුතු විය. රාහුල තෙරණුවන් සිංඤප්පු ගේ කෙසින් වැරයේ ඇල්ලාගනු ලැබුවත්, ඔහු වේදනාත්මක හඬක් නොනැගුවේ ඒ වන විට සිහිසුන් ව සිටි බැවිනි. සිංඤප්පු ගේ දෙපා ද කඹ පොටින් මිදී තිබුණේ ය. දෑත අල්ලාගෙන සිටි තරුණයින් දෙදෙනාට තවත් දෙදෙනෙකු ගේ සහාය ලැබිණි.

සිංඤප්පු මළ කඳක් මෙන් ගොඩට ඇද බිම දිගා කරනු ලැබිණි. ඔහුගේ මඩොක්කුවේ සිටි බලු පැටවුන් හතර දෙනා එළියට ගෙන බිම තබන්නටත් පෙර, බැල්ල ඉවකර බලා හොම්බ එබුවා ය. පැටවුන් හතර දෙනා බිම තබත් ම ඕ කෙඳිරිගා එකිනෙකා ලොවා, තඟුට එනා එකෙකු කටින් ගෙන නික්මගියා ය.

වතුර මුහුණට ඉසින්නට පෙර පිරිසිදු වාතය ආශ්වාස කරන්ට ලැබීම නිසා සිංඤප්පුට සිහිය ලැබිණි. හේ විහාර ගෙයි පැන් කෙණ්ඩිය කටේ තබා එහි තිබූ සියලුම වතුර බී, දෑත් බිම ගසාගෙන රාහුල තෙරණුවන් ගේ මුහුණ බැලුවේ ය.

"බලු පැටව් කෝ හාමුදුරුවනේ........?"

"මේ ඉන්නෙ තුන් දෙනෙක්. බැල්ල දන් පැටියෙක් අරගෙන ගියා"

"කොච්චර හොඳ ද? මං බලු පැටවුන් හතර දෙනාම බේරාගත්තා මට දන් පව් නෑ!"



"ඇඟට අමාරු නේද සිංඤප්පු උන්නැහැ?"

"ඒ හැටි අමාරුවක් නෑ. බහිනකොට මොකුත් නෑ. නගිනකොටයි මට මොකක් ද වුණේ. කඹෙත් කැරකුනා. එනකොට ඔළුවත් කැරකුනා. කවදවත් මට ගොඩ එන්න ලැබෙන්නෙ නෑ කියලයි මං හිතුවෙ, එක්කො බලු පැටවුන් හතර දෙනා එක්ක මං ගොඩට එන්න ඕනෑ. නැත්නම් උන් හතර දෙනා එක්ක ආයින් ළිං පත්ලට යන්න ඕනෑ කියන එකයි අන්තිමට හිතුනෙ"

බිමට අත ගසා නැගිටිමින් සිංඤප්පු රාහුල තෙරණුවන්ට මෙසේ කීවේ ය. "ළිඳ ඇතුළට හෙමින් හෙමින් බහිනකොට මට අංගුලිමාල මතක්වුණා. අංගුලිමාලත් මං වගෙ අහිංසකයෙක් නේද පොඩි හාමුදුරුවනේ?"

*                    *                    *

ගුරු පත්වීම ලැබ සිටි හේමාලි තමා ගේ ප්‍රථම වැටුපෙන් තෑගි බෝග රැගෙන රාහුල තෙරණුවන් බැහැ දකිනු සඳහා පූජාරාම විහාරස්ථානයට පැමිණියා ය. ඒ වනවිටත් රාහුල තෙරණුවෝ පන්සලට පැමිණ නොසිටිය හ.

තරුණිය සිය පියා ගේ අතින් අල්ලාගෙන ඔහු සමඟ පන්සලට එනු පළමුවරට දුටුයේ නන්දරාම ය. කාන්තා පක්ෂය ගැන සිතේ හටගෙන තිබුණු තද පිළිකුල නිසා ඉදිරියට ඒමට උන්වහන්සේ ගේ කැමැත්තක් නොවී ය.

රාහුල තෙරණුවන් බස් රථයෙන් බැස්සේ තරුණියන්

මහල්ලාත් උගුරැස්ප ගස මුල රැඳීසිටිය දී ය.

තෙරණුවෝ කොරගසමින් පැමිණෙති. මග බලමින් සිටි සිංඤප්පු පෙර මගට දිවගියේ ය. නන්දරාම තෙරණුවෝ ද මිදුලට බැස්ස හ.

"කකුලට මොකද වුණේ හාමුදුරුවනේ........?" සිංඤප්පු අසයි.

"කලබලවෙන්න කාරි නෑ"

වෙලුම්පටිවලින් බැඳ තිබුණු කකුල දෙසත්, යළි මුහුණ දෙසත් බැලූ සිංඤප්පු කතාකෙළේ ය. "සිවුරත් තුන් හතර පොළක් පිච්චිලා. කකුලත් බැඳගෙන. මක්වුණා ද දෙයියනේ...... කුඩේත් නෑ අනේ"

මිදුලේ සිටගෙන පඳුවෙන මහල්ලා හා ඔහු ගේ දියනිය තෙරණුවන්ගේ නෙත ගැටිණි. 'ඒ ඇත්තොත් ඇවිල්ලා' යයි තමන්ට කියාගත් තෙරණුවෝ සිංඤප්පුගෙන් මෙසේ ඇසූහ. "අර ඇත්තො ඇවිත් හුඟ වෙලාවක් ද සිංඤප්පු උන්නැහැ?"

"මං දක්කෙත් දනුයි. කවුද කියන්න මං දන්නෙ නෑ. සිවුර පිච්චුණේ, කකුල බැඳගෙන ඉන්නෙ, මක්වෙලාද කියල කියන්නකො හාමුදුරුවනේ...... කොළඹ කලබල කියල අපිටත් ආරංචිවුණා, හාමුදුරුවො එනකල් අපි බයෙන් උන්නෙ"

"කියන්න බැරිවැයි...... පන්සලටනෙ මං යන්නෙ සිංඤප්පු උන්නැහැ"

නන්දරාම විමතියෙන් බලාසිටියි.

නන්දරාම තෙරණුවන් ගේ බිය පහකරනු සඳහා උන්වහන්සේට



සිනාවක් පාමින්, ඒ සිනාවෙන් ම තරුණිය හා ඇගේ පියාණන් දෙස බැලූ රාහුල තෙරණුවෝ තරුණිය ඇමතූ හ. "ඊයෙ දෙකට පන්සලෙන් පිටත්වෙච්ච මං දනුයි එන්නෙ. පන්සලට ගොහිං වාඩිවෙලා ඉන්න. මට තරමක් අපහසුයි"

තෙරණුවන් කතාකරන්නේත් හැසිරෙන්නේත් වේදනාව යටපත්කරගෙන යයි තරුණිය සිතුවා ය. ඒ වැන්නක් නන්දරාමට ද හැඟුන නිසා හේ සහෝදරයා වත්තම් කරගන්නට උත්සාහයක් දැරුවේ ය.

"එපා. මට ඒ හැටි අපහසුවක් නෑ"

තමන්ට වතුර අවශ්‍ය බව ඇඳ මත වැතිරගත් රාහුල තෙරණුවෝ සිංඤප්පුට කීහ. නන්දරාම නළලට අත තබා බැලුවේ ය. නායක ස්ථවිරයෝ ද පැමිණිය හ. උන් වහන්සේ ද නන්දරාම අනුගමනය කරනු පෙනිණි.

"ඇල්වතුර නෙමෙයි සිංඤප්පු, ඉක්මනට තැඹිලි ගෙඩියක් කපාගෙන වරෙන්" නළලෙන් අත ඉවතගත් නායක ස්ථවිරයෝ වෙලුම්පටවලින් වෙළන ලද දකුණු කකුලට අත තබා බැලූහ. තුවාලය ඇත්තේ යටිපල්ලේ බව වෙලුම් පටි මතුකරගෙන පිටතට පෙනෙන ලේ පැල්ලමෙන් පෙනේ. සිවුරේ කිහිප තැනක පිළිස්සී ඇති හෙයින්, ඇඟ ද පිච්චී ඇතැ යි ස්ථවිරයෝ සිතති. ප්‍රශ්න කිරීමෙන් තොර ව ඇඟේ විවෘත ස්ථාන පරීක්ෂා කිරීමේ දී දකුණු අතේ මැණික් කටුව අසල පිළිස්සීමකට මතු වූ දිය බුබුලක් දකගත හැකිවි ය. නන්දරාම තෙරණුවෝ තුවාළ කකුල කොට්ටයක් උඩින් ඔසවා තැබූ හ.

සිංඤප්පු තැඹිළි ගෙඩිය ගෙනෙනු ප්‍රමාද වූ නිසා නායක ස්ථවිරයෝ පිටතට ගියෝ ය. නන්දරාම ඉතා සෙමින්

කතාකෙළේ ය. "මට කියන්න හාමුදුරුවනේ. මොකද වුණේ? ඊයේ කොහේද උන්නෙ? අද දෙළහත් පහුවුණා නම් හොයන්න යන්නයි ලොකු හාමුදුරුවොයි මායි හිතාළුන්නෙ"

"අද උදේ පයින්ම ආපසු එනවිටයි මේ සිද්ධිය වුණේ. මගේ උත්සාහයෙන් කිසිම වැඩක් වුණේ නෑ. හැම තැනම බෝතල් කඩු. ජාතිවාදේ කියන්නෙ ඒක ද? මම මිනිස්සු අතරින් රිංගාගෙන ගිහිං ඇවිළෙන මිනිහව ඇදලගන්න උත්සාහ කළා. ඒ මිනිස්සු මාව තල්ලුකරල දැම්මා. එතකොට ම කඩේ වහලෙ කඩාගෙන අවාසනාවන්ත මනුස්සයාගේ ඇඟ උඩට වැටිලා එකම ගිනි ජාලාවක් වුණා. මිනිස්සු මාව තල්ලු කරල දමනකොට මගේ කකුලෙ පෙරෙප්පුව ගැලවුනා. එතකොට ම බෝතල් කට්ටකට කකුල කැපුනා. අතන් සිවුරත් පිච්චුණේ ගින්දර අස්සෙන් අත දික්කරද්දි........."

"හාමුදුරුවො ඊයෙ හිටියෙ?"

"අම්මා ඉන්න වාට්ටුවෙමයි. මම පැය තුනක් නැත්නම් හතරක් අම්ම ළඟ පුටුවක් තියාගෙන අම්මටයි වටේ හිටපු ලෙඩ්ඩුන්ටයි බණ කිව්වා. බස් නැති නිසා පයින් එනවිට කොළඹ නගරය ඇතුළේදීමයි මෙසේ වුණේ"

ඩිස්ප්‍රින් පෙත්තකුත් සමඟ තැඹිලි වතුර පානය කිරීමෙන් පසු රාහුල තෙරණුවන් ගේ අපහසුතාව තරමක් දුරට මගහැරිණි. තමන් නුගේගොඩ දී බස් රථයකට ගොඩවූයේ තුවාලයට බේත් දමාගෙන බවත් අත පිළිස්සී ඇති බවක් ඒ අවස්ථාවේ නුදුටු බවත් රාහුල තෙරණුවෝ කීහ.

"අපේ සිංහල මිනිස්සුන්ට තේරෙන්නැති නැද්ද රාහුල දෙමෙල්ලු කරන වැඩවලට. ඉවසල ඉවසලා බැරිම තැන තමයි මිනිස්සු



මේ වැඩේ කෙළේ. ඔය මක්කෝටම වගකියන්න ඕනෑ මහ එකා! රට මේ තත්වෙට මෝරණ කල් බලාහිටියෙ මේ මිනිහා නේද? නිකම් නිස්කාරණේ රාහුලත් ඕන්නැති දේවලට අතදන්න යනවා. එක ගමනක් තුවක්කුවක් ඉස්සරහට පැනලා වෙඩි නොකා බේරුණා. මෙද ගින්දර ගොඩවල්වලට පැනල පිච්චෙන දෙමළ මිනිහෙක් බේරගන්න ගිහිං කකුල කපාගෙන. අත පුච්චාගෙන. රාහුල දන්වත් ඔච්චායින් පාඩමක් ඉගෙන ගත්තොත් හොඳයි, පිළිස්සීම නිසා මතු වූ දිය බුබුළු මත තෙල් ගාමින් නායක ස්ථවිරයෝ රාහුල තෙරණුවන්ට අනුශාසනය කළ හ.

තෙල් කුප්පිය ද රැගෙන නායක ස්ථවිරයින් නික්ම ගිය පසු රාහුල නන්දරාමගේ මුහුණ බැලුවේ ය.

"අර ඇවිත් ඉන්න ඇත්තන්ට කියන්න ලොකු හාමුදුරුවන්ගෙන් අවසරය අරගෙන මෙහාට එන්න කියල. ඒ ගෑනු ළමයගෙ ගුරු පත්වීම තවමත් හරිගිහිං නැද්ද දන්නෙ නෑ?"

හේමාලි දෑතේ තිබූ පාර්සලය මේසය මත තබා රාහුල තෙරණුවන් ඉදිරියේ දණ ගසා වැඳ නැගිටින විට ඇගේ දෑස් කඳුළින් තෙත් ව තිබිණි. නන්දරාම ඒ වේලාවේ කාමරයෙන් පිටවි ය. මහලු ගුරු මහතා ද දෑත් එක්කර ගෙන තොල් මතුරමින් සිටගත්වන ම සිටියේ ය.

"අනේ හාමුදුරුවනේ මම මොකද කරන්නෙ? ඔබ වහන්සේ වේදනාවෙන් එනවා දක්කාම මට ඉවසන්න බැරිවුණා"

"ශරීරයේ සුළු කොටසක් සිදුරුවීම, පිළිස්සීම හිත නරක්කර ගැනීමට හේතුවක් නොවෙයි. තුවාලය බේතින් සනීපකරගත හැකි යි. කෙසේ ද නැගණිය ගුරු පත්වීම?"

“ඔබ වහන්සේට පිං සිදුවන්නට මම ඉංගිරියෙ ස්කෝලෙක උගන්වනවා”

“මට ඉතාම සතුටුදායක ආරංචියක්,” රාහුල තෙරණුවෝ කී හ. උන්වහන්සේ ගේ මුහුණ ඉතා පැහැපත්වී ය.

“මීට කලින් එන්න බැරිවීම ගැන සමාවෙන්න හාමුදුරුවනේ. පළමු පඩියෙන් ඔබ වහන්සේට පුංචි තෑග්ගක් අරගෙන එන්න හිටපු නිසයි ප්‍රමාදවුණේ. ඒත් කාන්තයි මායි ඇවිත් තියෙන්නෙ ඔබ වහන්සේ වේදනාවෙන් සිටින වේලාවකයි”

රාහුල තෙරණුවෝ නැගිට තමන්ගේ මේස පුටුව ගුරු මහතාට ළංකොට ඔහු එහි ඉන්දවූ හ. පුටුව අතගා බැලූ මහල්ලා පුටුවේ උස අතින් මැන බැලුවේ ය. පුටුවේ උස දණ මට්ටමට වැඩි වූ හෙයින් ඔහු එහි හිඳගැනීමට අකැමැත්ත පළකරන බව දුටු තෙරණුවෝ මහල්ලා කෙරෙහි අනුකම්පාව උපදවා කතාකළ හ. “කමක් නැහැ, ඉඳගන්න මහත්තයා. කොතැන හිඳගත්තත් තුණුරුවන් කෙරෙහි පවතින ගෞරවයෙහි අඩුවක් ඇතිකර නොගන්නා බව මම දන්නවා”

“එහෙමයි හාමුදුරුවනේ එහෙමයි, තුණුරුවන්ට මමත් මේ දරුවාත් දක්වන ආදරය ගෞරවය නිසාමයි අපිට මෙච්චර උදව්වක් කරන්න ඔබ වහන්සේට හිත් දුන්නෙ කියලයි මම හිතන්නෙ. ඔබ වහන්සේට බුදු බවම අත්වෙන්න ඕනෑ අපිට කරපු මේ උදව්වට. දැන් හාමුදුරුවනේ මට බය නැතිව මැරෙන්න පුලුවන්. මගෙ හිතත් හොඳයි. මගෙ දූගෙ හිතත් හොඳයි. ඔබ වහන්සෙ අපිට කෙළේ මේ ලෝකෙ මනුස්සයෙක් කරන උදව්වක් නොවෙයි. උපනුපන් ජාති දක්වා මමත් මගෙ දූත් මේ උදව්ව අමතක කරන්නෙ නෑ”



“ඒක පුංචි දෙයක්” රාහුල තෙරණුවෝ අවංකව ම කී හ. “මම තෑගි බෝග බලාපොරොත්තුවුණේ නෑ. මම බලාපොරොත්තු වුණේ සතුටුදායක ආරංචියක් පමණයි. ඔය තෑගි පාර්සලය ආපසු ගෙනයන්න අකැමැති නම් ලොකු හාමුදුරුවන් වහන්සේට පිළිගන්වන්න. එතකොට ඔය ඇත්තන්ට ලොකු හාමුදුරුවොත් පැහැදේවි”

තෑගි පාර්සලයේ වූයේ වටිනා ඇඳ ඇතිරිල්ලක් හා ලොකු කෝලිකුට්ටු ඇවරියකි. ඒ ඇඳ ඇතිරිල්ල පන්සලේ පොදු වස්තුවක් වනු දකින්න තරුණිය කැමති නුවූවා ය.

“අනේ හාමුදුරුවනේ ඒ ඇඳ ඇතිරිල්ල මම ගෙනාවෙ ඔබ වහන්සේට ම යි”

“කමෙක් නෑ. මට ම දුන්නායි සිතන්න, මට පුදපු දෙයක් නම්, මට අවශ්‍ය දෙයක් නම් ලොකු හාමුදුරුවො මට දේවි. මට පමණක් අයත් දෙයක් මේ විහාරස්ථානයේ නෑ. මේ සියල්ල අප තිදෙනාට පමණක් නොවෙයි, හැම දෙනාටමත් අයිති යි කියලයි මම හිතන්නෙ. යමක් අයිතිකරගන්න බෙද වෙන්කරගන්න ගියාම ආශාව වෛරය ක්‍රෝධය පහළවෙනවා, සිත පවිත්‍රව තබාගන්න නම්, ඇලීම් බැඳීම් රැස්කර ගැනීම් අත්පත් කරගැනීම්වලින් මිදෙන්න ඕනෑ”

“එහෙමයි එහෙමයි හාමුදුරුවනේ........” රාහුල තෙරණුවන්ගේ කතාව මනාව ශ්‍රවණය කරමින් සිටි මහලු ගුරු මහතා කීයේ ය. “ඔබ වහන්සේ වගෙ කතා කරන කිසිම හාමුදුරුනමක් මම දැකලා නෑ. හුඟක් හාමුදුරුවරු බණට ඔහොම කතා කරනව නම් මම අහල තියෙනවා. නමුත් මේ වගෙ අවස්ථාවල දි ක්‍රියාකරන්නේ ඊට හාත්පසින් ම වෙනස් විදියකට. බුදුහාමුදුරුවන්ගේ ධර්මය ඔබ වහන්සේ රකින බවයි මම

තේරුම්ගත්තෙ. මහා සංඝයා වහන්සේ ගේ පැවැත්ම වෙන්න ඕනැ ඒක තමයි" මහලු ගුරු මහතා වේගයෙන් ඇසිපිය ගසමින් කියාගෙන ගියේ ය. අඳ දෙනෙතට පැහැපත් දර්ශනයක් හසු වූ කලෙක මෙන් ඔහු ගේ වත අතිශයින් ම ප්‍රසන්නවී ය.

"වාසනාවන්, වාසනාවන්" හේ යළි කීය. "මං වගෙ ඇස් අන්ධ මනුෂ්‍යයෙකුට කොච්චර නම් හිත පිරෙන වචන ටිකක් ද ඔබ වහන්සේ දේශනා කෙළේ. ඔබ වහන්සේ වගෙ ක්‍රියාකරන ඔබ වහන්සේ වගෙ හැසිරෙන හාමුදුරුනමක් මම හිතෙන් මවාගෙන හිටියා. සාධු! මට ඔබ වහන්සේ ගේ දෙපා අල්ලාගෙන වඳින්න ඕනැ. මගේ කැමැත්තට මට ඉඩ දෙන්න හාමුදුරුවනේ........"



# 12

යසපාල ගේ මිනීමැරුම් නඩුව කළුතර මහාධිකරණයේ විභාගයට ගැනිණි. පැමිණිල්ලේ ප්‍රධාන සාක්ෂිකරුවෝ රාහුල තෙරණුවන් වහන්සේ ය. මුදල් ගෙවා නීතිඥ සහාය ලබාගැනීමට විත්තියටවත් පැමිණිල්ලටවත් වුවමනාවක් නොතිබිණි. නඩුව ගැන කමලාවතී කිසිම උනන්දුවක් දැක්වූයේ නැත. චෝදනාවට වැරදිකරු වී පියදස යළි නොඑනවා නම් එය ඒ තරමට හොඳ යයි ඕ සිතයි.

රාහුල තෙරණුවන් සාක්ෂි කූඩුවට නගිනවිට පළමු වැනි විත්තිකරු වන පියදසත්, ඔහු ගේ සහචරයින් වන අනෙක් විත්තිකරුවනුත් විත්ති කූඩුවේ බිම බලාගෙන හුන්නේ කිසිදු වරදක් නොකළවුන් ලෙසිනි.

නම හා වයස විමසීමේ දී ප්‍රශ්නයක් මතු නුවූවත්, රක්ෂාව කුමක් ද යි ඇසූ ප්‍රශ්නයට රාහුල තෙරණුවන් දුන් පිළිතුර තවත් ප්‍රශ්නයකට තුඩුදෙන්නක් විය.

"උසාවිය තමාගෙන් ප්‍රශ්න කරන්නෙ තමා ගේ රැකියාව කුමක් ද කියලයි........"

"මම බෞද්ධ භික්ෂුවක්" රාහුල තෙරණුවෝ නැවත ද කීහ.

"තමා බෞද්ධ භික්ෂුවක් බව උසාවියට තේරුම් ගත හැකි යි. උසාවිය ප්‍රශ්න කරන්නෙ තමා ගේ රැකියාව කුමක් ද කියායි"

"මා යැපෙන්නෙ පන්සලේ දායකයින් දෙන දානාදියෙන්. ඒ හැර උසාවිය අදහස් කරන රැකියාවක් ගැන මා හිතුවෙ නෑ"

"තමාට රැකියාවක් නෑ?"

"රැකියාවක් තිබෙනවා. ඒ තමයි මහණකම, භික්ෂුත්වය........"

උසාවියේ සිහින් කසුකුසුවක් ඇතිවි ය. තෝල්කයා විනිශ්චයකාර තුමා දෙස බැලුවේ ය. විනිශ්චයාකාර තුමා තෝල්කයාට කිසිවක් කීවේ ය. එය අන් කිසිවෙකුටත් නැසිනි.

මුළු උසාවියේ ම අවධානය රාහුල තෙරණුවන් වෙත යොමුව තිබේ. සාක්ෂියට ඉදිරිපත් වූ මුල් අවස්ථාවේ ම පහළ වූ පටලැවිල්ල, තෙරණුවන් ගේ සාක්ෂිය තොමහ යැමට හොඳට ම ප්‍රමාණවත් යයි නීතිඥවරු සිතූ හ. එහෙත් ඉතා නැත්පත් ව, ඉවසිල්ලෙන් වචන තෝර බේරා කතාකරන රාහුල තෙරණුවන් ගැන විනිශ්චයකාර තුමා විශේෂ සැලකිල්ලක් දක්වූයේ ය.

පැමිණිල්ල වෙනුවෙන් සාක්ෂි සුද්දකරගැනීමට පළමු ව ඉදිරිපත් වූයේ නඩුව ඉදිරිපත්කළ උප පොලිස් පරීක්ෂක තැන ය. ඔහු අලුත සේවයට බැඳුණු වැඩි පළපුරුද්දක් නැති නිලධාරියෙකි. විත්තිකාරයින් වෙනුවෙන් පත්කර සිටි රජයේ



නීතිඥයා තම ශිල්ප දක්වීමට අවස්ථාව එළැඹෙන තෙක් හිස වනමින් සිටියේ ය. උප පොලිස් පරීක්ෂකවරයා ප්‍රශ්නවලට පිළිතුරු ලබාගනිමින් සිටිය දී රාහුල තෙරණුවන් ඔහු ගේ මුහුණ බලා උත්තර දෙන්නට වූ හෙයින් උගත් විනිශ්චයකාර තුමා භාෂා පරිවර්තකගේ සහායක් නොමැති ව රාහුල තෙරණුවන්ට කෙළින් ම මෙ සේ කීයේ ය. "ස්වාමීන් වහන්ස, කවුරු ඔබ වහන්සේගෙන් ප්‍රශ්න කළත් මා දෙස බලා මට උත්තර දෙන්න"

නඩුකාර තුමා තෙරණුවන්ට ගෞරව කරන බව පෙනිණි. සාක්ෂිකරු ගේ සාධු චරිතය උසාවිය හමුවේ හෙළිදරව්කොට උන්වහන්සේ සත්‍යවාදී පුද්ගලයෙකු බව ඔප්පුකිරීමට උප පොලිස් පරීක්ෂක තැනට අවබෝධයක් හෝ වුවමනාවක් හෝ නොවී ය.

විනාඩි කිහිපයක ඇවෑමෙන් විත්තියේ නීතිඥයා නැගීසිටියේ ය; උගුරේ රැල් බුරුල්කොට කළු කෝට් සාක්කු දෙකට දෑත් දමාගෙන කතාකෙළේ ය.

"හාමුදුරුවො බෞද්ධ භික්ෂුවක් බව උසාවියට ප්‍රකාශ කළා?"

"ඔව්. මම බෞද්ධ භික්ෂුවක්"

"හාමුදුරුවො විත්තිය වෙනුවෙන් ද සාක්ෂිදෙන්නෙ? පැමිණිල්ල වෙනුවෙන් ද?"

"පැමිණිල්ල වෙනුවෙන් ද විත්තිය වෙනුවෙන් ද යි මම දන්නෙ නෑ. මා මෙහි පැමිණියේ මා එදින ඒ අවස්ථාවේ ඇසූ දුටු දෑ මේ උසාවිය හමුවේ ප්‍රකාශකර සිටීමට යි"

උසාවියේ යළි කසුකුසුවකි. තෝල්ක මුදලිව උසාවිය

නිහඬකිරීමට සිදුවි ය.

"පැමිණිලි පක්ෂය විසින් තමා සාක්ෂියට ඉදිරිපත් කර ඇති බවවත් තමා දන්නෙ නැද්ද?"

"අපරාධය සිදු වූ ද රාත්‍රියේ පොලිසියෙන් පැමිණ මගෙන් කට උත්තරයක් ලබාගත්තා. ඊට පසු උසාවියෙන් සිතාසියක් ලැබුණා. මම දන්නෙ එ පමණයි"

"හොඳයි. හාමුදුරුවන්ගෙ පන්සලට අල්ලපු වත්තෙයි මේ යසපාල කියන පුද්ගලයා මැරිසිටියෙ?"

"මා එහි යන විට මැරිසිටියේ නැ. ඔහු කෙඳිරිගාමින් සිටියා. දරුවන්ගෙන් වතුර ඉල්ලුවා"

"හාමුදුරුවො උත්තර දෙන්න ඕනැ මම අසන ප්‍රශ්නවලට පමණයි. හොඳයි......... මේ මැරුම් කැ යසපාල කියන මනුෂ්‍යයා කාස රෝගියෙක් බව හාමුදුරුවො හාමුදුරුවන්ගෙ මූලික සාක්ෂියෙන් පිළිගෙන තිබෙනවා. කාස රෝගියෙකුට ලෙඩෙකුට සාර්ථක විවාහ ජීවිතයක් ගතකරන්න අමාරුයි. මේ යසපාල ගේ භාර්යාව තරුණයි. පෙනුම යි. මේ ස්ත්‍රිය රූප ලක්ෂණයෙන් අඩුවක් නැති, සිත්ගන්නා දහකාර ගැහැනියක් විදියට හාමුදුරුවන්ට පෙනුනා ද?"

රාහුල තෙරණුවන් සත්‍යය ම ප්‍රකාශ කරන හෙයින්, උන්වහන්සේට අමුතුවෙන් සිතාමතා උත්තර දීමට අවශ්‍යතාවක් නැ. "මට ඇගේ විශේෂත්වයක් පෙනුනෙ නැ, කුඩා දරු දෙදෙනෙක් ඇති, දුෂ්කරතා මැද ජීවත්වන සාමාන්‍ය කාන්තාවක් විදියටයි මම ඇය දකින්නෙ"

තමා බලාපොරොත්තු වූ පිළිතුර තෙරණුවන්ගෙන් නොලැබුණු නිසා නීතිඥ තැන කල්පනාකර බලා යළි කතාකෙළේ ය.



"හොඳයි. මේ පළමුවැනි විත්තිකරු සමඟ යසපාල ගේ තරුණ පෙනුමැති රූමත් බිරිඳ පලායාම ගැන හාමුදුරුවන්ට ඇතිවුණේ කැමැත්තක් ද අකැමැත්තක් ද?"

"රෝගී සැමියාත්, කුඩා ළමයින් දෙදෙනාත් අතහැර වෙනත් තරුණයකු සමඟ යාම වරදකැ යි මට හැඟිගියා"

"එයින් අදහස් කරන්නෙ හාමුදුරුවො කැමතිවුණේ කමලාවතී කියන මේ ගැහැනිය පන්සල් වත්ත අයිනේ ම තියෙන ගෙදර ඉන්නවා දකින්න – එහෙම ද?"

නීතිඥවරයා නැත්කරන්නේ තමාත් කමලාවතීත් අතර අනියම් සම්බන්ධයක් පැවති නිසා පියදසට මුල සිට ම විරුද්ධ ව සිටි බවක් හා ඔහුගෙන් පළිගැනීම අරමුණුකොට ඔහු සිරගත කිරීම සඳහා බොරු සාක්ෂි දීමට පැමිණ සිටින බවක් උසාවියට ඇඟවීමට යයි රාහුල තෙරණුවන්ට නොවැටහේ. උන්වහන්සේ කවදාවත් උසාවියට පැමිණ නැත. උසාවි ගැන නීති ගැන කිසිදු අවබෝධයක් ද උන්වහන්සේට නොවී ය. එහෙත් හදවතට එකඟ ව සැලවීමකින් තොර ව ඇත්ත ප්‍රකාශ කරන තෙරණුවන්ට වැරදුනේ නැත.

"යසපාලගේ භාර්යාව ගෙදරින් පිට ව ගියේ ඇගේ කැමැත්තෙන් විය හැකි යි. එය කෙසේ සිදුවුවා දැයි මම දන්නෙ නැ."

රාහුල තෙරණුවන් ලජ්ජාවට හෝ කෝපයට හෝ පත්කර සාක්ෂි නොමඟ යැවීමටත්, පරස්පර විරෝධී කිරීමටත් අදහස් කළ නීතිඥයා කෝට් සාක්කු තුළින් දෑත ගෙන ඒ දෑත ඔසවා උස් හඩින් කතාකෙළේ ය. "මම කෙළින්ම ප්‍රකාශකරනවා මේ කියන කමලාවතී කියන ස්ත්‍රිය සමඟ අනියම් සම්බන්ධතාවක්

තමා මුල සිට ම පවත්වාගෙන ගිය බව? මේ පළමුවැනි චිත්‍රකරු ඇය කැඳවාගෙන යාම නිසා හාමුදුරුවො ඔහු සමඟ වෛරයක් ඇතිකරගත්තා. මේ මිනීමැරුම සිදුවන විට හාමුදුරුවො හිටියෙ පන්සලේ?"

විනිශ්චයකාර තුමා නීතිඥවරයා වහා නැවැත්වී ය. තරවටුවක ස්වරූපයෙන් එතුමා නීතිඥවරයා අමතා කියා සිටියේ, හරස් ප්‍රශ්නවලින් භික්ෂුව කිළිටි චරිතයක් ඇත්තෙකැ යි ඔප්පු කළ නොහැකි තැන, උසාවිය හමුවේ කෙළින් ම උන්වහන්සේ ගේ චරිත ඝාතනයක් කිරීමට තමාට කිසිසේත් ම ඉඩ දිය නොහැකි බව ය. අනතුරුව එතුමා රාහුල තෙරණුවන් ඇමතුවේ ය.

"ස්වාමීන් වහන්ස, ඔබ වහන්සේට තව දුරටත් සිත සංසුන්කරගෙන සාක්ෂිදීම කරගෙන යා හැකිද?"

"ශ්‍රේෂ්ඨාධිකරණයේ විනිශ්චයකාර තුමනි, මා පැමිණියේ මිනීමැරුමක් සම්බන්ධයෙන් මා දුටු දෑ ඇසූ දෑ ප්‍රකාශකිරීමට යි. නමුත් මෙහි දී මගෙන් ප්‍රශ්නකරනු ලබන්නේ වෙනත් කාරණා ගැනයි. මට මෙය නොතේරේ. මේ කියනු ලබන ස්ත්‍රිය සමඟවත්, වෙනයම් පුරුෂයෙකු සමඟවත් මගේ විශේෂ ඇල්මක් බැල්මක් හෝ බැඳීමක් නැති හෙයින් මම ඔහු කියන්න භාරගන්නෙ නෑ. මට වේදනාවක් ඇතිවූයේ නෑ. ඒ මා සිහිනෙනුදු නොසිතූ දයක් ඔහු ප්‍රකාශ කළ නිසයි. ඒ මා ගැන නොවේ. නමුත් මෙ වැනි ගරුගාම්භීර ස්ථානයක දී මා ගැන කිසිත් නොදන්නා පුද්ගලයෙක් මෙවැනි ප්‍රකාශයක් කිරීම ගැන මම පුදුමවෙනවා. විනිශ්චයකාර තුමනි, මා පැමිණියේ මා සියැසින් දුටු දෑ ප්‍රකාශ කිරීමට හෙයින්, ඒ ගැන ප්‍රශ්න කරනවා දකින්න කැමතියි"



නඩුව කල් තැබිණි. උසාවියේ කටයුතු මදකට නවතා විනිශ්චයකාරතුමා තම කාමරයට නික්මගියේ ය.

*           *           *

පූජාරාම ශ්‍රී සුචරිත දහම් පාසලට පළමු දිනයේ ළමයින් හතළිස් එක් දෙනෙක් පැමිණි අතර, දෙ වැනි දිනයේ තිහක් ද, තුන් වැනි දිනයේ විසි අටක් ද, හතර වැනි දිනයේ පහළොවක් ද පැමිණිය හ. මෙය තමන් ගේ අවංක ප්‍රයත්නයක් ලද දරුණු පරාජයකැ යි නන්දරාම සිතූ අතර, රාහුල ද එය පසුබෑමකැයි පිළිගත්තේ ය.

"අපි කොච්චර මාන්සිවුණත් හාමුදුරුවනේ අපිට හදන්න පුලුවන් රටක් නෙමෙයි මේ. අපි කොල්ලන්ගෙ කෙල්ලන්ගෙ තුට්ටාල අතගෑවටත් ණයයි. අන්තිමට අපිට අහගන්න වෙන්නෙ නරක නාමය යි" නන්දරාම හතර වැනි දිනයේ දහම් පාසල පවත්වා එය අවසානයේ පෙරළා ගෙවල් බලා යන දරු පිරිස බලා කීවේ ය.

දහම් පාසල මඟහැර සිටින්නෝ සුමඟට දහමට යොමු කළ යුතු යයි සිතාසිටි වඩාත් අවිනීත දරු දැරියෝ ම ය.

"මේ වේගයෙන් දහම් පාසල පිරිහෙන්ට ගියොත් තව දෙවරකට වැඩිය පාසල පවත්වාගෙන යාමට ලැබෙන්නෙ නෑ. ඔක්කෝම නවතිවි"

"හේතුව මොකක් කියලද නන්දරාම හිතන්නෙ?"

"අපිට හදන්න වෙලා තියෙන්නෙ ළමයින්ගෙ සිත් නොවෙයි.

දෙමාපියන්ගේ සිත්. දෙවැනි දවසේ ළමයින් එකොළොස් දෙනෙක් නාවේ ඉඳගන්න පුටු නොතිබුණු නිසා. තමන්ගෙ ළමයින් බිම ඉඳගන්නවාට ඒ ළමයින්ගෙ දෙමාපියන් කැමති නැ. ළමයින් පන්සලේ ඉස්කෝලෙට එව්වෙ තුවාළවලට බේත් දම්මන්න නෙමෙයි කියල එක ළමයෙකුගෙ අම්ම කෙනෙක් කියල තියෙනවා. අම්ම ඒ ළමයව එවල තියෙන්නෙ දහම් පාසල් සහතිකයක් ලබාගන්න. විසි අට එක පාරට පහළොවට බහින්න හේතුව සිංඤප්පු මට කිව්වා. අපි දෙන්නා බොරු බණ ළමයින්ට උගන්වනවලු......."

රාහුල තෙරණුවෝ පුදුම ව බැලූ හ.

"සිද්ධාර්ථ කුමාරෝත්පත්තිය ගැන කියද්දී ඔබ වහන්සේ ළමයින්ට බොරු බණ ඉගැන්නුවලු. සිදුහත් කුමාරයා ඉපැදුනු මොහොතේ ම නෙලුම් මල් හතක් උඩින් ගමන් ගැනීමත්, අග්ගෝහමස්මි ගාථාව ප්‍රකාශ කිරීමත්, සිද්ධාර්ථ චරිතය ඕනැවට වැඩිය ඔපමට්ටම් කරන්න කර තිබෙන නිර්මාණයක් කියල ඔබ වහන්සේ කියනවා මටත් ඇහුනා. ඒ ළමයි ඒ කතාව ගෙදර ගිහිං කියා තිබෙනවා. පොතේ නැති බණ, නාහපු බණ අපි ළමයින්ට උගන්වනවා කියල අපි දෙන්නට ම බැණල අම්මල ළමයින්ව නවත්වාගත්තා"

රාහුල තෙරණුවෝ වචනයකුදු කතා නොකළ හ. බොහෝ කලකට පසු දරුණු සිත් වේදනාවක් හා කලකිරීමක් උන්වහන්සේට ඇතිවූ මොහොත මෙය විය.

පොඩි ළමයින් හදන්න පටන් ගත්තේ ලොකු ළමයින් හා වැඩිහිටියන් හදන්න නොහැකි නිසා ය. දැන් ලොකු අය ගේ බලපෑම් නිසා පොඩි ළමයින් හදගැනීමට ඉඩක් නැත.



බොරු බණ ගැන කතාවක් ඇතිවීමට එද මෙ වැනි සිද්ධියක් සිදු වූ බව රාහුල තෙරණුවන්ට මතක තිබේ. සිද්ධාර්ථ කුමාරෝත්පත්තිය සිදුවන අවස්ථාවේ දී ඇති වූ ආශ්චර්ය ගැන පොතේ ඇති විදියට රාහුල තෙර පාඩම් විස්තර කර දෙමින් සිටියේ ය. නොමේරූ බුද්ධියක් ඇති දරුවනට පොතට පිටින් බණ ඉගැන්වීමට තෙරණුවන්ට වුවමනාවක් නොතිබුණ ද, උපන් හැටියේ ම සිදුහත් කුමරා නෙලුම් මල් උඩින් ඇවිද්ද කියත්දීත්, "අග්ගෝහමස්මි ලෝකස්ස – ජෙට්ඨෝහමස්මි ලෝකස්ස – සෙට්ඨෝ හමස්මි ලෝකස්ස – අයමන්තිමා ජාති – නත්ථි – දනි පුනබ්භවෝ" යන ගාථාව විස්තර කරද්දීත් පන්තියේ දෙළොස් හැවිරිදි තරමේ ළමයෙකුට හිනා ගියේ ය. හිනාවට කාරණය කුමක් ද යි ප්‍රශ්න කරද්දී ඒ ළමයා මෙ සේ උත්තර දුන්නා තෙරණුවන්ට මතක ය. "උපන් ගමන් කතාකරන්නෙ, ඇවිදින්නෙ කොහොම ද හාමුදුරුවනේ? ඔය කතාව පිළිගන්න බෑ. අනික: අර ගාථාව හරි කයිවාරුවක්නෙ"

රාහුල තෙරණුවන් ළමයා ගේ කතාවට පැහැදුනේ ඔහු බුද්ධිමතෙකැ යි සිතූ නිසා ය. ළමා වයසේ සිටියත් උසස් බුද්ධි මට්ටමකින් යුතු එක දරුවකු හෝ තම පාසලේ සිටීම ගැන උන්වහන්සේ සතුටට පත්වූ හ. තමන් එහි දී පන්තියේ සියලුම ළමයින් අමතා මෙ සේ ප්‍රකාශකර සිටි බව තෙරණුවන්ට මතක ය.

"ඔය ළමයි පොතේ තියෙන විදියට බුද්ධ චරිතය ඉගෙනගන්න. නැත්නම් විභාගවලට උත්තර ලියන්නත් පාස්වෙන්නත් බැරිවෙනවා. ඒත් මං ඔය ළමයින්ට එකක් කියන්න ඕනැ. සිද්ධාර්ථ චරිතය මුල සිට අග දක්වා ම අදහාගන්න බැරි බොහෝ අද්භූත සිද්ධිවලින් ගහණ යි. ඔය

ළමයින්ගෙ බුද්ධි මට්ටම මෝරණකොට ඒ ඒ තැන් පැහැදිලිවේවි. දනට මෙන්න මේ කාරණය පමණක් සිහියේ තබාගන්න. සිද්ධාර්ථ කුමාරයාත් ලේ මස්වලින් හැදුණු, ඔය ළමයින්ට බොහෝ සමානකම් ඇති දරුවෙක්. මුල සිට ම ඒ කුමාරයාගේ විශේෂත්වයක් තිබුණේ, බුදුවීම සඳහා කල්ප කාලාන්තරයක් මුළුල්ලේ පෙරුම් පුරා පැමිණීම නිසා සෙසු ළමයින්ට වඩා උසස් බුද්ධියකුත්, යහපත් හැසිරීමකුත්, දයා කරුණා ගුණයකුත් තිබ්ම යි. සිද්ධාර්ථ කුමාරයා උපන් හැටියේ ම ඇවිද්දේ ය, කතාකෙළේ ය, අහසේ පලක් බැඳගෙන වැඩ සිටියේ ය කියන සිද්ධි නොපිළිගත්තත් සිද්ධාර්ථ චරිතයේ ශ්‍රෙෂ්ඨත්වයේ අඩුවක් වන්නේ නෑ, ඒ කතා මෝඩ මිනිසුන් ගේ ශ්‍රද්ධා භක්තිය වැඩිකරන්න ඉස්සර හිටපු අපේ හාමුදුරුවන් ගොතාපු කතා. බුදුරජාණන් වහන්සේ ශ්‍රෙෂ්ඨයෙක් කොට අපි සලකන්නෙ, උන්වහන්සේ ගේ ධර්මය අපි පිළිගන්නෙ, ගරු කරන්නෙ මේ කියන විදියේ උපන් හැටියේ ඇවිද්ද නිසාවත්, කතා කළ නිසාවත්, අහසේ රැඳී සිටි නිසාවත් නොවෙයි. උන්වහන්සේ ගේ ශ්‍රෙෂ්ඨ පැවැත්මත් ශ්‍රෙෂ්ඨ ධර්මයත් නිසයි. අපිට පෙනෙන සත්‍යය මෙය වුවත්, දහම් පාසල් විභාගයේ දී “සිද්ධාර්ථ කුමාරෝත්පත්තියේ දී සිදු වූ ආශ්චර්ය කවරේ ද?” යන මේ ප්‍රශ්නයට පිළිතුරු වශයෙන් “ආශ්චර්ය නම් කිසිත් සිදු නොවී ය. එහෙත් විශිෂ්ට ඥානයකින් ද ගුණ නුවණින් ද හෙබි පින්ගන්නා සුළු නිරෝගී දරුවෙක් බිහිවිය” කියල ලිව්වොත් ඔය ළමයින්ට එක ලකුණක්වත් ලැබෙන්නෙ නෑ. ඒ නිසා පොතේ හැටියට මා දනට කියාදෙන විදියට උත්තර ලියන්න”

* * *



දවල් දනය වළඳා, කෙසෙල් ගෙඩියක් ලෙලි ඇර හපමින් රාහුල තෙරනුවන් ගේ මුහුණ බැලූ නායක ස්ථවිරයෝ මෙ සේ ඇසූ හ. “රාහුල අද මොකද බර කල්පනාවකින්?”

රාහුල තෙරණුවෝ උත්තරයක් නොදී සිනාසෙන්නට උත්සාහ කළ හ.

නන්දරාම රාහුල වෙනුවෙන් කතාකෙළේ ය. “දහම් පාසල ගැන රාහුල හාමුදුරුවන්ගෙ සිත බිඳිලා”

“ළමයින් බොහොම ටික දෙනයි නේද දැන් එන්නෙ?”

“එහෙමයි. ඒ ළමයි ටිකත් නවතියි කියලයි මට බය.........”

“රාහුලට දන්වත් තේරෙනව ද ගමේ රටේ හැටි. මාත් ඕවා කළා රාහුල. මං ඔය ඔක්කෝම අල්ලලදල ඉන්නෙ කරන්න කැමැත්තක් නැති නිසා නොවෙයි, ඕවා කරන්න බැරි නිසා. බොහොම හොඳ චේතනාවෙන් අවංකව වැඩක් කරන්න ගියොත් අන්න ඒකට තමයි ආයුෂ අඩු. අන්තිමට හිත නරක්කරගන්න තමයි වෙන්නෙ. රාහුලට අපේ ගම්වල මිනිසුන් ගේ හැටි තාමත් අඳුරගන්න බැරි වෙච්ච හැටි”

“ළමයින් ගැන ප්‍රශ්නයක් නෑ නායක හාමුදුරුවනේ, මෙයින්ට නොමඟ යවන්නෙ ළමයින්ට අධෛර්යට පත් කරන්නෙ මෝඩ දෙමාපියෝ. මං හිතාගත්තා නැවතත් ඒ ළමයින්ගෙ ගෙවල්වලට ගිහිං දෙමව්පියන් හමුවෙලා කතාකරන්න. එක ළමයෙක් ආවත් මම ඒ ළමයට උගන්වනවා” රාහුල තෙරණුවෝ කී හ.

යෝමාරාම ස්ථවිරයෝ රාහුල තෙරණුවන් දෙස මොහොතක් බලාසිට අතේ තිබූ කෙසෙල් ලෙල්ල ජනේලයෙන් ඉවතට විසිකොට දෑත පිසගත් හ.

"අපේ බණ මඩුව අලුතින් ම හැදුවොත් නරක ද රාහුල? බොහෝම පරණයි දුත්, මම මහණවෙන්නත් කලිනුයි හදල තියෙන්නෙ. පිංකම් කරල මේ කාලෙ සල්ලි හොයන්න අමාරුයි, ළමයින් හොයහොයා ගෙවල්වලට ගිහිං කාලෙ නාස්තිකරනවට වැඩිය හොඳ නැද්ද, ගමෙයි අහළපහළ ගම්වලයි සල්ලිබාගෙ තියෙන ඇත්තන්ව හම්බුවෙන්න ගිහිං දෙන්නත් එක්ක මට රුපියල් හත්අට දහක්වත් හොයාදුන්නොත්? මට පුලුවන් මගෙනුත් දල බණ මඩුවක් ලස්සණට හදන්න. කෙළවරේ උස වේදිකාවක්. වේදිකාවට පස්සෙන් කාමර දෙකක්. ඕනැම දේකට එතකොට ප්‍රයෝජනය ගන්න පුලුවන්. ශාලාව වටේ දෙර ජනෙල්, අවුරුදු හතරක් පහක් ගියාට කාරි නෑ, අපි හෙමිහිට ටිකින් ටික කරල බලමු බලන්න"

නායක ස්ථවිර නික්මගිය පසු නන්දරාම රාහුල ගේ මුහුණ බැලුවේ ය. නායක ස්ථවිරයන් යෝජනාවක් කළ විට එය ස්ථිරකරන්නට දෙ වැන්නෙක් අවශ්‍ය නොවන බව තරුණ පැවිද්දන් දෙදෙනා ම දනිති.

"ඔන්න අපිට වැඩක් දුන්නා. ලොකු හාමුදුරුවො කියන්න වගෙ රට හැදිල්ල ළමයින් හැදිල්ල පැත්තකින් තියල පන්සල හැදිල්ල පටන්ගනිමු ද? ළමා පරපුර පොඩ්ඩ පොඩ්ඩ හැදෙනව බලල සන්තෝෂ වෙනවට වැඩිය, බණ මඩුව ගඩොලින් ගඩොල බැදිල වැඩ ඉවරවෙනවා දකල සන්තෝෂවෙන්න අපිට පුලුවන්වේවි"

"අධෛර්ය වෙන්න නරකයි. අපි ඔය දෙකම කරන්න බලමු. වැරදියට හැදෙන එක ළමයෙකුට හොඳ නරක කියාදීල හරි මගට ගන්න එක, බණ මඩුවක් හදන එක තරම්ම වැදගත්"

නන්දරාම තෙරණුවෝ නිහඬවූ හ. උන්වහන්සේ ඒ



සම්බන්ධයෙන් තව දුරටත් කතා නොකෙළේ ලෞකික පැත්තකට වඩා ලෝකෝත්තර පැත්තකට රාහුල තෙරණුවන් වඩා නැඹුරු ව සිටිතැ යි යන හැඟුම දෙ වැනි ව උන්වහන්සේට ඇති වූ හෙයිනි.

*          *          *

සෝමාරාම ස්ථවිරයෝ දත් කමලාවතී ගැන උනන්දුවක් නොදක්වති. පන්සල ගඳගප්වන වැඩ නොකිරීමට පහළ වූ කැමැත්ත ප්‍රධාන හේතුව යි. රාහුල ගේ පැවැත්ම තමන් විසින් ආදර්ශයට ගත යුතු යයි උන්වහන්සේ අධිෂ්ඨානය කොට සිටිණි. තමන් දත්නා තමන් ගේ රහස් පිටස්තරයෙකුට දැනගන්නට ලැබුණොත් දරු දෙදෙනෙකුට සමාන තරුණ පැවිද්දන් දෙදෙනාට ද අගුණදයක බව උන්වහන්සේ ගේ හැඟීම විය.

නායක ස්ථවිරයන්ගේ මේ වෙනස කමලාවතී ද තේරුම්ගෙන සිටී. නායක හාමුදුරුවන් සමග පවත්නා මිත්‍ර සම්බන්ධතාව පළුදුවීම තමාගේත් තම දරු දෙදෙනාගේත් පැවැත්මට බාධකයක් බව ඕ කල්පනාකරයි. පන්සල් වත්තත්, තම වත්තත් වෙන් කෙරෙන ඉණි වැට අස්සෙන් ඕනෑම වේලාවක පන්සල් වත්තට ඇතුල්වීමට තිබෙන ඉඩකඩ කටුකම්බි ගසා වෙන්කළහොත් තමන්ගේ ඉරණම කෙසේ විය හැකි දැයි, ඇයට සිතාගත හැකි යි. අඩුගානේ මසකට වරක්වත් හමුවී, සම්බන්ධතාව අඛණ්ඩව පවත්වා ගෙන යාම ඇගේ අභිලාෂය යි.

මියගිය තම සැමියාගේ අගයත් ගුණයත් වෙන කවරදකටත් වඩා ඇයට දැන් මතක්වෙයි. නිකම් රොඩ්ඩක් වශයෙන් හෝ සැමියා ගෙදර උන්නා නම් ඇගේ සිතට බරක් නැත. ඒ වගේ ම බයකුත් නැත. ඇතැම් රාත්‍රියක කමලාවතීට යසපාල සිහිනෙන් පෙනී පිපාසය බව දන්වා බීමට වතුර ඉල්ලයි. නින්දෙන් ඇහැරෙන කමලාවතී පහන්කරන්නේ හැඬූ කඳුළිනි. නායක හාමුදුරුවන් හමුවීමට ඇයට විශේෂයෙන් වුවමනා වූයේ, ඔහු වෙනුවෙන් තුන් මාසයේ දනය දිය යුතු යයි සිතෙන්ට වූ බැවිනි.

පන්සලට ගොස් නායක හාමුදුරුවන් හමුවිය හැකි වුවත්, කමලාවතී වඩාත් කැමතිවූයේ නිහඬ නිසසල විහාර භූමියේ දී ම උන්වහන්සේ හමුවීමට ය. දෙ දිනකට පසු, එ වැනි අවස්ථාවක් උදකරගැනීමට කමලාවතී සමත් වූවා ය. ළමයින් දෙදෙනා ගෙදර නවතා තම වත්ත දිගේ ම උඩහට ගිය කමලාවතී එ තැනින් කුරුන්දට රිංගා කන්ද නැග විහාර භූමියට ඇතුල්වූවා ය. නායක හාමුදුරුවන් කන්ද නැග විහාර භූමියට යනබව පැහැදිලි ව දුටු නමුත් උන්වහන්සේ කිසි තැනෙක නැති බව දුටු කමලාවතී අන්තිමට පහළ රබර් කට්ටිය දෙස බැලුවා ය.

නායක ස්ථවිරයෝ පොඩි ළමයෙකු මෙන් පරණ පාළු ළිඳට ගල් විසිකරමින් සිටිති. ළිඳ තුළට ගලක් දමූ කල ළිඳ තුළින් පුදුමාකාර ශබ්දයක් සැලකියයුතු වේලාවකට පසු ලබාගත හැකි ය. ඒ ශබ්දයට කන්දීමට සාමණේර අවදියේ සිට ම සෝමාරාම ස්ථවිරයෝ කැමැත්ත දක්වති. ළිං කටින් ඇසෙන දෝංකාර ශබ්දයට කන්දුන්නත්, ළිඳට කරපොවා බැලීමට ස්ථවිරයන් කවදවත් කැමැත්ත දක්වා නැත.



"ලොකුහාමුදුරුවෝ පොඩි එව්වො කරන වැඩනෙ කරන්නෙ?"

ස්ථවිරයෝ, තමන්ට උස තැනක සිටින කමලාවතී දෙස හිස ඔසවා බැලූ හ. හිර බැසයමින් තිබුණේ හරියට කමලාවතීට පිටුපසිනි. ඇය තනි වීත්ත රෙද්දක් හැඳසිටින නිසා නග්න ව සිටින අයුරක් පෙනේ.

නැවතත් තමන් වළට වැටෙන්ට යන බවක් සෝමාරාම ස්ථවිරයන්ට හැඟුනේ යටපත්කර සිටි හැඟීම් දැඩි ලෙස ඉස්මතුවන්නට වූ හෙයිනි. හැඟීමට වහල් විය යුතු ද, නැත්නම් අරමුණ සිතෙන් බැහැර කළ යුතු ද යි බිම බලාගෙන කල්පනාකරමින් සිටිය දී, රාහුල තෙරණුවන් ගේ රුව උන්වහන්ගේ ඉදිරියේ මැවී පෙනිණි. රාහුල, ස්ත්‍රිය ගේ ඒ රුව හා ඒ නිමිත්ත සියැසින් දැක, ඒ නුපුටුවාක් මෙන් ඉවතට ඇදෙන දර්ශනය ස්ථවිරයින් ගේ සිතේ ඇදීගියේ ය. 'එපා ඕනැ නෑ' යයි ස්ථවිරයෝ දැඩි ලෙස තමන්ට කියාගත්තෝ ය. 'ඒ කටයුත්ත ඉවරයක් කළ හැමදමත් ඒ වෙලාවට මං හිතුවෙ ඒ තැනින් එහාට නෑ, එච්චරයි, ඕනැ නෑ ආයිත් කියලයි. නමුත් මට බැරිවුණා, රාහුල මං වගේයැ? තරුණයෙක් නොවැ. මය ඉන්නෙ අපුරුවට. ඕක තමයි මක්කෝටම මුල. ආයිත් රැවටෙන්නෙ නෑ මම. බැලුවාම ඇති දේකුත් නෑ. තරහවෙන්න ඕනැත් නෑ. අමුතු යාළුකමකුත් එපා. ඇහට නොගෙන උන්නාම ඇති........"

ස්ථවිරයන් විහාර භූමියට ගොඩවූයේ වියළි රබර් කොළ යට සර්පයින් සිටිත් දැයි යන සැක සිත ඇති ව මෙනි.

"ලොකු හාමුදුරුවො මාත් එක්ක තරහවෙලා වගෙ? මං නම් වැරැද්දක් කළේ නෑ. හාමුදුරුවො අවවාද කළ විදියට මගේ පාඩුවෙ ජීවත් වෙනවා. එදා පඩි ගන්න පන්සලට ආපු

වෙලාවෙන් හාමුදුරුවො මගෙ මූණ බැලුවෙ නෑ?''

''ඔව්. මම කමලාවතී ගේ මූණ බැලුවෙ නෑ තමා''

''ඇයි හාමුදුරුවනේ මං වරදක් කළැයි?''

''කමලාවතී මට වරදක් කෙළේ නෑ. ඒ වුණාට මම කමලාවතීට වරදක් කළා. කමලාවතීට පමණක් නම් මොකද, ඒ ගැන තමයි මම මේ දවස් ටිකේම හිතුවෙ. මේ ස්ථානෙට....... මේ චීවරේට....... පොඩි උන්නාන්සේලා දෙනමට.........'' සෝමාරාම ස්ථවිරයන් කතා කරන්නේ, සුළඟට සැලෙන කොළ ඇති බෝ රුක දෙස බලාගෙනය. ''මට පොඩි දෙනමක් ඉන්නවා. ඒ පොඩි දෙනමට ආදර්ශයක් දෙන්න ඕනෑ මම යි. මම මේ විදියට වැරදි විදියට හැසිරෙන එක හොඳ මදි. රාහුලගෙ හැසිරීම පේනවා නොවැ? මං ඒ ඇත්තන්ගෙ මූණේ දලිගාන එක හොඳ වැඩක් නොවෙයි. කමලාවතීට උදව්වක් ඕනෑ කරනවා නම් දෙන්න බැරියැ......... ඒ ඇරෙන්න වෙනද වගෙ මං දිහා අමුතු විදියට නොබැලුවාට කාරි නෑ. දන් ඕනෑකමකට මාව හොයාගෙන ආව නම් කිච්චනම් බලන්න කාරණය......?''

පුදුමයට මෙන් කමලාවතීට අමුතු දුකක් මේ වේලාවේ ඇතිවූයේ නැත. ජීවන මාර්ගයක් වශයෙන් ඒ දේ කළත්, ඇගේ හිතටත් ඒ කටයුත්ත ගැන කැමැත්තක් තිබුණේ නැත. එය හාමුදුරුවන්ට මීකිරි කෑම වගෙ වුවත්, තමාට නම් තිබහට ලුණු වතුර බොන්නා වාගේ වැඩකැයි ඇයට හිතේ.

''හොඳමයි හාමුදුරුවනේ.......''කමලාවතී කියේ ප්‍රශ්නයට උත්තරයක් වශයෙන් නොව නායක ස්ථවිරයින්ගේ මුලු කතාව ම අනුමත කරන්නියක වශයෙනි.

''කිච්ච නම් ආපු කාරණය?''



''හාමුදුරුවනේ, මගෙ මැරිච්ච මනුස්සයා දන් හත් අට දවසක් ම මට හීනෙන් පෙනුණා. මගෙන් තිබහට වතුර ඉල්ලනවා. මං කල්පනාකෙළේ හාමුදුරුවනේ කොයි ක්‍රමයකින් හරි තුන් මාසෙ දනෙ දෙන්න ඕනෑයි කියල.......... තව තියෙන්නෙ දහ දවස යි''

''ඔව් ඒක හොඳයි. හත් අට නමකට අට පිරිකරකුත් එක්ක දනෙ දෙන්න පුලුවන් නම් ඒ තරමට හොඳයි. ඔය වැඩිපුර අරුමෝසම් කෑම බීම ඕනෑන්නෙ නෑ. බතට ව්‍යංජන දෙක තුනකුයි.......... කිරි පැණි ටිකකුයි තිබුණාම මදයි. අට පිරිකරක් නම් පන්සලෙන් ගන්න බැරියැයි. දනෙ කළමනා ඇහැකි විදියට සූදනම් කර ගත්තොත්.........''

නායක ස්ථවිරයෝ එක් තැනක රැඳී නොසිට කියාගෙන ගොස් පල්ලම බසිනු පිණිස පඩි පෙළට බැස්සහ.

''මහොම තමයි ඕකෙ හැටි. වෙනදා මා පස්සෙන් කැරකෙනවා. අද මට උන්නාන්සෙ පස්සෙන් එළවන්න වෙලා....... කමෙක් නෑ කොයික වෙන්නෙත් හොඳටලු'' කමලාවතීට සිතිණි. දනයට අත්තිකාරම් මුදලක් ලබා ගැනීම පිළිබඳව හාමුදුරුවන්ට කතාකරන්ට කමලාවතීට ඕනෑකළත් උන්වහන්සේ පිටුපසින් එළවඑළවා ඒ ගැන කතාකිරීමට නොහැකි හෙයින් පසුදින පන්සලට ම ගොස් ඒ ගැන කතාකිරීමට සිතා නැවතුණා ය.

කමලාවතී පල්ලම බැස යන ස්ථවිරයන් දෙස ම බලාසිටී. 'මුය කිච්චට දන් ඉතිං නම් අත දිගැරල ඉල්ලන දේ දෙන එකක් නෑ. මිනිහත් මළා. පියදසත් නෑ. ඌ නම් නැති එකමයි කාරිය. හාමුදුරුවොත් එතකොට අයින්වුණා. මට හැමදමත් මෙහෙම ඉඳල බෑ. ගෑණී මැරිච්ච පොරෝලිස් නම් මට විහිළු කළා ළිඳ ගාවදි, මං තාම කෙල්ල වගෙ කියල. මං ඒ වෙලාවෙ

පොරෝලිස්ට දුන්නු උත්තරේ හොඳ මදියි කියලයි මට දැන් හිතෙන්නෙ. මං කෙල්ල වගෙ නම් කොල්ලො එපායි මා දිහා බලන්න. මොටද නාකි මා දිහා බලන්නෙ කියලයි මං කිව්වෙ, මං ඒක එහෙම පොරෝලිස්ට කිව්වෙ හාමුදුරුවො නිසා වෙන්න ඇති. ඇයි හාමුරුවොම නෙ මට කියල තියෙන්නෙ වෙන පිරිමි දිහා නොබැලුවාට කමක් නැ කියල. කොයි වෙලාවක හරි පොරොලිස් හම්බුවුණාම කියනවා මං එද කිව්ව කතාවට තරහවෙන්න එපා යි කියලා. පොරෝලිස්ට ඉන්නෙ එක ඉලංදරියයි. ඒකත් අරාබි යන්න හදනවා. එතකොට ඉතිං කරදරයක් ඇනැයි...... ලොකු හාමුදුරුවන්ට තරම්වත් වයසක් නැ පොරෝලිස්ට'

කමලාවතී රතඹලා පඳුර ළඟ නැවතුණා ය. රතඹලා කියන ජාතියේ මල් තරු ඉදුණු ගෙඩි හැමදමත් තිබේ. ඉදුණු ගෙඩි අටක් කඩාගත් කමලාවතී ඒ එකක්වත් නොකා, අතේ තබාගෙන පල්ලම බැස්සා ය.



# 13

රාහුල තෙරණුවන් සම්බන්ධ ප්‍රවෘත්තිවලින් ගමේ මිනිසුන් අවදි ව කතාබස් කරන අවස්ථාවක, ඉරිද පුවත් පතක විශේෂ ලියුම්කරුවෙක් පූජාරාමයට පැමිණියේ ය. පන්සලට පැමිණීමට ප්‍රථම, ලියුම්කරුවා ගමේ මිනිසුන්ගෙන් රාහුල තෙරණුවන් ගැන තොරතුරු රාශියක් සොයාගෙන තිබිණි. අතිශයෝක්තියෙන් පිරුණු ඒ කතා ඇසූ ලේඛකයා බලාපොරොත්තු වූයේ සමවත් සුවයෙන් දවසේ වැඩි කාලයක් වැඩවසන යෝගියෙකු බඳු තෙරනමකි. එහෙත් ඔහු පියවි දෙනෙතින් දුටුයේ, තිස් හැවිරිදි විය නොඉක්ම වූ, ඇස් හැර බලන, මඳහස නගන, පා මසවා ඇවිදින තරුණ භික්ෂුවකි.

පත්‍ර කාර්යාලයේ නමත්, පත්‍රයේ නමත් තමාගේ නමත් හෙළිකළ ලේඛකයා තමා සමඟ පැමිණි සිටි කැමරා ශිල්පියාත් රාහුල තෙරණුවන්ට හඳුන්වාදුන්නේ ය.

“මහත්තයලා ආපු කාරණය දැනගන්න පුලුවන් ද මට?”

අමුත්තන් වාඩිගැන්වූ තෙරණුවෝ කාරුණික ව කී හ.

"ඔබ වහන්සේ ගැන විශේෂ ලිපියක් පත්‍රයට ලියන්න මට ආරාධනයක් ලැබුණා. මං හිතන්නෙ සමාගමේ සභාපතිගෙන් අපේ පත්‍රයේ කර්තෘට ලැබුණු විශේෂ ඉල්ලීමක් අනුවයි මට මේ කාර්යය පැවරුණේ"

රාහුල තෙරණුවෝ අහිංසක ව සිනා පහළ කළ හ.

"මා ගැන විශේෂ ලිපියක් තබා සාමාන්‍ය ලිපියක් ලියන්න තරම්වත් මගේ වැදගත්කමක් ඇතැ යි මම හිතන්නෙ නෑ. අනෙක් බොහෝ ස්වාමීන් වහන්සේලාට වඩා මා වෙනස් විදියකට සිතන බව ඇත්තක් වෙන්න පුලුවන්. ඒත් මගේ සිතැඟි අනුව ක්‍රියාකරන්න මට අවස්ථාව ලැබෙන්නෙ බොහොම කලාතුරකින්. මම තවමත් අඳුරෙ අතපත ගාන්නෙක්. මගේ සිත ඇතැම් අවස්ථාවල තවමත් සැලෙනවා. සසලවෙනවා. බලාපොරොත්තු පහළවෙනවා. ඒවා අසාර්ථක වූ විට රිදුමක් නැගෙනවා. සංවේගයක් කලකිරීමක් පහළ වෙනවා. ඒක එහෙම නම් මහත්තයා මගෙ ඇති විශේෂත්වය කුමක් ද? මගෙ සිත නිහඬ වූ දට මා ගැන කැමති ආකාරයට ලියන්න ඔය මහත්තයට ඉඩ දෙන්නම්. දැන් මා ගැන මොනම ලිපියක්වත් මොනම වාර්තාවක්වත් ලියනවාට මගේ කැමැත්තක් නෑ"

"සමාවන්න. ඔබ වහන්සේ වැනි බෞද්ධ භික්ෂූන් වහන්සේ නමක් ගැන දැනගන්න කියවන්න හැම මිනිහෙක් ම කැමති වේවි........."

"මගේ විශේෂත්වය කුමක් ද මහත්තයා?"

"ඔබ වහන්සේ වැනි නිවී සැනහුණු භික්ෂුවක් මගේ මේ ඇස් දෙකින් මෙයට පෙර දැකලා නෑ. මහජනයාට එය ම ප්‍රමාණවත්.



අද ඒ වැනි පැවිද්දෙකු දක්නටවත් නෑ. රටේ මුලුමහත් බෞද්ධ ජනතාවගේ ම අවධානය ඔබ වහන්සේ වෙත යොමුවේවි හාමුදුරුවනේ. මිනිසෙකුට ලබාගත හැකි ඊට වැඩි ජයග්‍රහණයක් නැහැ කියන එකයි ස්වාමීන් වහන්ස මගේ නම් අදහස"

"මම බෞද්ධ භික්ෂුවක් නොවැ මහත්තයා........ කීර්ති ප්‍රශංසාදිය ප්‍රසිද්ධිය මට අවශ්‍ය නෑ. බොහොම සැහැල්ලු නිහඬ ජීවිතයක් මම ගතකරන්නෙ. මහත්තයා අදහස් කරන කීර්තිය ප්‍රසිද්ධිය මට බොහෝ හානිදායක විය හැකියි. එය හැදෙන පැලෑටියකට වුවමනාවට වඩා පොහොර යෙදීමක් විය හැකියි"

ලේඛකයා ගේ ආකල්පයෙහි දැඩි වෙනසක් ඇතිවූවා සේ පෙනිණි. හේ වඩාත් උනන්දුවි ය.

"සුවඳ හමන මලක් කැලේ පිපී තිබෙනවා. කිසි කෙනෙක් ඒ බව දන්නෙ නෑ. ගුණ සුවඳින් පිරි මලක් කැලේ හෝ පිපී තිබෙන බව ජනතාවට දැනගන්න ලැබෙනවා නම්, ඔවුන්ගේ අවධානය ඒ වෙත යොමුවෙනවා. මට අවශ්‍යවන්නේ අන්න ඒ පණිවිඩය ජනතාවට දීමට යි. මම අදහස් කෙළේ ස්වාමීන් වහන්ස, ඔබ වහන්සේ, රටට හඳුන්වා දීමෙන් ඔවුන්ගේ සිත්සතන් තුළ ප්‍රබෝධයක් වගේ ම, සුවදායක ආස්වාදයක් ජනිත කරවීම යි"

"බොහොම හරි මහත්තයා. එහෙත් ඒ මලක් නොව මල් කැකුළක් පමණක් නම්? එ සේ නම් මිනිසුන් ගේ සිත් තුළ පහළවන්නේ කුතුහලයක් පමණයි. මිනිසුන් ගේ කුතුහලය ඇවිස්සීමට මා යොදගන්නේ කුමට ද මහත්තයා?"

"ඔබ වහන්සේ ගේ පරමාර්ථයත් අරමුණත්, තමනුත් නිවී

සැනසී, අනුන් ද නිවා සැනසීම යයි මම හිතනවා?''

''බොහොම හරි මහත්තයා. ඒක තමයි මගේ අපේක්ෂාව. නිවන, නිවී සැනසී සිටීම. ඒකට පරමානන්දය කියල කිව්වත් වරදක් නෑ. එහෙත් මා තවමත් පසුවන්නෙ එහි මුවවිටේ නම්.......... නැත්නම්, මුව විටට ද ආසන්න ස්ථානයක නම්, මගෙන් සෙස්සවුන්ට කවරාකාරයකින්වත් ප්‍රයෝජනයක් නැහැ නොවේ ද?''

''ඒත් ස්වාමීන් වහන්ස, අපේ සිත් වශීකරනසුලු නිවාසනසනසුලු විශේෂත්වයක් ඔබ වහන්සේ තුළ දනවමත් පවතිනවා. ඒ දකුම පමණක් වුවත් ජනතාවට ප්‍රමාණවත්. අපිට දකින්න ලැබෙන්නෙම සිත් සසල කරවන කුපිත කරවන දර්ශනයි''

''මහත්තයා ඒ දෙස ම බලන්නේ ඇයි? බලා ඒවා සිතේ රඳවාගන්නේ ඇයි? ඉවත්වෙන්නකො. සිතේ රඳවා නොගන්නකො. දුටු බව හෝ නුදුටු බව හෝ නොසිතන්නකො........''

''අපට ආදර්ශය පිණිස, අපේ සිත් සතන් සුවපත් කරනු පිණිස කැප ව සිටින පිරිස දෙස බලා හෝ සැනසුමක් නැත්නම් ස්වාමීන් වහන්ස, කුමක් දෙස බලා සැනසෙන්න ද?''

''බුදු කුටියකට ගොස් සමාධි පිළිම වහන්සේ ඉදිරියේ පසුවෙනවා නම් මහත්තයට ඉතා යහපත් සුවදායක සිතිවිලි පහළකරගත හැකි නොවැ? මහත්තයා දකින්න කැමති හුස්ම ගන්නා – කතාබහ කරන – දෙපා නගා ඇවිදින ලෝකෝත්තර පුද්ගලයෙක් විය හැකි යි. එ වැනි උත්තමයකු සජීවත්වයෙන් දකින්න මමත් කැමති යි. ඒ සඳහා තමයි මහත්තයා මම මේ ගමන යන්නෙ''



ලේඛකයා කතා නැතිව තෙරණුවන් දෙස බලාගත්වන ම සිටියේ ය. අනතුරුව හුන් අසුනින් නැගිට දණ බිම ගසා තෙරණුවන් නමැද නැගීසිටියේ ය.

''ඇයි මහත්තයා?''

''නැහැ ස්වාමීන් වහන්ස, ඔබ වහන්සේ අසාමාන්‍ය යි. මට හිතෙනවා ඔබ වහන්සේ කිසියම් මාර්ග ඵලයක් ලබා ඇත ය කියා?''

''මම ඒ බවක් දන්නෙ නෑ මහත්තයා. මට මහත්තයට කියන්න තිබෙන්නෙ මෙ පමණයි. මම බුදුරජාණන් වහන්සේ ගේ ශ්‍රාවකයෙක්. නිරතුරුව මම ඒ බව සිතනවා. ඒ අනුව ක්‍රියාකරන්න උත්සාහ කරනවා. අන් අය කෙසේ සිතනවාද, ක්‍රියාකරනවා ද යි මම දන්නෙ නෑ. ඒ ගැන සොයන්න මම වෙහෙසෙන්නේ කුමට ද මහත්තයා? ඒ හැර, මම පණ්ඩිතයෙක් ය, මම තරුණයෙක් ය, පන්සලේ අධිපතියා වූ කල කරන්නේ මේවාය යනුවෙන් භික්ෂුවකට අනුචිත අදහස් මම වැලැඳගන්නෙ නෑ. මට හැම මොහොතක ම වාගේ හිතෙන්නෙ බුදුරජාණන් වහන්සේගෙ යහපත් ශ්‍රාවකයින් වන සාරිපුත්ත මොග්ගල්ලාන මහා කාශ්‍යප වැනි ශ්‍රාවකයින් වහන්සේලා මා හා සසඳන කල මා තවමත් කොතරම් නිවට හිස් භික්ෂුවක් ද කියායි. බෝධිසත්ව චරිතවල, සිද්ධාර්ථ චරිතයේ, බුද්ධ චරිතයේ, අතිශයෝක්ති ආටෝප බුද්ධියෙන් හඳුනාගෙන, ඒවා බැහැරකරගත්තාම අපිට බුදුරජාණන් වහන්සේ දකගත හැකි යි. ඊට පසු උන්වහන්සේ ගේ ශ්‍රී සද්ධර්මය අවබෝධකර ගැනීමටත් ඒ අනුව පැවතීමටත් පහසු යි''

''මේ ගමේ එක් පුද්ගලයෙක් මට කීවා ඔබ වහන්සේ අනාගාමී ඵලයට එළැඹ සිටිනවා කියා?''

රාහුල තෙරනුවෝ මඳහස පෑ හ. "ඒ ඇත්තට මම අනුකම්පා කරනවා. ඒ ඇත්තො එහෙම කියන්නෙ මම තවමත් උඩින් නොගිය නිසා. ඒ ඇත්තන්ට වුවමනාවන්නේ භාස්කම්. ඒ ඇත්තො මගෙන් ඒ භාස්කම් බලාපොරොත්තුවෙනවා. මට උඩින් යාමක් අවශ්‍ය නෑ, වනගතවීමට කැමැත්තකුත් නෑ"

"ඉස්සරටත් වඩා සමාජය දන් සංකීර්ණයි. ගිහි පැවිදි දෙපක්ෂයම තරහකාරී රැල්ලකට යටවෙලා. ඒ රැල්ලට හසු නොවී සිටීමට අපහසු යි. ආශාවන්ගෙ කෙළවරක් නෑ. ඒ ආශාවන් පසුපස තණ්හාව. තරහය ඇරඹෙන්නෙ එ තැන සිට. ආශාවන් පසුපස ක්‍රෝධය වෛරය ඊර්ෂ්‍යාව ආයුධකරගෙන මිනිස්සු දුවනවා. විමුක්තිය කරා නොවෙයි විනාශය කරා. ඒක නේද ස්වාමීන් වහන්ස වර්තමාන ලෝක ස්වභාවය?"

"ඔව්. මහත්තයට ඉතා හොඳ අවබෝධයක් තියෙනවා. අද පමණක් නොවෙයි මහත්තයා එදත් එහෙමයි. කෙලෙස් හැඟීම්වල පාලනයක් නැත්නම් මතුවටත් ඔය ආකාරයමයි"

"ඉතිං ස්වාමීන් වහන්ස, එවැනි ලෝකයක ජීවත්වන ඔබ වහන්සේ මේ තරහකාරි රැල්ලට හසු නොවී පසුවෙන්නේ කෙසේ ද?"

"සිත පාලනය කිරීමෙන්, සිත තේරුම් ගැනීමෙන්" රාහුල තෙරණුවෝ කී හ. "ඒ රැල්ලෙන් සම්පූර්ණ වශයෙන් මා මිදී ඇතැ යි මම හිතන්නේ නෑ. සාමාන්‍ය මනුෂ්‍යයෙකුට වඩා උස් තැනෙක මා දෙපා ගසා සිටින බව ඇත්ත. එහෙත් ඒ රැල්ලේ උණුසුම මට දනෙනවා"

සිය යහන මත හිඳගෙන ඉතා පැහැදිලිවත්, ඉතා සාවධානවත් කතාකරන තෙරණුවන් ගේ ඡායාරූපයක්



ගැනීමට කැමරා ශිල්පියාට වුවමනාකර තිබුණත්, උන්වහන්සේ එයට විරුද්ධවෙති යි සිතා මෙතෙක් නිහඬ ව සිටියත්, තෙරණුවන් ගේ ඉතා ප්‍රසන්න ඉරියව් කිහිපයක් පසු වී යනු දුක හේ නොඉවසිල්ලෙන් නැගීසිටියේ ය.

"ඔබ වහන්සේට නිසි මග පෙන්වීමට ගුරුවරයකු සිටින්න ඇත කියා මම හිතනවා?"

"ඔව්"

"ඒ ගුරු හාමුදුරුවන්ගෙ නම මට කිය හැකි ද?"

"ගෞතම බුදුරජාණන් වහන්සේ" රාහුල තෙරණුවෝ නොපැකිළ කී හ. "මගේ ගුරුවරයා මගේ මහ පෙන්වන්නා උන්වහන්සේ යි. මට අනුබලදුන්නෙ මා මහණ කළ මගේ ගුරු හාමුදුරුවෝ. මම මහණවුණු දවසෙ මගේ අතට උන්වහන්සේ එකම එක පොතක් දුන්නා. ඒ ධම්මපදය. 'රාහුලට හාමුදුරු නමක් වෙන්න ඕනෑ නම් ඔය පොත හොඳට කියෝල තේරුම් අරගෙන පිළිපැද්දම ඇති' කියල උන්වහන්සේ මට කීවා. මම හිතන්නේ ධම්මපදය තමයි මගෙ ගමන් මග එළිපෙහෙළි කෙළේ කියල. මම ථෙරවාදි පොත්පත් පමණක් නොවෙයි, මහායාන ආචාර්යවරුන් ගේ පොත්පතුත් ඒ ආචාර්යවරුන්ගෙ සත් චරිතත් වුවමනාවෙන් කියෙව්වා. "නිර්වාණයෙහි ස්වභාවය කෙබඳු ද?" "කර්මය හා පුනරුත්පත්තිය අතර සම්බන්ධතාව කෙසේ ද?" "දිව්‍ය ලෝක අපාය ලෝක කොහි පවතින්නේද?" "තපස්සු භල්ලුක යනු කවරහුද?" "බුදු රජාණන් වහන්සේට ප්‍රථම දනය පිළිගැන්වූ උපාසක තැන ගේ නම කුමක් ද? ඔහු පැමිණියේ කවර දේශයේ සිට ද?" ඔය වාගේ ප්‍රශ්න ගැන මම වෙහෙසුනේ නෑ. හිත කය වචනය හික්මවන්නේ කෙසේ ද යන්නයි මට වැදගත්වුණේ. එහෙත් මට තවමත් හිත කය වචනය

නිසියාකාරව පාලනය කරගන්න බැරිවුණා, මේ තුන් දෙර නිසියාකාරව පාලනය කරගත නුහුණු භික්ෂුවක් ගැන කුමක් කියන්න ද මහත්තයා?”

*          *          *

සෝමාරාම ස්ථවිරයන්ට ඉරිදා පත්‍රය කියවන්ට දෙපැයක තරම් කාලයක් ගතවෙයි. තමන්ට කලින් කිසිවකු පත්‍රය කියවනු දකින්න උන්වහනසේ කැමති නැත. විපෝව උඩින් පත්‍රය අතට ගන්නා ස්ථවිරයෝ එය කිහිලි ගන්නාගෙන බුලත් විටක් කටේ දමාගෙන හාන්සි පුටුවේ ඇලවෙති. පත්‍රකාරයා පිටු සකස් කර ඇති ආකාරයට ම එහි මුල සිට අග දක්වා කියවති. නොකියවන්නේත් නොබලන්නේත් වෙළෙඳ දැන්වීම් කෙටි කතා හා චිත්‍ර කතා පමණි. දේශපාලන ලිපි ඇත්නම් ඒවාත් බැණ බැණ කියවති.

පළමුවැනි හා දෙ වැනි පිටු බලන්නට පැය කාලක් පමණ ගතවි ය. තෙ වැනි පිටුවේ වෙළෙඳ දැන්වීම් දෙකක් හැරෙන්නට මුලු පිටුව පුරාම “බුද්ධ පුත්‍ර රාහුල තෙරණුවෝ” නමින් විශේෂ ලිපියක් එහි පළ ව තිබිණි. භික්ෂුවකගේ විශාල පින්තූර දෙකක් ම එහි පළ වී තිබුණත් උන්වහන්සේ කැමරාවට මුහුණ දී නැත. එකක් පැත්තකට හැරී තවෙකකු සමඟ කතාබහේ යෙදීසිටින දර්ශනයකි. අනෙක, ජනෙල් කවුළුවෙන් ඉවත බලා සිටින්නකි. ලිපිය ලියැවී ඇත්තේ තම ජ්‍යෙෂ්ඨ ශිෂ්‍ය රාහුල ගැන බවත්, ඡායාරූප දෙකින් ම දක්වෙන්නේ උන්වහන්සේ බවත් ලිපිය කියවන්නට පටන්ගෙන නොබෝ වේලාවකින් තේරුම්ගත්



සෝමාරාම ස්ථවිරයෝ උපැස් යුවළ ගලවා අතටගෙන වටපිට බැලූ හ. උන්වහන්සේට මහත් සතුටක් ද උද්දාමයක් ද ඇති ව තිබිණි. රාහුල පසුවන්නේ දහම් පාසලේ බව කල්පනා වූ ස්ථවිරයෝ උපැස් යුවළ යළි පැළඳගෙන ලිපිය මුල සිට අගට කියවන්නට වූ හ. ලිපියේ දෙ තැනක ලේඛකයා මේ සේ කියා තිබුණේ ය.

“බෞද්ධ භික්ෂූන් අතර, මහ පඬුවන් ශාස්ත්‍ර විශාරදයින් ධර්ම කථිකයින් වියත් ලේඛකයින් මම දැක ඇත්තෙමි. එහෙත් උන්වහන්සේලා ගේ භාෂිතය හා පැවතුම අතර මහත් වෙනසක් වූ හෙයින් උන්වහන්සේ කෙරෙහි ආදරයක් මිස භක්තියක් මා තුළ පහළ නොවී ය. යථාවාදී තථාකාරී බුදු රජාණන් වහන්සේ ගත් මග ගනිමින්, උන්වහන්සේ ගේ ශ්‍රී සද්ධර්මය තමන්ගේ විමුක්තියත් පැවැත්මත් සඳහා උපයෝගී කොටගනිමින් ගොඩ නගා ගත් සත් චරිතයේ ගුණ සුවඳ තුළින් තරුණ රාහුල තෙරණුවෝ ත්‍රිවිධ රත්නයේ ම ගුණ සුවඳ පතුරති”

“තමන් බුදු දහමේත් බුදු හිමියන්ගේත් උණුසුම පමණක් ලද, මාර්ගඵලාවබෝධයක් නොලද කෙලෙසුන් ප්‍රහීන නොකළ ග්‍රාමක භික්ෂුවකැ යි උන්වහන්සේ අපට කීහ. එහෙත් බුදුදහම පරතෙරට දත්තෙමු යි කියන විශාරදයින් ළඟ මෙ වැනි සැපදායක සුවදායක උණුසුමක් මට නොදැනිණි. රාහුල තෙරණුවන් තුළ මහත් බලාපොරොත්තු නැත. සිත කය වචනය හික්මවා නිරාමිෂ ප්‍රීතියක් භුක්තිවිඳින අතර ම, සෙස්සවුන්ගේ හිත සුව පිණිස ද පැවතීම තමන් ගේ අභිප්‍රායය වී ඇතැ යි එතුමෝ කියති. බෞද්ධ භික්ෂුවකගෙන් ගිහියන් වන අප ප්‍රථමකොට ම බලාපොරොත්තුවන්නේ එය ම බව මම රාහුල තෙරණුවන් ඉදිරියේ ප්‍රකාශකර සිටියෙමි”

සෝමාරාම ස්ථවිරයෝ ලිපිය සම්පූර්ණයෙන්ම කියවා බලා උද්දමයට පත් සිත ඇතිව නැගීසිටිය හ. උන්වහන්සේට වුවමනාවූයේ පත්‍රය වහාම රාහුල තෙරණුවන් අතට පත්කිරීමට ය. සිඤ්ඤප්පු අසලක නොවී ය.

උපැස් යුවළ වමතේ ද, පත්‍රය දකුණතේ ද තබාගෙන බණ මඩුව දෙසට වඩනා නායක සථවිරයන් වහන්සේ, මහ මාවතේ පිට පන්සල් වත්තට කාරයක් හරවනවා දක නතරවූ හ. සුදු කමිසයක් හා සුදු සරමක් හැඳගත් පුද්ගලයෙක් කාරයෙන් බැස දරු දෙදෙනෙකු දැතින් අල්ලාගෙන ඉදිරියට පැමිණෙයි. ඒ හේමපාල මහතා බව ස්ථවිරයෝ හඳුනාගත් හ.

සෝමාරාම ස්ථවිරයන්ගේ පරම දේශපාලන විරුද්ධවාදියා හේමපාල මහතා ය. මේ විරෝධය නිසා හේමපාල මහතා ගේ ගෙදරින් පන්සලට දනය නොලැබෙයි.

හේමපාල මහතා නායක ස්ථවිරයින්ට දණ නවා වඳිනු දුටු නන්දරාම තෙරණුවෝ මවිතයට පත්වූ හ.

"මහත්තයා හුඟ කාලෙකට පස්සෙයි දක්කෙ" තමන්ට වැඳ නමස්කාරය කොට නැගීසිටි හේමපාල මහතාට නායක ස්ථවිරයෝ කීහ.

"එහෙමයි. මං ආවෙ හාමුදුරුවනේ මගෙ දරුවො දෙන්නා රාහුල හාමුදුරුවන්ගෙ දහම් පාසැලට ඇතුළත් කරන්න. දරුවන්ට දනුම පමණක් දීල මදි, හොඳ නරක යුතු අයුතුකම් තේරුම් ගන්න, ගුණයහපත්කම් වගාකර ගන්න ආගමික අධ්‍යාපනයකුත් අවශ්‍ය ය කියල මට තේරුම් ගියා. රාහුල හාමුදුරුවො අපේ ගෙදරට දෙවරක් ගියා මේ කාරණය ගැන"

"රාහුල ගැන මේ පත්‍රයේ ලිපියකුත් ලියවිලා තියෙනවා"



"මමත් ඔය ලිපිය සම්පූර්ණයෙන් කියෙව්වා"

"මාත් කියෙව්වෙ දනුයි. ඒ උන්නාන්සෙ නාම ලිපිය දක්කෙ නෑ. දන්නෙත් නෑ. මං මේ නැගිටලා ආවෙ රාහුලට පත්තරේ දීල යන්න. මං දුන්නාය කියල මහත්තයාම ගොහිං දෙන්නකො පත්තරේ ඒ උන්නාන්සේට"

"ඔය ලිපිය ලීවේ මගෙ හොඳ යාළුවෙක් හාමුදුරුවනේ. එයා මගෙන් අහුවා රාහුල හාමුදුරුවො ගැන විස්තර. ඔය පත්තරේ ලියල තිබෙන ගුරු පත්වීම් ගැන සිද්ධිය මගෙන් අහලයි ලියාගත්තෙ. රාහුල හාමුදුරුවො ඒ ගැන වචනයක්වත් කියල තිබුණෙ නෑ"

හේමපාල මහතා පුදුම මිනිසෙකැ යි සෝමාරාම ස්ථවිරයෝ සිතූ හ. රටේ උගත් වැදගත් හා ප්‍රසිද්ධ පුද්ගලයින් හැමදෙනාම තමා දන්නා හඳුනන බව හා ඔවුන්ට බලපෑම් කිරීමේ ශක්තියක් තමා සතු ව ඇතැයි ඔප්පුකර පෙන්වීමට මහුට හැකියාව ඇත්තේ ය.

* * *

හේමපාල මහතා ගේ දරු දෙදෙනා හිඳගත්තේත් හරහට බිම එළනලද පැදුරුමත ය. ලොකු පිරිමි ළමයා රාහුල තෙරණුවන් ගේ පන්තියේත්, ගැහැනු ළමයා නන්දරාම තෙරණුවන් ගේ පන්තියේත්, හිඳගත් හ. දනපතියකු ගේ අනුග්‍රහය ඇති ව මෙපන් ඇතුළත ළමයින්ට හිඳගැනීම සඳහා බංකු හෝ පුටු හෝ සපයා දෙමැ යි හේමපාල මහතා සිතාගත්තේ ය.

හේමපාල මහතා පත්‍ර පිටුව පෙරළා දෝතින් ම පත්‍රය

තෙරණුවන්ට පිරිනමා උන්වහන්සේ ගේ මුහුණින් පළවන හැඟීම් කවරාකාර දැයි සුපරීක්ෂාකාරී ව බලාසිටියේ ය. රාහුල තෙරණුවන් ගේ මුහුණින් පළවූයේ විමතියක් පමණි. උද්දම වූ බවක් පළ නොවී ය.

"මේ ලේඛක මහත්තයාට මං කිව්වෙ මා ගැන ලියන්න එපා ය කියල මහත්තයා. ඒත් ලියලා. හේමපාල මහත්තයා ලිපිය කියවන්න ඇති නොවැ? මෙච්චර තීරු ගණනක් වැයකරල මා ගැන ලියන්න දෙයක් තියෙනවද?"

"තියෙනවා හාමුදුරුවනේ. මෙයා ලියලා තියෙන්නෙ බොහොම ටිකයි, ඔබ වහන්සේ ගැන පොතක් ලියන්න කරුණු තිබෙනවා කියලා මම ඒ ලේඛක මහත්තයට කිව්වා"

රාහුල තෙරණුවෝ හේමපාල මහතා දෙස විමතියෙන් බලා කරබාගත් හ.

"ලිපිය කියෝල ලොකු හාමුදුරුවෝ ඉන්නෙ බොහොම සන්තෝෂයෙන්, බොහොම ආඩම්බරයෙන්. අපටත් ඔබ වහන්සේ ආඩම්බරයක්"

"මේ ලිපියට වඩා මම අද සතුටුවන්නෙ හේමපාල මහත්තයා ළමයින් දෙන්නා දහම් පාසැලට එවීම ගැන යි. ඒක ගමේ අනික් දෙමව්පියන්ටත් ආදර්ශයක් වේවි"

හේමපාල මහතා බණ මඩුවෙන් ඉවත් ව ආවාස ගේ දෙසට ගමන්කොට රාහුල තෙරණුවන් ගේ පිච්ච පඳුර දැක එ තැන නැවතුනේ ය. මේ පිච්ච පඳුර ගැනත් ලිපියේ සඳහන් ව තිබිණි. ඉම්හිරි පිච්ච මල් සුවඳ නිසා හේමපාල මහතා තව දුරටත් ප්‍රබෝධයට පත්වී ය. හේ මල් කිණිත්තක් ඔසවා ඉඹ බැලුවේ ය. ගෙදර ගෙනගොස් සිටුවා ගැනීමට මහුට පිච්ච පැළයක්



වුවමනාවී ය. තමා දෙසට වඩනා නායක ස්ථවිරයන් දුටු හේ කටපුරා සිනාසුණේ ය.

"මම මේ පිච්ච පඳුර දිහා බැලුවා හාමුදුරුවනේ........ බොහොම කාලෙකට පස්සෙ පිච්ච පඳුරක් දැක්කෙ අදයි. අපේ තෝරනා අපේ ගෙදර මිදුලෙ වවල තියෙන්නෙ පතොක් ඇන්තූරියම් ක්‍රෝටන් වර්ග. පිච්ච පඳුරට කොච්චර වයස ද හාමුදුරුවනේ?"

"මට අද වගෙ මතකයි මහත්තයා. අපේ රාහුල මහණ කළ දවසෙ අපවත් වෙච්ච ධම්මාරාම ලොකු හාමුදුරුවන් වහන්සෙ තමා ඔතන පුංචි පිච්ච පැළය හිටෙව්වෙ. හිටෝලා අපේ රාහුලට භාරකළා සාත්තු සාප්පායම් කරන්න, බොහොම ආසාවෙන් බොහොම ගරුත්වයෙන් ඒ ඇත්තො ඔය පිච්ච පඳුර රැකබලාගත්තා. ලොකු හාමුදුරුවන් වහන්සේගේ පිච්ච පඳුර උන්වහන්සේ අපවත්වෙලා වැඩි කාලයක් යන්න මත්තෙන් මැරිලගියා. මට මතකයි ඒ කාලෙ මේ පන්සලේ පමණක් නොවෙයි, ගමේ හැම වැදගත් ගෙදරකමත් පිච්ච පඳුරු තිබුණා. පිච්ච මල් මිනිසුන්ගෙන් ඈත්වුණත් හරි, මිනිස්සු පිරිහුනත් හරි. නැද්ද මහත්තයා? ටිකෙන් ටික දැනුයි අපිටත් ඕවා මතක්වෙගෙන එන්නෙ"

"එහෙමයි" හේමපාල මහතා නායක ස්ථවිරයන්ගේ කතාව අනුමත කෙළේ ය.

"මටත් ආසාවක් උපන්නා හාමුදුරුවනේ මේ පිච්ච පඳුරෙන් පැළයක් ගෙදර වවාගන්න"

"බොහොම හොඳයි. මහත්තයගෙ ගෙදර බොහොම ගරු නම්බුකාරව පිච්ච වැලක් වවාගෙන තියෙනවා දක්කාම අනික්

උදවියටත් ඕනෑවෙයි ඒ ඇත්තන්ගෙ ගෙවල්වලත් හදවඩාගන්න. මේ වගෙ ගුණ සුවඳ තියෙන පැළෑටි ගමේ රටේ ලෝකෙ පැතිරිලා යන්න ඕනෑ මහත්තයා. මහත්තයාට ඒක්ෂණයෙන් පිච්ච පැළයක් දෙන්න බැරිවෙයි. ඉස්සෙල්ලාම වැල් පොටක් පාත්කරල පස්වලින් යටකරල බරක් තියන්න ඕනෑ. පොත්ත පොඩ්ඩක් ඇරියොත් හොඳයි. මාස දෙක තුනක් යනකොට මුල් අල්ලනවා. පැළය මුලින් කපල පස් ටිකක් එක්ක වෙන් කරගෙන පෝච්චියක හරි බිම සුදුසු තැනක හරි හිටෝන එකයි තියෙන්නෙ. වල් පැළෑටි ඉබේ පැළ වෙනවා. සාත්තුවක් ඕනෑකරන්නෙ නෑ. හොඳ පැළෑටියක් වවා ගන්න සාත්තුකරලත් බොහොම අමාරුයි මහත්තයා"

"එහෙමයි"

"තව මාස දෙක තුනකින් ආයිත් එන්නවේචි මහත්තයාට පැළේ අරංයන්න"

හේමපාල මහතා පිච්ච පඳුර ළඟ පහත්වී ය. නායක ස්ථවිරයන්ගේ උපදෙස් පරිදි ඔහු කෝටු කැබැල්ලක ආධාරයෙන් පස් බුරුලකොට, පහතින් වූ වැලක් වෙන්කොට එහි පොළවට යටවන කොටස නියපොත්තෙන් මඳක් සූරා පසට යටකරමින් කතාකෙළේ ය.

"දරු දෙන්නත් අරගෙන හැම ඉරිදවක ම පන්සලට එන්නයි නායක හාමුදුරුවනේ මගෙ අදහස. ඔබ වහන්සේලාගේ සහයෝගයෙන් මටත් ගමේ අනික් උදවියටත් පුලුවන් වේවි ගමටත් පන්සලටත් බොහොම දේවල් කරන්න"

ප්‍රතිවාදීන් දෙදෙනා ලංවී සුහද සාකච්ඡාවක පසුවනු දුටු සිංඤප්පු මවිත ව බලාසිට සිනා මුහුණින් සමීපයට පැමිණියේ ය.



"සිංඤප්පු ගඩොල් කැටයක් හොයාගෙන ආවනම්........."

විනාඩියක් ගතවීමට පෙර ගඩොල් කැටයක් ගෙනවුත් පිච්ච පැළය උඩින් තැබූ සිංඤප්පු දැත් පිසදමමින් නැගීසිට හේමපාල මහතා ගේ මුහුණ බලාගෙන කතාකෙළේ ය.

"පැළේ පැලවෙන්න නම් පොළවට යටකළාට ම මදි මහත්තයා......... වතුර දන්න වේචි. මං ඕන්නම් වතුර දන්නම්?"

සෝමාරාම ස්ථවිරයන්ගෙන් සිංඤප්පුට උත්තරය ලැබිණි. "රාහුල හාමුදුරුවොම වතුර දන්නෙ නැතැ යි සිංඤප්පු".

("අරලියමල් ආරාමය" හා සම්බන්ධයි.)



# පිච්චමල

## ජයසේන ජයකොඩි

"මම බුදුරජාණන් වහන්සේගෙ ශ්‍රාවකයෙක්. නිරතුරුවම මම ඒ බව සිතනවා. ඒ අනුව ක්‍රියා කරන්න උත්සාහ කරනවා. අන් අය කෙසේ සිතනවා ද, ක්‍රියා කරනවාදැ යි මම දන්නෙ නෑ. ඒ ගැන සොයන්න වෙහෙසෙන්නෙ කුමකට ද මහත්තයා? ඒ හැර, මං පණ්ඩිතයෙක් ය, තරුණයෙක් ය, සැලකිය යුතු ධනයක් ඇති පන්සලක දෙවැන්නා ය, පන්සලේ අධිපතියා වූ කල කරන්නේ මේවා ය යනුවෙන් භික්ෂුවකට අනුචිත අදහස් මම වැළඳ ගන්නේ නෑ. මට හැම මොහොතක ම වාගේ සිතෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ යහපත් ශ්‍රාවකයින් වන සාරිපුත්ත මොග්ගල්ලාන මහා කාශ්‍යප වැනි ශ්‍රාවකයින් වහන්සේලා මා හා සසඳන කල, මා කොතරම් නිවට හිස් භික්ෂුවක් ද කියායි. බෝධිසත්ව චරිතවල සිද්ධාර්ථ චරිතයේ බුද්ධ චරිතයේ අතිශයෝක්ති ආටෝප බුද්ධියෙන් හඳුනාගෙන, ඒවා බැහැර කර ගත්තාම අපිට බුදුරජාණන් වහන්සේ දැකගත හැකියි. ඊට පසු උන්වහන්සේ ගේ ශ්‍රී සද්ධර්මය අවබෝධකර ගැනීමටත් ඒ අනුව පැවතීමටත් පහසුයි."

- රාහුල තෙරණුවෝ



දයාවංශ ජයකොඩි සහ සමාගම